ශ්‍රීමත් ඩී. බී. ජයතිලක විද්වතාණන් ගේ

# කතිකාවත් සඟරා

නම්වූ

## සංඝ සම්මත ව්‍යවස්ථා



ශ්‍රීමත් ඩී. බී. ජයතිලක විද්වතාණන් ගේ කතිකාවත් සඟරා නම්වූ සංඝ සම්මත ව්‍යවස්ථා

ISBN : 955-20-4108-2

මිල රු : 175/=



එස්. ගොඩගේ සහ සහෝදරයෝ
ගොඩගේ පොත් මැදුර,
661, පී. ද. එස්. කුලරත්න මාවත,
කොළඹ 10
දුරකතන - 074-614904, ෆැක්ස් - 01-674187

ශ්‍රීමත් ඩී.බී.ජයතිලක විද්වතාණන්ගේ

# කතිකාවත් සඟරා

නම් වූ

සංඝ සම්මත ව්‍යවස්ථා



ප්‍රකාශනය.
එස්. ගොඩගේ සහ සහෝදරයෝ
"ගොඩගේ පොත් මැදුර"
661, මරදාන පාර

මුද්‍රණය 2002

ISBN - 955 - 20 - 4108 – 2

පරිගණක අක්ෂර සංයෝජනය
"පවන" පබ්ලිකේෂන්ස්
අංක 57, පළමු මහල
සුපර්මාකට්, බොරැල්ල.

මුද්‍රණය
චතුර මුද්‍රණාලය
142, අවිස්සාවේල්ල පාර
වැල්ලම්පිටිය.

# කතිකාවත් සඟරා නව ප්‍රකාශනය

අපේ පැරණි පොත් කාලයාගේ ඇවෑමෙන් ජාතියෙන් සමුගන්නා තැනට පත් වූ විට, ඇස්.ගොඩගේ සහ සහෝදරයෝ ඒ සම්භාව්‍ය ගණයේ පොත් යළි ප්‍රකාශයට පත්කරන ව්‍යාපෘතියක් ක්‍රියාත්මක කර ඇත්තේ විද්‍යාර්ථීන්ගේ ප්‍රයෝජනයත් ශාස්ත්‍රීය සංග්‍රහයත් සඳහා ය. නව ප්‍රකාශනයන් ලෙස එළි දැක්වෙන පොත්වල අයිතිය ජාතිය සතු කැරෙන අතර සෙසු පොත්වලට වඩා මිලෙන් ද සහනයක් සැලැස්වීම දේශබන්ධු සිරිසුමන ගොඩගේ මැතිඳුන්ගේ ජාතික මෙහෙවරකි.

ජයතිලක ශ්‍රීමතාණන් විසින් සම්පාදිත "කතිකාවත් සඟරා" කෘතියේ කිසිදු වෙනසක් නොකෙළේ එතුමන්ට ද ගෞරවයක් ඇතිවනු පිණිස යි. ඒ කතිකාවත් අතරට,1963 ඔක්තෝම්බර් මසත් 1964 ජනවාරි මසත් "රසවාහිණී" සඟරාවේ පළ වූ "සංඝරාජ කතිකාවත මීට එකතු කැරුණේ ඌණ පූර්ණයක් සඳහා ය. එහි සමහර තැන්හි යෙදෙන ග්‍රාම්‍ය භාෂාව ඒ ලෙසින් ම යෙදෙන අතර වරහන් තුළත් අධෝ තීරුවලත් සමහර වදන් නිවැරදිව යෙදීමට අරුත් දැක්වීමට දිරිගතිමි. මේ කතිකාවත්වලින්,සිංහල භාෂා ව්‍යවහාරය පිළිබඳ තොරතුරු හදාරන්නවුන්ටත් එදා සිට සංඝ සමාජයේ පැවැත්ම සඳහා විනය පිටකය ඇසුරෙන් සම්පාදනය වූ චාරිත්‍ර, වාරිත්‍ර ආදිය හැදින ගන්නට උත්සාහ දරන්නවුනටත් පිටුවහලක් ලැබේ. අතීතයේ සිට අසරණ සරණ සරණංකර මාහිමි අවදිය දක්වා "සංඝ සම්මත කතිකාවත්"මෙම සංග්‍රහයට ඇතුළත් වේ. මේ කෘතිය නව ප්‍රකාශනයක් ලෙස එළි දැක් වූ එස්. ගොඩගේ සහ සහෝදර සමාගමට ජාතියේ ප්‍රශංසාව හිමි විය යුත්තේ ය.

මේ
මා මෛත්‍රීපාල

2000 මාර්තු මස 30 දා
රත්නපුරේ ගෝණකුඹුරේ
සුදසුනේ දී ය.

නව ප්‍රකාශනයක් වූ

මෙම කෘතියේ අයිතිය.

ශාස්ත්‍රාචාර්ය, අධිනීතිඥ ශ්‍රීමත් ඩී.බී.ජයතිලක මැතිඳුන් විසින් සම්පාදිත "කතිකාවත් සඟරා" නම් කෘතියට සංඝරාජ කතිකාවත ද සම්බන්ධ කොට නව ප්‍රකාශනයක් ලෙස අප විසින් ප්‍රකාශයට පත් කරනු ලබන මෙම මා හැඟි කතිකාවත් සංග්‍රහය ජාතිය සතු කරන්නේ භක්ත්‍යාදරයෙනි.

-ප්‍රකාශකයෝ-

මෙහි
සංඝරාජ කතිකාවත
ශාස්ත්‍ර විශාරද
මා. මෛත්‍රීපාල විසින්
සැපයිණි.

# පටුන

## අ- විඥාපනය

ශ්‍රී සම්බුද්ධ පරිනිර්වාණයෙන් **236** වැන්නෙහි මිහිඳු මාහිමියන් ලක්දිවට වැඩමවා දෙවානම්පියතිස්ස මහරජතුමන් ප්‍රධාන සිහල දේශවාසීන් රත්නත්‍රයෙහි පහදවා මේ ද්වීපයෙහි ශාසනය පිහිට වූ පරිදි මහාවංශාදී ඉතිහාස ග්‍රන්ථයන්හි විස්තර ලෙස දක්වන ලදී. එවක් පටන් සිංහල රාජ්‍යයේ අවසානය දක්වා ගතවූ අවුරුදු දෙදහසක් පමණ කාලය තුළ ලංකා රාජ්‍ය ශ්‍රී පද ප්‍රාප්ත ශ්‍රද්ධාබුද්ධි සම්පන්න සිංහල මහ රජවරු සම්බුද්ධ ශාසනයාගේ සංරක්ෂණය වර්ධනය ස්වකීය රාජ පදවියට අයත් විශිෂ්ට කෘත්‍යයක් කොට සැලකූහ. එසේ හෙයින් ඒ මේ වර්ෂ ද්විසහස්‍රයෙන් වැඩි කාලයක් තුළ සම්බුද්ධසමය හා තදනුකූල භාෂා ශාස්ත්‍රෝදියත් මේ ද්වීපයෙහි බැබළීමෙන් පැවතුණේ ය. යම් කලෙක පරසතුරු වියවුලින් හෝ අලජ්ජිබලය උත්සන්නවීමෙන් හෝ පිරිසිදුවූ ථෙරවාදයෙන් බාහිර වූ වෛතුල්‍යවාදාදී දුර්ලබ්ධි සම්මිශ්‍රණයෙන් හෝ ශාසනය පසුබසින්නට වූයේ නම් තත්තත්කාල ශාසනානුශාසක මහා ස්ථවිරවරයෝ ශ්‍රද්ධාවත් රාජරාජ මහාමාත්‍යාදීන්ගේ සහායත්වයෙන් ඒ පිරිහීම් වළක්වා දුෂ්ප්‍රතිපත්ති පහකොට ධර්මය හා විනය යථාස්ථානයට පමුණුවා ශාසනය ප්‍රකෘතිමත් කොට වර්ධනය කළහ. එබඳු ශාසන ශුද්ධියක් ඇති වූ බොහෝ වාරවල මතු කාලයෙහි ප්‍රමාද විහාරීන්ට අවකාශ නොලබනු සඳහා මහා සංඝයා වහන්සේ විසින් කාලානුරූප ධර්ම විනයානුකූල ව්‍යවස්ථා ද පනවන ලදී. එසේ සංඝ සම්මත වූ ව්‍යවස්ථා **කතිකාවත්** යන නාමයෙන් ව්‍යවහාර ප්‍රාප්ත විය.

පොළොන්නරුවේ මහා පරාක්‍රමබාහු මහ රජතුමාගේ කාලය පටන් සිංහල රාජ්‍යයේ පිරිහීම දක්වා මෙ දැතුරෙහි ව්‍යවස්ථිත ප්‍රධාන කතිකාවත් කීපය මේ පොතට ඇතුළත් කෙළෙමු. මේ කාලසීමාවට පූර්වයෙහිත් නොයෙක් වර කතිකාවත් කළබැව් නිසැක නමුදු ඒ පෞරාණික කතිකාවත් සියල්ලම කාලාන්තරයෙන් අපවත් වූවාක් මෙන් හැඟේ. "වොහාරතිස්ස" කතිකාවත යයි කියනු ලබන ලිපියක පිටපත් තුනක් අපට ලැබුණු නමුත් එහි භාෂාරීතිය ව්‍යවහාර තිස්ස රජතුමාගේ කාලයට නොගැළපෙන හෙයිනුත් ඒ ලියවිල්ලේ

ඇතැම් පාඨකැබලි නිශ්ශංකමල්ල රජතුමාගේ ශිලාලේඛන වලින් උපුටා ගන්නාලද බැව් පෙනෙන හෙයිනුත් එය මෙහි අන්තර්ගත නොකළෙමු.

ශ්‍රී බුද්ධවර්‍ෂ 1707 පමණෙහිදී ලංකා රාජ්‍යශ්‍රීයට පැමිණි ශෞර්‍ය්‍ය වීර්‍ය්‍ය බලවික්‍රමාන්විත මහාපරාක්‍රමබාහු මහරජාණෝ අසදෘශ ප්‍රතාප මහිමයෙන් මුළු ලක්දිව එකසේසත් නංවා චොළපාණ්ඩ්‍ය රාමඤ්ඤාදි පරදේශයෙහි ද යුද්ධ ජයග්‍රහණයෙන් ස්වකීය අණසක පතුරුවා පසුකාලයෙහි ශාසනාභිවෘද්ධිය සඳහා උත්සාහ වඩනුවෝ අවුරුදු දහසකටත් වැඩි කාලයක් භින්නව තිබූ තුන් නිකාය සමගි කරවා එක් නිකායක් කොට දුශ්ශීල ශ්‍රමණ ප්‍රතිරූපකයන් ශාසනයෙන් බැහැර කරවා විශේෂ ශාසන ශුද්ධියක් කරවූහ. ඒ ශාසන කෘත්‍යයට ප්‍රමුඛ වූ දිඹුලාගල මහා කාශ්‍යප මහා ස්ථවිරයන් වහන්සේ ප්‍රධාන මහා සංඝ සභාව විසින් ඒ පරාක්‍රමබාහු මහරජතුමන්ගේ ආරාධනාවෙන්ම පශ්චිම ජනතාවගේ ප්‍රයෝජනය සඳහා කරන ලද මාහැඟි කතිකාවත රජතුමා විසින් පොළොන්නරු පුරයෙහි අභිනව කරවන ලද මෙකල ගල්විහාරය යන නාමයෙන් ප්‍රසිද්ධ මහාවිහාර භූමියෙහි පිහිටි ගලක කොටවන ලදී. ඒ ශිලාලේඛනයෙහි පිටපතක් මීට අවුරුදු ගණනකට පෙර ආචාර්ය ඇඩ්වර්ඩ් මුලර් මහතා විසින් සම්පාදිත "ලංකාවේ පුරාණ ශිලාලේඛන" නම් ග්‍රන්ථයෙහි පළකරවන ලදී. ඒ ලිපිය බෙහෝ සෙයින් වරදින් ගහනව තුබූයෙන් යථාශක්තීන් සංශෝධනය කොට මෙහි මුලට යෙදීමු.

පරාක්‍රමබාහු මහරජතුමාගේ ඇවෑමෙන් රජපැමිණි බුද්ධ ධර්මයෙහි හා නානා භාෂා ශාස්ත්‍රාදියෙහි ප්‍රවීණ බුද්ධිමත් පණ්ඩිත විජයබාහු රජතුමා වර්ෂයක් දැහැමෙන් සෙමින් රාජ්‍ය පාලනය කළපසු ද්‍රෝහී අමාත්‍යයකු විසින් ජීවිතක්‍ෂයට පමුණුවන ලදින් රට නැවතත් වියවුල් විය. ඉක්බිති රාජ්‍යශ්‍රීයට පැමිණි කීර්තිනිශ්ශංක මල්ල රජතුමා නව වර්ෂයක් රාජ්‍යය කෙරෙමින් විවිධ ශාසන සංග්‍රහ කෙළේය. "ශාසන රක්‍ෂාව ලක්දිව රජුන් අයැති" යැයි සැලකූ මේ රජතුමා විසින් ඒ සඳහා කරන ලද නියෝග පංක්තියක් පොළොන්නරු නුවර "හැටදාගේ" නම් විහාරයෙහි ගල් පුවරුවක කොටවන ලදී. ඒ ශිලාලේඛනයෙන් වැඩිකොටසක අකුරු මැකී

ගොස් තිබේ. ශෙෂය මෙහි පරිශිෂ්ට සංග්‍රහයෙහි බහාලීමු.

නිශ්ශංකමල්ල රජතුමාගෙන් පසු දසදොළොස් අවුරුද්දක් මුළුල්ලෙහි රාජ්‍යය සඳහා අධිපතීන් අතර ඇතිවූ අභ්‍යන්තර යුද්ධ කෝලාහලයෙන් සිංහල දේශය අතිශයින් දුර්වලව පවත්නා කල කාලිංග දේශයෙන් පැමිණි මාඝ නම් දුෂ්ට රජෙක් මුළු රටම අත්පත් කොටගෙන කෲර වධබන්ධනාදියෙන් මහජනයා පෙළා ඔවුනගේ ධන සම්පත් පැහැර ගෙන විහාරාරාම නසා දහස් ගණන් පොත්පත් භස්ම කර දමා ලෝකයත් ශාස්ත්‍රයත් ශාසනයත් එවකට පිරිහීමට පත් කළේය. ලංකාවාසීන් මේ ද්‍රවිඩ ව්‍යසනයෙන් විසිඅවුරුද්දක් පමණ කාලයක් මෙසේ දරුණු ලෙස පීඩිත වන කල්හි ශ්‍රී සංඝබෝධි පරම්පරානුයාත **වත්හිමි විජයබාහු** නම් කුමාරයෙක් මායා රට ස්ව වංශයට ගෙන සිංහල රාජබලය නැවතත් පිහිටුවා ශාසනයත් ශාස්ත්‍රයත් ප්‍රකෘත්මත් කරනු සඳහා අපමණ වීර්‍යයෙන් උත්සාහ කෙළේය. එකල පොළොන්නරු පුර ජේතවනාරාමාධිවාසී ශ්‍රී ශාරිපුත්‍ර මහාස්වාමිපාදයන්ගේ ශිෂ්‍යවූ සංඝරක්ෂිත මහාස්වාමිපාදයන් ප්‍රමුඛ මහා සංඝයා වහන්සේ විසින් ශාසනරක්ෂාව සඳහා අමුතු කතිකාවතක් කරන ලදී.

යථොක්ත විජයබාහු රජතුමාගේ අතිජාත පුත්‍ර වූ **කලිකාල සාහිත්‍ය සර්වඥ පණ්ඩිත පරාක්‍රමබාහු** යන නාමයෙන් ප්‍රසිද්ධවූ මහා පැනවත් මහරජතුමා පියරජුගේ ඇවෑමෙන් ශ්‍රී බුද්ධ වර්ෂ 1779 දී ජම්බුද්‍රෝණි පුරවරයෙහි රාජශ්‍රීයට පැමිණ පොළොන්නරුව ආදී නොයෙක් තන්හි කඳවුරු බැඳසිටි දෙමළුන් නෙරපාහැර මුළු ලක්දිවම පරසතුරු වියවුලින් මුදවා ශාස්ත්‍රාගමාභිවෘද්ධිය සඳහා වුවමනා සියලුම කටයුතු අනූනවම සම්පාදනය කෙරෙමින් අප්‍රමාණ තේජසින් හා අසහාය පාණ්ඩිත්‍ය කීර්තියෙන් විරාජමානව පන්තිස් හවුරුද්දක් රාජ්‍යානුශාසනා කෙළේය. ඒ මහරජතුමාගේ ආරාධනාවෙන් යථොක්ත සංඝරක්ෂිත මහාස්වාමීපාදයන්ගේ ඇවෑමෙන් සංඝරාජ පදවියට පැමිණි ආරණ්‍යක මෙධංකර මහාස්වාමිපාදයන් ප්‍රමුඛ සංඝ සභාව විසින් භික්ෂූන්ගේ පැවතීම් පිළිබඳ ධර්මවිනයානුකූල සම්පූර්ණ ව්‍යවස්ථා පංක්තියක් සම්පාදනය කරන ලද්දේය. **"දඹදෙණිකතිකාවත"** යන නාමයෙන් ප්‍රසිද්ධ මේ විශිෂ්ට කතිකාවත මෙහි දෙවැනි අංකයෙන් දැක්වීමු.

පණ්ඩිත පරාක්‍රමබාහු මහරජාණන්ගේ ඇවෑමෙන් ඔහුගේ ජ්‍යෙෂ්ඨ පුත්‍ර වූ එකොළොස් හවුරුද්දක් පමණ කාලයක් යුවරාජ පදවිය උසුලමින් පියරජතුමන්ගේ අදහස් පරිද්දෙන් ලෝක ශාසනාභිවෘද්ධිය කැරවූ **බෝසත් විජයබාහු** නම් පින්වත් පැනවත් රජතුමා සිංහාසනාරූඪව දෙවසක් පමණ යෙහෙන් රාජ්‍යය පරිපාලනය කරන කල්හි දුෂ්ට සේනාධිපතියකු විසින් රාජ්‍යලෝභයෙන් මරන ලදින් නැවතත් මුළු ලක්දිවම අභ්‍යන්තර භේදයෙන් ව්‍යාකූලව දුර්වලභාවයට පත්විය. බෝසත් විජයබාහු රජහුගේ සහෝදර වූ **මහාභුවනෙකබාහු** රජතුමා යාපවු නුවර රාජධානිය පිහිටුවාගෙන එකළොස්හවුරුද්දක් රාජ්‍යය කළ ඉක්බිති පඬිරටින් මහබල සෙනඟක් කැටිව ලක්දිවට බට ආර්‍ය්‍ය චක්‍රවර්ති නම් දෙමළ සේනාධිපතියෙක් යාපවු නුවර අල්වාගෙන දළදා වහන්සේ ඇතුළුවූ අපමණ මාහැඟි වස්තූන් මදුරාපුරයට යවා.උතුරු පළාත ස්වවශයට ගෙන යාපා පටුනෙහි රජකළේය. එකල බෝසත් විජයබාහු රජතුමාගේ පුත්‍ර වූ **පරාක්‍රම බාහු** නම් කුමාරයෙක් රජව මදුරා පුරයට ගොස් කුලශෙඛර නම් පඬිරජුගෙන් දළදා වහන්සේ ලබාගෙන අවුත් පොළොන්නරුවෙහි පස්හවුරුද්දක් පමණ රාජ්‍යය කරන කල මහා භුවනෙකබාහු රජුහුගේ පුත්‍ර වූ **වත්හිමි භුවනෙකබාහු** රජ ඒ පරාක්‍රමබාහු රජු පහකොට කුරුණෑගල් නුවර අවුරුද්දක් පමණ රාජ්‍යය කළේය. මේ රජුහු ගේ පුත්‍ර වූ **වීතිය පණ්ඩිත පරාක්‍රමබාහු** (හෙවත් වර්තමාන ව්‍යවහාරයෙහි සතරවැනි පරාක්‍රම බාහුයයි) නම් ලත් ශ්‍රද්ධා බුද්ධිසම්පන්න මහා රජතුමා සිහාසනාරූඪව ලෝකශාසනාභිවෘඩිය සඳහා විවිධ කටයුතු සම්පාදනය කෙරෙමින් පන්තිස් හවුරුද්දකට අඩුනොවන කාලයක් රාජ්‍යය කළේය. මේ රජතුමාගේ කාලයේදී ශාසනයත් ශාස්ත්‍රයත් බෙහෙවින් බැබළීමට පත්ව තිබුණේය. දඹදෙණි කතිකාවත සම්පාදනයෙහි ප්‍රමුඛ වූ ආරණ්‍යක මේධංකර මාහිමියන්ට අනතුරුව සංඝරාජ පදවියට පත්වූයේ අනවමදර්ශි මහාස්ථවිර පාදයන් බැව් සැලකිය හැකියි. උන්වහන්සේගේන් පසු තිත්ථග්‍රාම විහාරාධිපති ෂඩ්භාෂා පරමේශ්වර ගලතුරුමූල මහා ස්ථවිරපාදයන් මාහිමි පදවියට පත්වූ බැව් හැඟේ .මුන්වහන්සේගේ ශිෂ්‍යවූ ශ්‍රී පරාක්‍රමබාහු විල්ගම්මුළ මහතෙරුන්වහන්සේ යථෝක්ත පණ්ඩිත පරාක්‍රමබාහු රජතුමාගේ කාලයෙහි විද්‍යමාන වූ පඬිවරයන්ට අග්‍රෙසරව ඒ රජු

හු විසින් කරවන ලද සියලු ශාසනික කෘත්‍යයට මුල් වූයේය. ශ්‍රී බුද්ධ වර්‍ෂ 1887 වැන්නෙහි මේ මහා ස්ථවිරපාදයන් සංඝරාජ ධුරය ඉසුලූ බව උන්වහන්සේ විසින්ම කිත්සිරිමෙවන් කැලණි විහාරයෙහි පිහිටුවන ලද ශිලා ලිපියෙන් පෙනේ.

පණ්ඩිත පරාක්‍රමබාහු රජතුමාට අනතුරුව **වන්න භුවනෙකබාහු** රජතුමා ද සවුළු විජයබාහු රජතුමාද සිංහාසනාරූඪ වූහ. මේ රජුන් පිළිබඳ කිසිම ප්‍රවෘත්තියක් මහාවංශා දී ඉතිහාස ග්‍රන්ථයන්හි නොදක්වන ලදී. දෙදෙනාගේම මුළු රාජ්‍ය කාලය සතළොස් අවුරුද්දක් පමණ බැව් අනුමාන වශයෙන් කල්පනා කළ හැකියි.

විජයබාහු රජුගෙන් පසු ඔහුගේ පුත්‍ර කුමාරවරු තුන්දෙනෙක් භුවනෙකබාහුය,සවුළුපරාක්‍රමබාහුය,වික්‍රමබාහුය යන නාමයෙන් පිළිවෙළින් රාජශ්‍රීයට පත්වූහ. ශ්‍රී බුද්ධ වර්‍ෂ 1890 දී ගංපළ නුවර රජපැමිණි ඒ භුවනෙකබාහු රජතුමාට සතරවන්නෙහිදී මේඝවරවංශොද්භූත සෙනාලංකාධිකාරී මහ ඇමතියාණන් විසින් ධූමද්‍රෝණි විහාරාධිවාසී සුමංගල මහා ස්ථවිර පාදයන් වහන්සේගේ ශිෂ්‍ය වූ දෙවනගල වනරතන මේධංකර මහා ස්වාමිපාදයන් ප්‍රමුඛ කාරක සංඝ සභාව ලවා ශාසන ශුද්ධියක් කරවන ලදී. ඉක්බිති රජපැමිණි සවුළු පරාක්‍රමබාහු රජතුමා නම් වුත්තමාල සන්දෙශයෙහි හා තිසර සන්දෙශයෙහි වර්‍ණිනා කරන ලද ජාතිගාම (දැතිගම්) පුරයෙහි විසූ පරාක්‍රමබාහු රජතුමා බව නිශ්චය කර ගැනීමට සෑහෙන තරම් කරුණු තිබේ. ඊළඟට රජවූ වික්‍රමබාහු මහරජාණන් දවස ගිරිවංශාභිජාත අළගක්කෝනාර (හෙවත් අළකේශ්වර ) නම් මහ ඇමතියෙක් ශෞර්‍ය්‍යවීර්‍ය්‍ය බලපරාක්‍රමයෙන් හා ශ්‍රද්ධාශීලාදී ගුණයෙන් ප්‍රසිද්ධව වසනුයේ ජයවර්‍ධනපුර කෝට්ටය කරවා මායාරට තන්හි තන්හි කඳවුරු බැඳ සිටි ආර්‍ය්‍ය චක්‍රවර්‍තීති නම් දෙමළ රජහුගේ සේනාවන් පලවා හැර සතුරු වියවුල් බොහෝසෙයින් පහකර වූයේය. ඒ අළගක්කෝනාර ප්‍රභූ රාජයන් ගේ මෙහෙයීමෙන් ශ්‍රී බුද්ධ වර්‍ෂ 1912 වන්නෙහි තත්කාල ශාසනානු ශාසක පළාබත්ගල වනවාස පරම්පරානුයාත ශීලවංශ ධර්‍මකීර්ති මහා ස්වාමිපාදයන් විසින් ශාසන ශුද්ධියක් කරන ලදී. වික්‍රමබාහු රජුගේ ඇවෑමෙන් ශ්‍රී බුද්ධ වර්‍ෂ 1914 දී රජවූ **පස්වැනි භුවනෙකබාහු** රජහුට විසිවන්නෙහි ඒ අළගක්කෝනාර ප්‍රභූරාජයන්ට බෑනණුවූ **වීරබාහු**

ආදිපාදයන් රජ තන්පත්ව ආර්‍ය්‍ය චක්‍රවර්තීන් විසින් එවන ලද දෙමළ සේනාවන් යුද්ධයෙන් පරාජය කොට නෙරපා දමා රාජ්‍යය නිරවුල් කොට ශ්‍රී බුද්ධ වර්ෂ 1939 වන්නෙහිදී යථෝක්ත ධර්මකීර්ති මහාස්වාමිපාදයන් ගේ ශිෂ්‍ය වූ දේවරක්ඛිත ජයබාහු ධර්මකීර්ති මහා ස්වාමිපාදයන් ලවා ශාසන ශොධනයක් කරවූ බව නිකාය සංග්‍රහයෙහි කියන ලදී. ඉක්බිති ඒ වීරබාහු ආදිපාදයන්ගේ සහෝදර වූ වීර අළකෙශ්වර නම් අධිපතියෙක් දඹදිවින් බලසෙනඟක් සමග අවුත් වීරබාහු ආදිපාදයන් පරාජය කොට රාජ්‍යය අත්කොට ගෙන දොළොස් හවුරුද්දක් දේශය පාලනය කරන කල චීන රටින් පැමිණි චිංහෝ නම් සේනාධිපතියකු විසින් ඔහු උපාය බලයෙන් අල්වාගෙන චීන දේශයට ගෙන ගිය බැව් සද්ධර්මරත්නාකරයෙන් හා චීන ඉතිහාසයෙන් පෙනේ. මින්පසු දෙතුන් හවුරුද්දක් ලංකාව අරාජකවමෙන් පවත්නා අතර පූර්වෝක්ත සවුළු විජයබාහු මහරජතුමන්ට පුත්‍ර වූ පරාක්‍රම බාහු රජතුමාගේ මුනුබුරු වූ ලමැනි ජයමහලෑන නම් කුමාරයන්ට දාව කාලිංග වංශාභිජාත සුනේත්‍රා මහදේවි නම් බිසව කුස උපන් මහපින්වත් කුමරුවෙක් වීදාගම විහාරාධිපතිව වැඩ විසූ ස්ථවිරතුමකු විසින් කුඩා කාලයෙහි පටන් ශාස්ත්‍රාගම පුහුණු කරවා සොළොස්හැවිරිදි වූ කල මහා සේනාවට භාර දී ශ්‍රී බුද්ධ වර්ෂ 1953 වැන්නෙහි දී ශ්‍රී පරාක්‍රමබාහු නාමයෙන් රාජ්‍යශ්‍රීයට පත් කරවන ලදී. මේ රජතුමා පළමුව රයිගම් පුරයෙහි වොටුනු පැලඳ ලක්දිව අරාජිකව පැවතුණු කාලයෙහි ඒ ඒ පළාත්වල සෙවරීබලය පිහිටුවාගෙන සිටි අධිපතීන් හා පස් වසක් පමණ සටන් කොට ඔවුන් මැඩ පවත්වා 1958 වැන්නෙහිදී ජයවර්ධන පුරයෙහි අභිෂේක මංගල්‍යය පවත්වා සිංහාසනාරූඪව පසුකාලයෙහි ආර්‍ය්‍ය චක්‍රවර්තීන් පරදවා යාපා පටුනත් අත්කොට ගෙන මුළු ලක්දිව එක්සේසත් නංවා සිංහල දේශයෙන් පිටත් සතුරු රටවල්ද යටත් කොට ගෙන මහා බලපරාක්‍රමයෙන් හා විශිෂ්ටයශශ්‍රීන් විරාජමානව පස්පනස් හවුරුද්දක් පමණ රාජ්‍යශ්‍රීය අනුභව කෙළේය. පරසතුරු වියවුලින් හා අභ්‍යන්තර භෙදයෙන් විශේෂයෙන් මිදී පැවතුන මේ ශතසංවත්සරාර්ධය තුළ ලක්දිව බුද්ධ ශාසනයත් නානාවිධ භාෂා ශාස්ත්‍රාදියත් පොළොන්නරු දඹදෙණිකාලයෙහි මෙන් නැවතත් සමෘද්ධව බැබළීමට පත් වූයේය.

මේ රජතුමාට පන්සාළිස් වැන්නෙහි ධර්මානුගත ව්‍යවස්ථා

පංක්තියක් පැනවූ නමුදු ඒ කතිකාවතින් වැඩිකොටසක් නෂ්ටප්‍රාප්තවී තිබේ. සෙස්ස මෙහි පරිශිෂ්ට සංග්‍රහයට ඇතුළත් කෙළෙමු. මේ කතිකාවත සම්පාදනය කරන කාලයෙහි ශාසනානුශාසක ධූරය කැරගල පද්මාවතී පරිවෙණාධිපති වනරතන මාහිමියන් ඉසුලූ බැව් අනුමාන වශයෙන් කල්පනාකළ හැකියි. පැපිළියානේ සුනේත්‍රා මහා දේවි පරිවෙණාධිපති තිපෙටක මංගල මහා ස්වාමිපාදයන් ද තොටගමුවේ විජයබාහු පරිවෙණාධිපති ෂඩ්භාෂා පරමේශ්වර ශ්‍රී රාහුල මහාස්වාමිපාදයන් ද මේ රාජ්‍ය කාලයෙහි සංඝරාජපදවිය ඉසුලූ බැව් පොතපතින් පෙනේ.

ශ්‍රී පරාක්‍රමබාහු මහරජතුමාට පසුව ස්වකීය දුහිතෘවූ උලකුඩය (හෙවත් ලොකනාථා) නම් බිසව ගේ පුත්‍ර කුමාරයා ජයබාහු යන නාමයෙන් සිංහාසනාරූඪව දෙවසක් රාජ්‍යය කරන කල ඒ මහ රජාණන්ගේ ඇතිකර ගත් පුත්‍රයෙක් වූ ආර්‍ය්‍ය චක්‍රවර්තිතින් නෙරපාහැර යාපා පටුන ආණ්ඩුකළ සපුමල් කුමාරයයි ප්‍රසිද්ධ වූ සෙනාධිපති කුමාර තෙමේ ජයබාහු රජු පහකොට **භුවනෙකබාහු** යන නාමයෙන් රාජ්‍යශ්‍රීයට පත්වූයේය. මේ රජතුමාට සවන්නෙහිදී රාමඤ්ඤ දෙශයෙහි රාමාධිපති රජතුමන් විසින් මාහැඟි පඬුරු පාක්කුඩම් සහිත රාජතානාපතීන් සමඟ පිටත්කර එවනලද බුරුම භික්ෂූන්වහන්සේලා කීපනමක් කල්‍යාණි නදී උදකුක්ඛෙප සීමාවෙහිදී උපසම්පදා කරන ලදහ. එවකට ශාසනානුශාසකධූරය වීදාගම විහාරාධිපති මහානෙත්‍ර ප්‍රාසාදමූළ මෛත්‍රෙය මහාස්ථවිරපාදයන් විසින් උසුලනලදී.

භුවනෙකබාහු රජහුගේ අවෑමෙන් ඔහුගේ ඇතිකරගත් පුත්‍රයෙක් **පණ්ඩිත පරාක්‍රමබාහු** නාමයෙන් රජ පැමිණ තුදුස් හවුරුද්දක් රාජ්‍යය කරන කල ඒ භුවනෙකබාහු රජතුමාගේ සහෝදර වූ අම්බුලුගල කුඩා කුමාරයා ඒ රජු පහකොට **වීරපරාක්‍රම බාහු** යන නාමයෙන් සිංහාසනප්‍රාප්තව විසිහවුරුද්දක් රාජ්‍යය කෙළේය. ඒ රජතුමාගේ පුත්‍ර වූ ධර්ම පරාක්‍රමබාහු රජුහුගේ කාලයේදී සිංහල ජාතිය පිළිබඳ මහත් විපර්‍ය්‍යාසයකට හේතුවූ කරුණක් සිදුවිය. එනම් ක්‍රිස්තු වර්ෂ 1505 දී යුරෝපීය ජාතියක් වූ ප්‍රතිකාල්වරුන් ලක්දිවට පැමිණීමයි. ඔව්හූ පළමුවෙන් වෙළදාම් පිණිස කොළොම්තොට භූමි ප්‍රදේශයක් සිංහල රජතුමාගේ ගිවිසුමක් පිට

ලබාගෙන පසුව උපායෙන් හා නවීන යුද්ධෝපකරණ බලයෙන් මුහුදුබඩ පළාත්වල ස්වකීය ආධිපත්‍යය ක්‍රමයෙන් පිහිටුවාගත්හ. සීමාරහිත ධනාශාවෙන් හා ලබ්ධි පිශාචියෙන් පීඩිත වූ මේ ප්‍රතිකාල් වරු ඔවුන්ට යටත් ප්‍රදේශයෙහි සිංහල ශිෂ්ටාචාරය හා සමඟ බෞද්ධාගමත් තදනුකූල ශිල්ප ශාස්ත්‍රාදියත් විනාශකරලීමට නානා උපක්‍රම යෙදූහ. කල්‍යාණිමහා විහාරය දෙවිනුවර විහාරය ආදී ස්වකීය බලය පැවතුණු පළාත්වල තිබූ පුරාණ දාගැබ් විහාරාරාමද විනාශකොට භික්ෂූන් වහන්සේලා පලවාහැර විහාරසන්තක දේපළ අයිතිකර ගත්හ. බෞද්ධධර්මානුකූල පිළිපැදීම නීති විරෝධී ක්‍රියාවක්කොට බුද්ධභක්තියෙන් නොයෙක් ලෙසින් පෙළූහ. ක්‍රිස්තියානි ලබ්ධිය වැළඳගැනීම ආණ්ඩුවේ තිලතල හා තාන්නමාන්න ලබාගැනීමට එකම මාර්ගය කළහ. යථොක්ත පීඩාවෙන් මිදෙන පිණිසත් ගරු නම්බු සඳහාත් එකල බොහෝ සිංහලයෝ නාමමාත්‍රයෙන් ක්‍රිස්තියානි වූහ. භික්ෂූන් වහන්සේලා විහාර පන්සල් අත්හැරදමා ප්‍රතිකාලුන්ට වශඟනොවූ පළාත්වලට පලාගියෝය. ප්‍රතිකාල්වරුන්ට අයිතිවූ ප්‍රදේශයෙහි බෞද්ධාගම සම්පූර්ණයෙන් ම අතුරුදහන් වූවාක් මෙන් විය. මේ පරදේශීන් මුහුදුබඩ පළාත් අත්කරගෙන සිටි හවුරුදු එකසිය පනසක් පමණ වූ මුළු කාලය තුළම සිංහල රාජ්‍යයට අයත් ප්‍රදේශද අල්වා ගැනීමට නානා උපාය යොදමින් නිරතුරුවම තැත්කළ බැවින් ස්වදේශය මේ සතුරන් ගෙන් ආරක්ෂාකර ගැනීමට මුළු ශක්තිය යොදා ක්‍රියා කරන්නට සිංහල ආණ්ඩුවට සිදුවිය. ඒ හෙයින් මේ දීර්ඝකාලය තුළ වැසියන්ගේ දියුණුව සඳහා වුවමනා කටයුතු සම්පාදනය කරන්නට අවකාශ නොලැබීමෙන් ශාස්ත්‍රාගමත් සදාචාර ගුණධර්මයත් සිංහල පළාත්වලද ක්‍රමයෙන් පිරිහීමට පත්විය.

ධර්මපරාක්‍රමබාහු රජුගේ ඇවෑමෙන් රජ පැමිණි **සත්වැනි විජයබාහු** රජු පහකොට ඔහුගේ ජ්‍යෙෂ්ඨ පුත්‍රයා සත්වැනි භුවනෙකබාහු නාමයෙන් රජවිය. මේ රජ ස්වකීය මුනුබුරු කුමාරයාට රාජ්‍යය හිමිකරදෙන අටියෙන් ප්‍රතිකාල් රජු හා ගිවිසුමකට බැඳී කුමාරයාත් රටත් ප්‍රතිකාල් වරුන්ට පාවාදින. රජුහුගේ සහෝදර වූ මායාදුන්නේ කුමරයා මිට විරුද්ධව සීතාවක නුවර ස්වකීය රාජධානිය පිහිටුවා ගෙන පරදේශීන්ට යටත්වීමට අකමැති වූ සිංහලයන්ට ප්‍රමුඛව භුවනෙකබාහු රජු හා ප්‍රතිකාල්වරුන් සමඟ

යුද්ධාරම්භ කෙළේය. මේ යුද්ධය පවත්නා කාලයේදීම ස්වකීය ද්‍රෝහ ක්‍රියාවට විපාක වශයෙන්දෝ කැලණි ගංතෙර දී ප්‍රතිකාල් භේවයෙකු විසින් තුබූ වෙඩිපහරකින් භුවනෙකබාහු රජු මරණයට පත්විය. ඉක්බිති ප්‍රතිකාල්වරු රජුහුගේ මුණුපුරු **ධර්මපාල** කුමාරයා (ක්‍රි.ව.1551 දී) සිංහාසනාරූඪ කරවා ඔහුගේ නාමයෙන් රට ආණ්ඩුකරන්නට පටන් ගත්තේය. මෙතැන් පටන් ඔව්හූ බුද්ධාගම නැතිකිරීමටත් ක්‍රිස්තියානි ලබ්ධිය වර්ධනය කිරීමටත් වඩවඩාත් ප්‍රයත්න කළෝය. එසේ වුවත් මායාදුන්නේ රජතුමාත් ඔහුගේ ඇවෑමෙන් (ක්‍රි.ව.1578 දී ) රජවූ පළමුවැනි රාජසිංහ රජතුමාත් නොකඩවා සටන් කිරීමෙන් ඔවුන්ගේ එඩිය මර්දනය කළහ. මේ රාජසිංහ රජතුමා ආශ්චර්‍ය්‍යමත් බලපරාක්‍රමයෙන් යුක්තව බිහිසුණු සංග්‍රාමයෙන් ප්‍රතිකාලුන් පරදවා ස්වදේශය ආරක්‍ෂා කළ නමුත් අවසාන කාලයෙහි ශිවභක්තිය වැළඳගෙන බුද්ධාගමට සතුරුව විහාරාරාම කඩා බිඳ දමා භික්ෂූන් මරා ශාස්ත්‍රාගම සම්බන්ධ පුරාණ පොත්පත් නාස්ති කොට ශාසනයටත් ශාස්ත්‍රයටත් මහත් හානිකෙළේය. මේ රජහුගේ දරුණු ක්‍රියාවලින් පීඩිත වූ ලංකාවාසීහුම ඔහුට විරුද්ධව කැරලිගසන්නට වන්හ. අන්තිමේදී ගංපොළ රාජවංශයට අයත් වීර වික්‍රමාන්විත කුමාරයෙක් රාජසිංහ රජු යුද්ධයෙන් පරාජය කොට (ක්‍රි.ව.1593 දී ) සෙංඛණ්ඩශෛල ශ්‍රී වර්ධනපුරයෙහි **විමලධර්මසූර්‍ය්‍ය** නාමයෙන් රජවිය. මේ රජතුමා උඩරට අල්වා ගැන්මට තැත්කළ ප්‍රතිකාල්වරුන් පරාජය කොට පරශත්‍රු භය බොහෝසෙයින් පහකොට ශාසනාභිවෘද්ධිය සඳහා උත්සාහ වඩමින් සියලු ලංකාද්වීපයෙහි ගණපූරණයට සෑහෙන තරම් සිල්වත් උපසම්පදා භික්ෂූන් නැතිබැවි දැන රක්ඛංගදෙශාධිපති රජතුමා වෙත පඬුරු පාක්කුඩම් සහිත තානාපතීන් යවා නන්දිචක්කය චන්දිවිසාලය යන මහ තෙරුන්වහන්සේලා ප්‍රමුඛ අතිරේක දශවර්ගික භික්ෂුසංඝයා වහන්සේ වඩාගෙන වුත් ගැටඹේතොට උදකුක්ඛෙප සීමායෙහිදී (ශ්‍රී.බු.ව.2140 දී) උපසම්පදා මංගල්‍යය සිද්ධකරවා බොහෝකුලදරුවන් පැවිදි කරවා අන්‍යවූත් නොයෙක් ශාසනොපකාරී කටයුතු සිද්ධකෙළේය. මේ රජහුගේ ඇවෑමෙන් රජවූ සේනාරත්න නම් රජහුගේ දෙතිස් වර්‍ෂයක් පමණවූ රාජ්‍ය කාලය තුළ ප්‍රතිකාලුන්ගේ බලය නැවතත් උත්සන්න වීමෙන් උඩ පාත දෙරටම යුද්ධභයින් ආකුල ව්‍යාකුල විය. ඉන්පසු රජ පැමිණි **දෙවැනි රාජසිංහ**

මහරජතුමාගේ රාජ්‍ය කාලයෙන් විසිහවුරුද්දක් පමණ මේ ප්‍රතිකාල් යුද්ධයටම ගතවිය. මේ පරසතුරන් ගෙන් ස්වදේශය ගළවාගැන්ම සඳහා බාලවයසෙහි පටන් අප්‍රමාණ වීර්‍ය්‍යයෙන් සටන් කළ මේ ශූරවීර රජතුමාගේ උත්සාහය ක්‍රි.ව.1656 දී සඵල විය.සිංහල ජාතිය පිළිබඳ පිරිහීමට ප්‍රධාන හේතුවක් වූ මේ ප්‍රතිකාල්වරු මේ අවුරුද්දේදී ඕලන්දක්කාරයින්ගේ ආධාරයෙන් ලක්දිවින් පරිබාහිර කරනු ලැබූහ.

"ලංකාවට මුරජාම පිණිස" සිටුවන ලද ඕලන්දක්කාරයෝත් ප්‍රතිකාල්වරුන් මෙන්ම මුහුදුබඩ පළාත්වල ආණුඩුබලය ක්‍රමයෙන් අත්පත්කරගත්තෝය. එසේද වුවත් මොව්හූ ප්‍රතිකාල්වරුන් මෙන් රටවාසීන්ට පීඩා නොකළ හෙයිනුත් සිංහල රජු සමඟ මිත්‍රධර්මයෙන් වාසය කොට ස්වකීය වෙළඳාම දියුණුකර ගන්නට උත්සාහ කළ බැවිනුත් මොවුන් ලංකාවේ නැවතී සිටි හවුරුදු එකසිය පනසින් වැඩි කාලය තුළ මේ ද්වීපය යුද්ධකොලාහලාදියෙන් බොහෝසෙයින් තොරව පැවතිණ.

දෙවැනි රාජසිංහ රජතුමාගෙන් පසුව රජවූ ඔහුගේ පුත්‍ර වූ දෙවැනි විමලධර්මසූර්‍ය්‍ය රජතුමා නැවතත් රක්ඛංග දේශයට ඇමතියන් යවා සන්තාන ස්ථවිරය,ලොකරාග පුද්ගල ස්ථවිරය යන මහ තෙරුන් වහන්සේලා ප්‍රමුඛ තිස්නමක් භික්ෂූන් වහන්සේලා වඩා ගෙන වුත් ගැටඹේතොට උදකුක්ඛෙප සීමායෙහිදී (ශ්‍රී බුද්ධ වර්ෂ 2241 වන්නෙහි දී) උපසම්පදා මංගල්‍යය සිද්ධකරවූයේය. මේ රජහු ඇවෑමෙන් ස්වකීය පුත්‍ර වූ වීරපරාක්‍රමනරේන්ද්‍රසිංහ නම්ලත් සිංහල රාජවංශයට අයත් අන්තිම රජතුමා දෙතිස් හවුරුද්දක් ද මධුරාපුර රාජවංශයට අයත් ශ්‍රී විජයරාජසිංහ රජ අට අවුරුද්දක් ද රජය කළ ඉක්බිති ශ්‍රී බුද්ධ වර්ෂ යෙන් 2290 වන්නෙහිදී (ක්‍රි.ව. 1747 දී)
ඒ ශ්‍රී විජය රාජසිංහ රජතුමාගේ අගමෙහෙසියට සොහොයුරු වූ පින්වත් කුමාරයෙක් කීර්ති ශ්‍රී රාජසිංහ නාමයෙන් සිංහාසනාරූඪ විය. ශ්‍රද්ධා ශීල ප්‍රඥා ගුණ සම්පන්න මේ රජතුමා ලොකශාසනොපකාරයෙහි ඇලුම් ඇතිව දීර්ඝකාලයක් පිරිහී ගොස් තුබූ ශාසනයත් එලෙසම හානියට පත්ව තිබූ භාෂාශාස්ත්‍රාදියත් නැවතත් ප්‍රකෘතිමත් කරවනු සඳහා නො පසු බස්නා අනුපමවීර්‍ය්‍යයෙන් ශතසංවත්සරාධිකයක් මුළුල්ලෙහි දිවි පුදා දැඩිතර උත්සාහ වැඩූ

වැලිවිට පිණ්ඩපාතික සරණංකර ස්වාමීන්වහන්සේ ගේ මෙහෙයවීමෙන් සියම්දේශයට අමාත්‍යයන් යවා ප්‍රවර උපාලි මහා ස්ථවිරයන්වහන්සේ ප්‍රධාන අටළොස් නමක් පමණ භික්ෂූන්වහන්සේලා වඩාගෙන වූත් ශ්‍රී බුද්ධ වර්‍ෂ 2296 වැන්නෙහි ශ්‍රී වර්ධනපුරයෙහි ග්‍රාමසීමායෙහි පනස් හවුරුද්දකට වැඩි කාලයක් අපවත්ව තිබූ උපසම්පදා මංගල්‍යය සිද්ධකරවා සියගණන් කුලදරුවන් අමුතුවෙන් මහණ මහලු පැවිදිකරවා ලක්දිව නොයෙක් පළාත්වල නටබුන්ව තිබූ විහාර දාගබ් ආදිය ප්‍රතිසංස්කරණය කොට සංඝයාවහන්සේ වාස කරවා සම්බුද්ධ ශාසනය නැවතත් සිංහල දේශයෙහි බැබළීමට පත්කෙළේය. කීර්ති ශ්‍රී රාජසිංහ මහරජාණන් දවස සම්පාදිත වූ ශාසනාභිවෘද්ධිය මහාවංශා දී ඉතිහාස ග්‍රන්ථයන්හි විස්තරව ප්‍රකාශිත හෙයින් එය මෙහි සංක්‍ෂෙප නයින් දැක්වීමු. ඒ සියලුම ශාසනික කෘත්‍යයට මුල් වූ යථෝක්ත සරණංකර ස්වාමිපාදයන් සංඝරාජ පදවියට පත් වූ පසු උන්වහන්සේ ප්‍රමුඛ කාරක මහා සංඝසභාව විසින් රජතුමාගේ ආරාධනාවෙන් ම දඹදෙණිකතිකාවතට අනුව ධම්විනයානුකූල ව්‍යවස්ථා පංක්තියක් සම්පාදනය කරන ලදී. ඒ කතිකාවත මේ පොත් හී තුන්වැනි අංකයෙන් දැක්වීමු.

කීර්ති ශ්‍රී රාජසිංහ රජතුමා පන්තිස්හවුරුද්දක් රාජ්‍යශ්‍රිය වළඳා ඉකුත් වූ පසු මේ රජුහු ගේ මල් බෑ කුමාරයෙක් රාජාධිරාජසිංහ නාමයෙන් ශ්‍රී බුද්ධවර්‍ෂ 2324 වන්නෙහි (ක්‍රි.ව.1781 දී ) සිංහාසනාරූඪව දැහැමෙන් සෙමෙන් අටළොස්වසක් රාජ්‍යානුශාසනා කෙළේය. මේ රජතුමාගේ කාලයේදී (එනම් ක්‍රි.ව.1796 දී) ඕලන්දක්කාරයින්ට අයිතිව තිබූ මුහුදුබඩ පළාත් ඉංග්‍රීසිකාරයන් විසින් අල්වාගන්නා ලදී. රජතුමාට සත්වන්නෙහි එකල උත්සන්නව තිබූ ඇතැම් දුෂ්ප්‍රතිපත්තීන් දුරුකරනු සඳහා උභය විහාර වාසී මහා සංඝයාවහන්සේ විසින් රාජ ආරාධනාවෙන් අභිනව කරන ලද කතිකාවත මෙහි අගට යෙදීමු.

රාජාධිරාජසිංහ රජතුමාගේ ඇවෑමෙන් රජපැමිණි ශ්‍රී වික්‍රම රාජසිංහ රජු ක්‍රි.ව 1815 දී සිංහාසනයෙන් පහ කරන ලදින් හවුරුදු දෙදහස් තුන්සියගණනක් අඛණ්ඩව අපරාධීනව පැවතුණු සිංහල රාජ්‍යය අවසන්ව මුළුරටම බ්‍රිතාන්‍ය මහරජතුමාට අවනත වූයේය.

පූර්වෝක්ත ශාසනශොධනයෙන් පසුව ගතවූ සියක් හවුරුද්දකට වැඩි කාලය තුළ සිදුවූ අමරපුර රාමඤ්ඤ දෙනිකාය පිහිටුවීම හා සියම් නිකායික ඇතැම් භික්ෂූන් වහන්සේලා විසින් කල්‍යාණි සාම ශ්‍රී සභාව (හෙවත් කෝට්ටේ සමාගමයයි.) නම් ලත් අමුතු නිකායක් පිහිටුවා ගැන්ම ආදී ශාසනය සම්බන්ධ නවීන කථා ප්‍රවෘත්තිය ප්‍රපංචහෙයින් මෙහි ලියන්නට අදහස් නොකෙළෙමු.

මෙසේ තෙවිසි ශතවර්ෂාධික කාලයක් මුළුල්ලෙහි ශාසන ශ්‍රී භාරධාරී මහා ස්ථවිරයන් විසින් ශ්‍රද්ධාවත් රාජ රාජ මහාමාත්‍යාදීන්ගේ සහායත්වයෙන් සංරක්ෂණයකළ ලංකාශාසනය පිළිබඳ ශෝධනයක් මෙකලද වුවමනා බැව් විචාරක්ෂම බුද්ධිමත් කාගේත් කල්පනාවයි. හවුරුදු තුන්හාරසියකින් මොබ්බෙහි නොපැවතුණු තරම් ශාස්ත්‍රාගමාවබොධයක් වර්තමානකාලික භික්ෂූන්වහන්සේලාට ඇති නමුදු චිරානුගත සංඝ ගෞරවය ක්‍රමයෙන් හීනවේගෙන යන බැව් නොයෙක් කරුණුවලින් පෙනෙන්නට තිබේ.මේ පිරිහීමට හේතු කීපයකි. ශාස්ත්‍රඥානය තරමට ශීලපාරිශුද්ධිය ගරුකොට නොසැලකීමත් නොයෙක් අකර්තව්‍යයන් හී යෙදෙන ශ්‍රමණවෙෂධාරී දුෂ්ශීලයන් බහුල වීමත් එබඳු අලජ්ජි ශ්‍රමණප්‍රතිරූපකයන් ශාසනයෙන් බැහැරකරවීමට බලයක් ඒ ඒ නිකාය පාලනය කරන සංඝ සභාවලට නොමැතිවීමත් මෙකල පවත්නා ශාසන පරිහානියට ප්‍රධානහෙතු ලෙස සැලකිය යුතුයි.

මේ හානිය වැළැක්වීමට නම් කාලානුරූප ශාසන ශුද්ධියක් වුවමනාමැයි.එබඳු ශුද්ධියක් භික්ෂූන්වහන්සේලාගේ උත්සාහයෙන් හා ප්‍රමුඛත්වයෙන් ඇතිවිය යුතු බැව් එසේම පිළිගත යුතුයි.මේ කරුණෙහි යම් තාක්කල් ප්‍රව්‍රජිත පක්ෂය උදාසීන වේද ඒ තාක්කල් මේ ශාසනිකකෘත්‍යය සම්පාදනය කළ නොහැකි මැයි. පූර්වයෙහි යම් කලෙක කවරහෙයකින් නමුදු සස්න පසුබසින්නට වූයේ නම් ඒ පිරිහීම් වැළැක්වීමට පොහොසත් පරිශුද්ධ ශීලාදී ගුණධර්මයෙන් හා ප්‍රඥාවීර්‍ය්‍යයෙන් සමන්විත උතුමෙක් සංඝසභාන්තරයෙහිම පහළ වූයේය. කීර්ති ශ්‍රී රාජසිංහ මහරජාණන් දවස කරන ලද ශාසනාභිවෘද්ධියට මුල් වූ සරණංකර සංඝරාජ ස්වාමිපාදයන් ගේ ආශ්චර්‍ය්‍යමත් චරිතය මෙහිදී සාධක වශයෙන් සඳහන් කළ යුතුයි. සදහසක් පමණ භික්ෂූන්වහන්සේලා මෙකල ලක්දිව සිටිති. මේ

සංඛ්‍යාවෙන් වැඩිදෙනා වහන්සේලා යථොක්ත මාහිමියන්ගේ ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරාවට අයත් වූවෝ වෙති.දෙතුන්සිය හවුරුද්දක් මුළුල්ලෙහි ක්‍රමයෙන් පිරිහීගොස් නාමශෙෂභාවයට ළංව තිබූ ලංකා ශාසනය ඒ මහා ස්වාමිපාදයන් විසින් විස්මය ජනක මහෝත්සාහයෙන් ප්‍රකෘතිමත් කොට වර්ධනය කළ පරිදි නිතොර මෙනෙහි කිරීමෙන් උන්වහන්සේ විසින් කරන ලද ඒ විශිෂ්ට ලෝක ශාසන සංග්‍රහය දීර්ඝකාලයක් නොනැසී පවත්වනු සඳහා කාලානුරූප කෘත්‍ය සම්පාදනයෙහි ප්‍රමුඛව අනලසව නියුක්ත වීම ඒ පරම්පරාවට අයත් භික්ෂූන්වහන්සේලාට පැවරීතිබෙන ප්‍රතික්ෂෙපකළ නොහැකි කාර්‍ය්‍යභාරයක් බැව් විශෙෂ වශයෙන් සැලකිය යුතුයි.

මහාසංඝයාවහන්සේ විසින් ඒ ඒ කාලයෙහි ශාසනරක්‍ෂාව සඳහා කරනලද කතිකාවත් නැමැති ධර්‍මම විනයානුකූල ව්‍යවස්ථා පංතීන් මෙකල ඇතිවිය යුතු වූ ශාසන ශෝධනයට ශ්‍රද්ධාබුද්ධිසම්පන්න ගිහි පැවිදි කාගේත් සිත් යොමුකරවීමට ඉවහල් විය හැකි බැව් හැඟුණු හෙයින් ඒ ප්‍රධාන කතිකාවත් මෙසේ පළකරන්නට අදහස් කෙළෙමු. ඒ වුවමනා ශාසන ශුද්ධිය කවරේද,එය කෙසේ සම්පාදනය කටයුතුද යන ගාම්භීර ප්‍රශ්න මහා සංඝයා විසින්ම සුදුසුලෙස නිශ්චය කටයුතුයි.එසේද වුවත් ඒ සම්බන්ධව සැලකියයුතු කරුණු කීපයක් මෙහි සඳහන් කිරීම ප්‍රස්තාවෝචිතයයි හඟිමු.

වර්තමාන කාලයෙහි ලක්දිව නිකාය කීපයක් පවතී. මේ නිකාය භේදය නැතිකොට එක නිකායක් ඇතිකරවිය යුතුයැයි. සමහරුන්ගේ කල්පනාවයි. එබඳු උත්සාහයක් එකවටම සඵලකර ගත හැකිවේ යයි සිතීම උගහටයි.එසේ හෙයින් ඒ අදහස මතු කාලයෙහි මුදුන්පත් වීමට ඉඩතබා නිකායයන් පිළිබඳව දැනට වඩා අන්‍යොන්‍ය සම්බන්ධයක් හා සාමග්‍රියක් සැලැස්වීමට උත්සාහ වැඩීම ප්‍රඥාගොචර යයි හඟිමු. එබඳු ප්‍රයත්නයකට පූර්වකෘත්‍ය වශයෙන් ඒ ඒ නිකාය පිළිබඳ පාලනය ස්ථිර ව්‍යවස්ථානුකූල මනා පිළිවෙළක පිහිටුවා ගත යුතුයි.

"බහු නායකත්වය නම් ශාසන විලොපයට එකාන්ත හේතු බැව්" සලකා ලෝකයාගේ හාස්‍යයට කාරණවන පරිද්දෙන් මැතක

පටන් ආරබ්ධවී තිබෙන නමක් නිමක් නැති හිස් නායකකම්දීම අත්හැර දමා පුරාණ පිළිවෙළට ඒ ඒ පළාත්පාලනයට වුවමනා නායක පදවිවලට සුදුසු තෙරුන්වහන්සේලා පත්කිරීමත් එසේ පත්කරනු ලබන නායක ස්ථවිරයන්ට ඒ ඒ පළාතේ සංඝයාගේ පාලනය පිණිස තිසි බලපුළුවන්කම් සලස්වාදීමත් කට යුතුයි.

මහානායක නායක කාරකාදි ගරු පදවිවලට අල්පෙච්ඡතාදී ගුණ සම්පන්න ධර්මධර විනයධර බහුශ්‍රැත ස්ථවිරවරයන්ම පත්කර ගත යුතුයි.

මහණ මහලු පැවිදි කිරීමෙහිද නිශ්‍රය මුක්ත සම්මුති ස්ථවිර සම්මුති දීමෙහිද දඹදෙණි කතිකාවත්හි කී පරිද්දෙන් "ගුණ නුවණ" පරීක්ෂා කරනු සඳහා නියම පිළිවෙළක් ඇතිවිය යුතුයි.

මෙකල බොහෝ සෙයින් නගරවල සෙරිචාරීව වාසය කෙරෙමින් නොයෙක් දුෂ්ප්‍රතිපත්තියෙහි යෙදෙමින් ශාසනය කෙලසන අලජ්ජීන් පහකිරීමට නීතිප්‍රකාර සුදුසු බලයක් සලස්වාගැනීමද අතිශයින් වුවමනා බැව් ගිහිපැවිදි හැමදෙනා විසින්ම කල්පනා කටයුතුයි.

මෙහිදී විශේෂයෙන් සැලකිය යුතු තවත් කරුණක් තිබේ.මහණ උපසම්පදා කිරීමේදී "ජාතිගොත්‍ර විචාරිය යුතුය." යන නියමයක් දඹදෙණි කතිකාවත්හිද ඊට අනුව කරන ලද කීර්ති ශ්‍රී රාජසිංහ කතිකාවත් හිද පැනේ. මහා පරාක්‍රමබාහු කතිකාවත් හි නොපෙනෙන මේ ව්‍යවස්ථාව රාජ සම්මතයෙන් කරන ලද්දැක් බැව් සිතිය හැකියි. ඒ කෙසේ වුවත් ධර්ම යුක්ති විරෝධ කාලානුරූප නොවන මේ පැනවීමට අනුව ක්‍රියා කිරීම ශාසන දියුණුවට හේතු වේද යනු යොනිසො මනසිකාරයෙන් කල්පනා කරබලා බෞද්ධ මහා ජනයාගේ ශ්‍රද්ධාප්‍රසාදය වැඩිවීමත් ඔවුන් අතර වාදභේද තුනීවීමත් සැලසෙන පරිද්දෙන් මේ ප්‍රශ්නය විසඳීම යථොක්ත නියමය පිළිපදින සංඝයාවහන්සේලාගේ යුතුකමකි.

පුරාණ කාලයෙහි විහාර සංඝාරාම පාලනය කළ පිළිවෙළ හඳුන්වනු සඳහා ශ්‍රී බුද්ධ වර්ෂ 1518 දී පමණේදී ලංකා රාජ්‍යය ශ්‍රී පදප්‍රාප්ත සතරවැනි මිහිඳු මහ රජතුමන් විසින් මිහින්තලේ පිහිටුවන ලද මා හැහි ශිලා ලිපියද,ජයවර්ධනපුරවරාධීශ ශ්‍රී පරාක්‍රමබාහු

මහරජාණන් විසින් ශ්‍රී බුද්ධ වර්‍ෂ 1997 දී පැපිළියානේ සුනේත්‍රා මහ දේවී පිරිවෙනෙහි ස්ථාපිත වූ ශිලාලේඛනයද මෙහි පරිශිෂ්ට සංග්‍රහයට ඇතුළත් කෙළෙමු.

ධර්‍ම විනය පිළිබඳ මනා අවබෝධයක් හා ලංකාශාසනයත් රාජ්‍යයත් සම්බන්ධ ඉතිහාසගත කරුණු දැනගැන්මක් මේ කතිකාවත් හා ශිලා ලිපිවලින් ලබාගත හැකියි. එසේම සිංහල භාෂාව ඉගෙන ගන්නා කාටත් මේ පෞරාණික ලිපි විශේෂයෙන් ප්‍රයෝජනවත් විය හැකියි.

මේ තකිකාවත් ආදිය සංශෝධනය කිරීමෙහිදී පැලියගොඩ විද්‍යාලංකාර පරිවෙණාධිපති ධර්‍මකීර්ති ශ්‍රී ධර්‍මානන්දාභිධාන නායක ස්ථවිර පාදයන් වහන්සේත් මෙහි අගට යොදන ලද ගැටපද විවරණය සම්පාදනය කළ ඩී.ජී.අභයගුණරත්න පණ්ඩිත මහතාත් උපස්තම්භක වූ බැව් ස්තුති පෙරදැරිව සඳහන් කරමු.

ගාල්ලේ කුඹල්වැල්ලේ විජයාරාම විහාරාධිපති උයන්වත්තේ ධම්මදින්න ශ්‍රී රේවතාභිධාන නායක මහා ස්ථවිරපාදයන් වහන්සේද,මහනුවර පුෂ්පාරාම විහාරවාසී අඹන්වැල්ලේ සුමංගල නායක ස්ථවිරයන් වහන්සේද, වටරක රේවත ස්ථවිරයන් වහන්සේද,කොටහේනේ පරමානන්ද විහාරාධිපති කල්‍යාණතිස්ස ස්ථවිරයන් වහන්සේද, බෙම්තොට වනවාස විහාරාධිපති සෝමාලංකාරස්ථවිරයන් වහන්සේද,ගෝනගල සුධර්‍මාකර පරිවෙණාධිපති පණ්ඩිත යගිරල පඤ්ඤානන්ද ස්ථවිරයන් වහන්සේද,යන ගරු කටයුතු ස්වාමීන් වහන්සේලා විසින් පොත්පත් සපයාදීමෙන් අපට කරන ලද අනුග්‍රහයද ස්තුති පූර්වකව මෙහිදී සිහිපත් කරමු.

D.B.J

2465 ජනවාරි මස 12 දින
1922 කොළඹ දී ය.

# කතිකාවත් සඟරා

**නමො තස්ස භගවතෝ අරහතො සම්මා සම්බුද්ධස්ස**

## 1

## මහා පරාක්‍රමබාහු කතිකාවත

අප බුදුන් කල්ප ශතසහස්‍රාධික චතුරසංඛ්‍ය පරිමිත කාලයක් සමතිස් පැරුම් පුරා මාරසංග්‍රාම භූමිය වූ මහාබෝධිපර්‍ය්‍යංකාරූඪ වැ දුර්වාර සපිරිවාර මාරපරාජය කොටැ සර්වඥපදප්‍රාප්ත වැ පන්සාලිස් හවුරුද්දක් දවස් චාතුර්ද්වීපික මහා මෙඝයක් සෙයින් වැඩ සිට අනෙක කල්පකෝටිශතසහස්‍රයෙහි ක්ලේශාග්නීන් දග්ධවෙමින් සිටි සත්වයන් ධර්මාමෘත වර්ෂායෙන් නිවමින් සකල බුද්ධ කෘත්‍ය නිමවා කුසිනාරානුවර අබියෙස්හි මල්ලරාජයන්ගේ සාලවනොද්‍යානයෙහි නිරුපධිශෙෂ නිර්වාණධාතුයෙන් පිරිනිවිසාරසිය සූපනැස්හවුරුද්දක් ගියකලැ වළගම්අභා මහරජු දවසැ පටන් එක්වාදහස් දෙසිය සූපැනස් හවුරුද්දක් භින්නනිකාය වැ ශාසනය පිරිහෙමින් සිටි කල්හි මහාසම්මතාදී පරම්පරායාත සූර්‍ය්‍යවංශොද්භූත රාජාධිරාජනෙකදිගභිව්‍යාප්ත යශොමරීචීන් විරාජමාන ශ්‍රී සංඝබොධි පරාක්‍රමබාහු මහරජාණන් සකල ලංකාතෙලෙහි එක රාජ්‍යාභිෂෙකයෙන් අභිෂික්ත වැ විජෘම්භිත පුණ්‍යර්ද්ධි ඇතිවැ රාජ්‍යසුඛානුභව කොටැ වසනුවන් අඥාන දුර්ඥාන මූලක අප්‍රතිපත්ති දුෂ්ප්‍රතිපත්ති විෂවෙග විහත වැ අපායා(ප) නන්වන ශාසනාවචර කුලපුත්‍රයන් දැකැ සුපිරි ශුද්ධ බුද්ධශාසනයෙහි මා වැනි ආඥාචක්‍රවර්තියක්හු මෙවැනි කිලුටක්

දැකැ දැකැ උදාසීන වුවහොත් බුදුසස්න නස්සි බොහෝ සත්හුදු අපායභාග් වෙති පස්වාදහසක් පවත්නා බුදුසස්නට මා වහල් වුව මැනැවැයි ප්‍රඥාපුරස්සර කරුණායෙන් සචෝදිත හෘදය ඇතිව මෙසේ නට සසුන් කවුරුන් වහල් කොටැ අපගත කලංක වැ පස්වාදහසක් පවත්නා පරිද්දෙන් කෙරෙම්දෝහොයි සිතා අබඩාච්ඡිද්‍රතාදී විවිධ ගුණගණාග සහත කොටැ රක්‍ෂිත වර්ධිත පොෂිත ශිලස්කන්ධාදි ලෞකික ගුණරත්නාලංකාරයෙන් සමලංකෘත වූ උදුම්බරගිරි නිවාසි මහාකාශ්‍යප මහාස්ථවිර ප්‍රමුඛ මහා විහාරාධිවාසී භික්ෂු සංඝයා දැකැ ඔවුන් වහල් කොටැ බුදුන් විසින් අනුඥාත බුද්ධකල්ප මොග්ගලිපුත් තිස් මහ තෙරුන් වහල් කොටැ පාප භික්ෂු නිර්මථනය කොටැ දුර්ලබ්ධි මැඩැ ශාසනමල විශොධා තෘතීය ධර්මසංගායනා කැරවූ ධර්මාශොක මහරජහු මෙන් අනෙක ශත පාප භික්ෂූන් ශාස්තෘ ශාසනයෙන් අපගත කොටැ ෂඩභිඥාද්‍යනෙක ගුණගණොපෙත මහාක්ෂිණාශ්‍රවයන් ඇති කල්හි පවා පූර්වරාජයන් විසින් මහොත්සාහයෙනුදු සමඟ නොකොටැ ගතහුණු තුන්නකා සමඟ කිරීමෙන් එක් නකා කොටැ ජෙතවන මහාවිහාරාදී නොඑක් මහඇගිවිහාර ලක්දිවැ තන්හි තන්හි කරවා එහි සහස්‍ර සංඛ්‍යාතික්‍රාන්ත මහාසංඝයා වාසකරවා නිරන්තර ප්‍රවෘත්ති ධර්මාමිෂදානයෙන් උපස්ථාන කෙරෙමින් සංඝ දර්ශන ප්‍රභව ප්‍රීතිප්‍රාමොද්‍යරසාස්වාද යෙහි ලොලවැ කාලානුකාලයෙහි පෞෂථාඟ ශීල සමුපෙතවැ විහාරයට එළැඹැ සන්නිපති සංඝ මධ්‍යගත වැ තද දර්ශනප්‍රසූත ප්‍රීති ප්‍රමෝද්‍ය රසාස්වාද කොට මා විසින් මහෝත්සාහයෙන් සාධිත වූ මේ සංඝ සාමග්‍රිය පස්වාදහසක් අභින්න වැ පවත්නා පරිද්දෙන් මතුවන සංඝයා ද අප්‍රමාද වැ ග්‍රන්ථ විදර්ශනා ධූරයෙහි යෙදී අල්පෙච්ඡතාදි ගුණෙන් යුක්ත වැ වසනා පරිද්දෙන් අවවදානුශාසනා කොටැ ශාසනය රක්‍ෂා කළ මැනැවැයි යුක්තව්‍යක්ත ගුණොපෙත වැ කරන ආරාධනා ද අසා මහාකාශ්‍යප මහා ස්ථවිරප්‍රමුඛස්ථවිරවරයන් මැ විසින් ප්‍රමාදවිහාරීන් අවකාශ නොලබන සඳහා ධර්මවිනය සංසන්දනය කොටැ ඇදුරොල් ද නොවිහිදැ කළ කතිකාවති.

ගණදෙටු තෙරවරුන් විසින් තම තමා නිසා වසන අන්තෙවාසික සද්ධිවිහාරිකයන් අතුරෙහි නිසදෙන්නට නිසයෙන් මිදෙන්නට යොග්‍ය වැ වසන්නවුන් පමා නො වියැදි ග්‍රන්ථධූරයෙහි

යොදා යැටත්පිරිසෙයින් විනයෙන් කුදුසිඛ හා පාමොක් ද සුතතින් දසධම්සූත්‍රය හා අනුමානසූත්‍රය ද වන පොත් පිරිහෙළියැ නොදී ගණසංගණිකාදීන් දුරු කොටැ ග්‍රන්ථධූරයෙහි යෙදෙන්නවුන් විසිනුදු සතතයෙන් විවෙකවත් පිරුව මැනැවැයි වදාළ බැවින් තුන්වේලෙහි ඉරියවු (සමනා )පිරිසිදු කොටැ කාශියාසි ආදී වූ කමටහනෙක්හි යෙදී දෙතුන් පලගක් හුණුගන්වා දවස කඩ නොකොටැ විවෙකවත් පුරවා "අත්තානමෙව පඨමං පතිරූපෙ නිවෙසයෙ [1]" යි වදාළ බැවින් තම තමාද මෙකී ගුණාංගයෙහි වෙසෙසින් යෙදී අත්වැඩ පරවැඩ සාධමින් කී පරිද්දෙන් ග්‍රන්ථධූරයෙන් වැඩියක් කොටගත නොහෙන අන්තෙවාසික සද්විහාරිකයන් ලවා මුල්සිඛ සෙඛියා වන පොත් කරවා සිඛවළඳවිනිස අස්වා සමසින් සමැස ආද්‍යාන්ත කොටැ සමනා විචාළ තැනක් කියන්නට පොහොසත් කරවා දසධම් සතතයෙන් මෙනෙහි කරවා යැටකී විවෙකවතුදු පුරවා ශක්ති පමණක් හදාරා තිම්කලැ චරිතානුකූල කමටහන් උගන්වා විදර්ශනා ධූරයෙහි මැ යොදා චතුසම්පජඤ්ඤකථායෙහි වදාළ පරිද්දෙන් දවස් යවනු කොටැ පැවැත්වියැයුතු.

හෙරණනුදු හෙරණසිඛ සෙඛියා දසධම්සුතත් වනපොත් කොටැ අසා නොපිරිහෙළා පරිහරණ කරනු කොටැ යොදා විවෙක වතුදු පුරවා හික්මැවියැයුතු.

මෙවුන් හැමදෙනමැගෙ නොහැම්මෙන වැදැ මව්පිය දෙදෙනා හා මෙසේ මැ එක්කුසහොත් කණවැන්දඹු නඟුන් බූනන් හා සබ්‍රම් සරුන් හා මෙහෙකරුවන් පිණිසැ අහර සිහා යන ගමනක් හා මෙකීවවුන් මැ රොගී වුව බෙහෙදක් හා සබුම්සරුන්ට බෙහෙත් පස සිහා යන ගමනක් හා පැවරූ තැනකට පිරිතට යන ගමනක් මුත් මෙයින් පිටත් කටයුත්තකට කාලවිකාලයෙහි ඇත්ගමට සමු නොදියැ යුතු ගිලානාදි කෘත්‍යයෙන් පිටතට යන්නවුන්ට සමුදෙත් හොත් අව්‍යක්තයනට සමු දෙන උපාධ්‍යායන්ට දුකුළා ඇවත් වදාළ බැවින් හුදු අව්‍යක්තයනට මැ සමු නොදී පොහො පවුරුණු හා ආපත්ත්‍ය නාපත්ති මාත්‍රයක් දන්නා ව්‍යක්ත සඟකෙනකුන් මුල් කොට සමු දියැයුතු.

1. ධම්මපදය. අත්තවග්ග
2. වැනි ගාථාව

තත් ගණයෙකින් ආ සඟකෙනෙකුන් තමා සමීපයෙහි වසවත් හුන්තැනැ ගණදෙටුයෙන් පත්කඩක් හෝ පැවිදි කෙනකුන් දැකැ මුත් නොවැසැවියැයුතු.

ස්ථවිර නව මධ්‍යම හැම සංඝයා විසින් මැ මැදිම්යමැ සතිසම්පජඤ්ඤයෙන් යුත් නිදි සෙවුමින් සිරුරු සතපා අලුයැමැ නැඟී කමටහන්හි යෙදී හිඳැ සිටැ සක්මන් කිරීමෙන් දවස් ගෙවා පුහුණු ගත් පිරිවහා සිවුරු සකසා හැඳැ පෙරවැ දැහැටි කිස නිමවා දහගබ් මාඹො අඟණවතුදු ඇදුරුවත්තෙරවත් ගිලන්වත් සෙනසුන්වත් ඈ කඳවතුදු සපයා උපනහොත් බොජුන්හල් එළැබැ කැඳිති වළඳා බොජුන්හලැ වතාවත් නිමවා එක්බිත්තෙහි පත්පොත් බලනුවන් ගෙත්තම් රජත්නම් කරනුවන් පස බෙදනුවන් ඈ ඉක්මන් කටයුතු ඇතියවුන් මුත් සෙස්සවුන් කැඳිති වැළඳු ඉක්බිත්තෙහි කමටහන් යෙදී දවස්යවා පස්බත්හිදු කී නියායෙන් ග්‍රන්ථ විදර්ශනාධුරයෙහි ගිහිමිනිස් පැවිජියන් හා සංසඨනොවැ වත්වේලා දක්වා දවස් යවා ඉරියව් නොපොහොනා කරුණක් ඇතමුත් වත් පිරිතට ලැබී රැස්වුවන් විසිනුදු 'සන්නිපතිතානං වො භික්ඛවෙ ද්වයං කරණීයං ධම්මී වා කථා අරියො වා තුණ්හී භාවො' [1] යි වදාළ බැවින් ධම්ම කථා මනස්කාරදෙකින් පිටත් තිරස්චීන කථා හා කාමවිතර්කාදි පාපවිතර්කයෙන් නොයෙදී පෙරයැමද බණ කියන කියවන අසන ධරන ධම්ම කථා කිරීම් ඈ නොසිස් පියෙවින් හා විදර්ශනාධුරයෙන් ගෙවා මැදිම්යැමැ සපත් සඳැ සතිසම්පජඤ්ඤයෙන් යුත් නිදි සෙවියැ යුතු.

පිටතවියැයුතු කටයුත්තෙකින් එළබෙන මඟි පැවිජියන් විසින් පසිලි පැල් පිළිමගෙ ඈ කැපතැනෙක්හි ලැගුම්ගත යුතු.

හැම වේලෙහි මැ කිපි සිතින්වත් කෙළි සිතින්වත් නොසරුප් තෙපුල් කිසිවක්හු නොබිණියැයුතු.

මවුනුදු වුව විෂභාගයන් හා ද, මලකුදු වුව ළදරු බාලයෙක

1.මජ්ඣිම නිකාය.

හා ද රහසගත නොබිණියැ යුතු.

වැඩිමහල්ලවුන් නොදන්වා මෙහෙකරුවන්ට දැහැවිලි නොවියැ යුතු.

තමා අයතියකුදු මහල්ලන් අනුනොදන්වා අන්නට නොදිය යුතු.

ගමන් යන්නක්හු විසින් මහලු සඟුන් ගෙ තෙමී නස්නට සුදුසු පිරිකරක් අත්හි ඇත්මුත් අතුරෙහි වැසි අවද පියවි ගමනින්· මැ නොතෙමෙන තැන් එළැබියැයුතු-එබඳු පිරිකරක් ඇතද සරුප් වෙලෙවියකින් මැ යායුතු.

.........................................................................................................................

වට්ටති." [1]යි වදාළ බැවින් සිනාවට තිසි කරුණෙක්හිදු හඬ නොවිහිදැ මුව වසා සතුටු පමණක් දැක්වියැයුතු.

තමා වසන වෙහෙර සන්හිඳෙන අධිකරණ බැහැර නොපහළ කටයුතු. අන්වෙහෙර සන්හිඳෙන අධිකරණ තමා නොඉසිලියැයුතු.

"සල්ලෙඛං අච්චජන්තෙන අප්පමත්තෙන භික්ඛුනා.

කප්පියෙපි න කාතබ්බා ආමිසත්ථාය ලොලතා" [2]
යි වදාළ බැවින් කැප පසයෙහිදු ලොල්බැව් නොකටයුතු.

දහගබ් මහබො ඈ වඳිමින් ගඳ දුම් මල් ඈ පුදමින් දැවටු වළඳමින් පා කස්සෙහි ලමින් නොබිණියැ යුතු.

---

1. මෙහි පාළිපාඨය ශිලාලිපියෙහි මැකී ගොස් තිබේ.
2. සමන්තපාසාදිකා කඨිනවග්ග නවමසික්ඛාපද වණ්ණනා.

ඇත්ගම්හි ගිහිමිනිසුන් හා පස පිළිබඳ කථා ද විසභාග කථා ද නොකටයුතු.

"ඉධෙකච්චො සංඝගතොපි අචිත්තිකාරකතො ථෙරෙ භික්ඛු ඝට්ටයන්තොපි තිඨති ඝට්ටයන්තොපි නිසීදතිඨීතකොපි භණති බාහාවික්ඛෙපකොපි භණති කුමාරකස්සපි සිරං පරා මසති."[1] යි අනාචාරනිර්දෙශයෙහි වදාළ බැවින් සඟමැදට එළඹියහු විසිනුදු වෙරින් එව් සිවුරෙන් එව් නොසැටිය යුතු.මහලු සඟුන් හා බිණුවමනා කරුණක් ඇත, ආදර දක්වා ඉතා නොළං වැ නැමී සිටැ අත් නොවනා බිණියැයුතු. කිසිතැනෙක්හිදු කොමරුන් වෙරැ අත්ලා නොසැනැවියැයුතු.පධන් සෙරෙහි වසනුවනට විබෙවු නොකොටැ හැදෑරියැ යුතු.

"පබ්බාජෙන්තා සොධෙත්වා පබ්බාජෙථ සොධෙත්වා උප සම්පාදෙථ සොධෙත්වා නිස්සයං දෙථ එකොපි හි කුලපුත්තො පබ්බජ්ජං ච උපසම්පදං ච ලභිත්වා සකලම්පි සාසනං පතිඨාපෙති"3 යූ බැවින් පිරික්සා පැවිජිකටයුතු. පිරික්සා උපසම්පත්ති කටයුතු. පිරික්සා නිස දියැයුතු. තමා යෙහෙන පමණක් දුහඟ සමාදන් වියැ යුතු.

මෙකීතාක් වතැ නොරිසින් පවතුතුදු අයුණු නොකියැ යුතු. යම් කෙනෙක් මෙ කළ කතිකාවත්හි නොහික්මැ වරදවා පවතිත් නම් තුන් යැලක් දක්වා වරදට නිසි දඬුවම් කරවා අවවාද කොටැ නැවැතැ ද එසෙමැ පවතිත්නම් නිස නොදී මසක් දක්වා හිඳුවා විනයානුකූල පැවැත්මක් නැතහොත් උත්කෙරෙහි නොබැඳී හැරවියැයුතු. ගණදෙටු තෙරවරුන් විසිනුදු තමන් තමන්ට යෙදූ ධූරයෙහි පමා වැ සංඝයා හික්මවා නොලූලත්හොත් මහතෙරවරුන් යෙදූ දඬුවම් කටයුතු.

1 .විසුද්ධිමග්ග සීලනිද්දෙස කායික අනාචාරවණ්ණනා

2 .සමන්තපාසාදිකා චුල්ලවග්ග සෙනාසනග්ගාහවිනිච්ඡය වණ්ණනා

# 2

# දඹදෙණි කතිකාවත

අප බුදුන් කල්පශතසහස්‍රාධික චතුරසංඛ්‍යපරිමිත කාලයක් සමතිස් පැරුම් පුරා මාරසංග්‍රාමභූමිවූ මහාබොධිපර්‍ය්‍යංකාරූඪ වැ දූර්වාර සපිරිවාර මාර පරාජය කොටැ සර්‍වඥපදප්‍රාප්තවැ පන්සාලිස් අවුරුද්දක් චාතුර්ද්වීපක මහාමෙඝයක් සෙයින් වැඩැ සිටැ අනවරාග්‍රසංසාරවෘත්තයෙහි ක්ලෙශාග්නීන් දග්ධවෙමින් සිටි සත්වයන් ධර්‍මාමෘත වර්‍ෂායෙන් [1] නිවමින් සකල බුද්ධකෘත්‍ය නිමවා කුසිනාරා නුවර අබියෙස්හි මල්ල [2] රාජයන්ගේ සාල වනොද්‍යානයෙහි නිරුපධිශෙෂ නිර්‍වාණධාතුයෙන් [3] පිරිනිවි [4] සාරසිය සූපනස් හවුරුද්දක් ගිය කලැ වළගම්අභා මහරජහු දවස පටන් එක්වාදහස් දෙසිය සූපනස් හවුරුද්දක් භින්න නිකාය වැ ශාසනය පිරිහෙමින් සිටි කල්හි මහා සම්මතාදී [5] පරම්පරානුයාත සූර්‍ය්‍යවංශෝද්භූත රාජාධි රාජ නෛකදික්හි ව්‍යාප්ත යශෝමරීචීන් විරාජමාන ශ්‍රී සංඝබොධි ශ්‍රී පරාක්‍රමබාහු මහරජාණන් සකල ලංකාතෙලෙහි එකරාජ්‍යාභිෂේකයෙන් අභිෂික්තවැ විජෘම්භිත පුණ්‍යර්ධි ඇති වැ රාජ්‍යසුඛානුභව කොට වසනවුන් අඥාන දුර්ඥාන මූලක අප්‍රතිපත්ති දුෂ්ප්‍රතිපත්ති විෂවෙග විහත වැ අපාය ව්‍යසනාපන්න වන ශාසනාවචර කුල පුත්‍රයන් දැකැ සුපරිශුද්ධ බුද්ධශාසනයෙහි මා

1. වර්‍ෂාවෙන් 2. මල්‍ය 3. ධාතුවෙන්
4. පිරිනිවීතැන් පටන් 5. මහාසම්මත

වැනි ආඥාචක්‍රවර්තීතියක්හු මෙවැනි කිලුටක් දැකැ දැකැ උදාසීන වූවහොත් බුදුසස්න නස්සි බොහෝ සත්හුදු අපායභාග්වෙති. පස්වාදහසක් පවත්නා බුදුසස්නට මා වහල් වූව මැනැවැයි ප්‍රඥාපුරස්සර කරුණායෙන් සර්වොදිත හෘදය ඇති වැ මෙසේ නට සසුන් කවුරුන් වහල් කොට වවා පස්වාදහසක් පවත්නා පරිද්දෙන් කෙරෙම්දෝහෝයි සිතා අඛණ්ඩාච්ඡිද්‍රතාදී විවිධ ගුණ ගුණාංග සංගත කොට රක්ෂිත වර්ධිත පොෂිත ශීලස්කන්ධාදි ලෞකික ගුණරත්නාලංකාරයෙන් සමලංකෘත වූ උදුම්බරගිරි නිවාසී මහාකාශ්‍යප මහාස්ථවිර ප්‍රමුඛ මහාවිහාරාධිවාසී මහා භික්‍ෂු සංඝයා දැක ඔවුන් වහල් කොට බුදුන් විසින් අනුඥාත මොග්ගලී පුත්ත තිස් මහතෙරුන් වහල් කොට අනෙක සහස්‍ර පාපභික්‍ෂූන් නිම්මථනය කොට දූර්ලබ්ධි මැඩැ ශාසන මල විශෝධා [1] තෘතීය ධම්මසංගායනා කැරැවූ ධම්මාශෝක මහරජහු මෙන් [2] අනෙක ශත පාප භික්‍ෂූන් ශාස්තෘශාසනයෙන් අපගත කොට ෂඩභිඥාද්‍යනෙක [3] ගුණගණෝපෙත මහාක්‍ෂීණාශ්‍රවයන් ඇති කල්හිදු පවා පූර්වරාජයන් විසින් මහෝත්සාහයෙන් සමඟ කොට ගත නුහුණු තුන්නකා [4] සමගි කිරීමෙන් එක්නකා කොට ජේතවනමහාවිහාරාදී නොයෙක් මහ ඇගි විහාර ලක්දිවැ තන්හි තන්හි කරවා එහි අනෙක සහස්‍ර සංඛ්‍යා ඇති [5] මහාසංඝයා වාස කරවා [6] නිරන්තර ප්‍රවෘත්ත ධම්මාමිෂ දානයෙන් උපස්ථාන කෙරෙමින් සංඝදර්ශන ප්‍රභව ප්‍රීතිප්‍රාමොද්‍ය රසාස්වාදයෙහි ලොල වැ කාලානුකාලයෙහි පෞෂථාග [7] ශීල සමුපෙත වැ විහාරයට එළඹැ සංඝමධ්‍යගත වැ තත්දර්ශනප්‍රසූත ප්‍රීති ප්‍රාමෝද්‍ය රසාස්වාද කොට මා විසින් මහෝත්සාහයෙන් සාධිත වූ සංඝ සාමග්‍රිය [8] පස්වා දහසක් අභින්න වැ පවත්නා පරිද්දෙන් මතුවන සංඝයා ද අප්‍රමාදී වැ ග්‍රන්ථවිදර්ශනාධූරයෙහි යෙදී අල්පෙච්ඡතාදි ගුණයෙන් යුක්තව වසනා පරිද්දෙන් අවවාද අනුශාසනා කොට ශාසනය රක්‍ෂා කළ

1.මලය සොධා 2. "අනෙකසහස්‍ර................ධම්මාශොක මහරජහුමෙන්" යන මේ පාඨ කැබැල්ල ඇතැම් පොත්හි ඌනයි

3.නෙක 4.නිකා 5 සංඛ්‍යාත 6. වාසයකරවා

7. උපෞස්ථාග 8. සාමාග්‍රීය 9. ඛ්‍යක්ත

මැනැවැයි යුක්තව්‍යක්ත [1] ගුණොපෙත වැ කරන ලද ආරාධනා අසා මහාකාශ්‍යප මහාස්ථවිර ප්‍රමුඛ ස්ථවිරවරයන් විසින් ප්‍රමාදවිහාරීන් අවකාශ නොලබනු සඳහා ධම්මවිනය සංසන්දනය කොට ඇජරොල් නොවිහිදැ කළ කතිකාවත [2] එම මහරජාණන් ස්වර්ගස්ථ සංවත්සරයෙහි පටන් සතිස් හවුරුද්දක් ඇතුළත ඔවුන් වැනි ශ්‍රද්ධාබුද්ධි සම්පන්න මධ්‍යස්ථ ශාසන පක්ෂපාත අන්කිසි රජක්හුගේ නොපැළඹීමෙන් යටවූ දවසට වඩා පැමිණුණු [3] අඥාන දුර්ඥාන මූලක අප්‍රතිපත්ති දුෂ්ප්‍රතිපත්තිවිෂවෙගාතිශයෙන් වඩා විහත වැ [4]අපාය ව්‍යවසනාපන්න වන ශාසනාවචර කුල පුත්‍රයන්ගේ බාහුල්‍යය [5] දැකැ ඔවුන්ට විය යුතු වැඩ තකා තත්කාලානුකූල අමුතු කතිකාවතින් සරහා ලොකශාසන විලොපකාරී වූ දෙමළ සේනාවෙහි භයින් පුලස්ති [6] පුරාදි පුරාතන ස්ථානයෙන් ඉගිළැ බොහෝසේ පත්පොත් ආදී පිරිකර තිබූ තැන හැර ශරණානෙවෂ වැ මායාරටට පැමිණි මහා සංඝයාවහන්සේ කෙරෙහි උපන් නොඑක් විවාද මහෝත්සාහයෙන් සන්හිඳවීමෙන් හා දළදා පාත්‍රා ධාතුන් වහන්සේ මහත් උපාය උත්සාහ ශක්තීන් ගෙනැ හැර නානාචිත්‍රයෙන් විචිත්‍රකොට කරවන ලද ත්‍රෛභූමක [7] දංෂ්ට්‍රාධාතුමන්දිරයෙහි වඩා හිඳුවා නිරන්තර කරන පූජා සත්කාරයෙන් හා ආඪ්‍ය දරිද්‍ර අනෙක ශතප්‍රමාණ කුලයන් [8]සුදුසු පරිද්දෙන් රැකීමෙන් හා ලොකශාසනයට මහෝපකාරී වූ විජයබාහු වත් හිමියන් විසින් තන්හි තන්හි කරවන ලද විහාරයන් අතුරෙන් විජයසුන්දරාරාමවිහාරයෙහි වැඩැ හිඳැ ශාස්තෘ ශාසනාභ්‍යුදයකාරි ශාරිපුත්‍ර මහා ස්වාමි ශිෂ්‍ය තත්කාල ශාසනානුශාසක සංඝරක්ෂිත මහා ස්වාමී මේධංකර මහා ස්ථවිර ප්‍රමුඛ ග්‍රාම වාසීවූද, උදුම්බරගිරි නිවාසී මෙධංකර මහාස්ථවිර ප්‍රමුඛ වනවාසිකවූද මහා සංඝයා විසින් ධම්මවිනය සංසන්දනය කොට ඇජරොල් නොවිහිදැ කළ කතිකාවත බොහෝසේ සංඝයාවහන්සේ පවතිමින් සිටි කල්හි එ මැ විජයබාහු වත්හිමියන්ගේ අතිජාත පුත්‍ර වූ ශත්‍රුපඬක සවිශෙෂ විශොෂණයට ශරත් මාර්තණ්ඩ මණ්ඩලවූ ජිනශාසන ක්ෂීර සමුද්‍ර සමුල්ලාසයට පූර්ණචන්ද්‍රානුකාරිත්වයෙහි සාතිශය සාමර්ථ්‍ය ඇති පරාක්‍රම බාහු මහරජාණෝ තමන්ගෙ පුණ්‍යර්ධි [9] ප්‍රභාවයෙන් නොයෙක් ද්‍රවිඩ කේරල යාවකාදි වියවුල්

---

1 ඛ්‍යක්ත 2 කතිකාවතට 3 පැහුණු 4 විහතය.
5 බාහුල්ලය. 6 පුලස්ථි 7 ත්‍රෛභූමික. 8. සුදුසු පුදුසු 9.පුණ්‍ය ඍධි

සන්හිඳුවා සකල ලංකාතලය හස්ත ගතකොට රාජ්‍ය ශ්‍රී අනුභව කෙරෙමින් ශ්‍රීවර්ධන පුරාදි නානා ස්ථානයෙහි ප්‍රතිමාගෘහ ප්‍රාසාද චංක්‍රමණ ප්‍රාකාර ගොපුරාදීන් සමෘඬ වූ සංඝාරාම කැරැවීමෙන් හා බොහෝ සංඝයාවහන්සේට චීවර පිණ්ඩපාත සෙනාසන ගිලානප්‍රත්‍යය ප්‍රදානයෙන් හා විසිතුරු කොට කරවනලද රජතමය චෛත්‍යාභ්‍යන්තරයෙහි නානා රත්නවිභූෂිත ස්වර්ණකරණ්ඩයෙහි දළදා පාත්‍රා ධාතූන්වහන්සේ වඩා සත්තයෙන් කරන ලද පුෂ්පධූපාදී පූජායෙන් හා තමන්ටද බොහෝ ගෘහස්ථ ප්‍රව්‍රජිතයන්ට ද අපරිමිත පුණ්‍යරාශි වර්ධනය කෙරෙමින් වසනුවෝ ඒ ඒ තැන ප්‍රමාදව වසන ශාසනාවචර බොහෝ පුද්ගලයන්ගේ ශාසන පරිහානිකරවූ අප්‍රතිපත්ති දුෂ්ප්‍රතිපත්ති බාහුල්‍යය දැනැ වත්හිමියන් වහන්සේ විසින් මහෝත්සාහයෙන් සෙමෙහි තබාලූ ශාසනය මා දවස මෙ ලෙස වීම අනුචිත වේ දැයි සිතා ග්‍රාමාරණ්‍යවාසී කාරකසංඝයා වහන්සේ රැස්කරවා සංඝ මධ්‍යගතැවැ කල්‍යාණාධ්‍යාශයෙන් යෙදී ශාසනාභිවෘඬිය පිණිස ආරාධනා කළෝ ය. ඒ අසා ශාසනොපස්තම්භකාරී අතථ්‍යානුගත වනරතනාභිධාන බුද්ධවංශ මහාස්ථවිරපාදයන්වහන්සේගේ ප්‍රධාන ශිෂ්‍ය තත්කාල ශාසනානුශාසක ආරණ්‍යක මෙධංකර මහා ස්වාමි ප්‍රමුඛ ග්‍රාමාරණ්‍ය වාසී කාරක මහා සංඝයාවහන්සේ විසින් පූර්ව කතිකාවත් බහා අමුතුකළ කතිකාවත මෙසේ දතයුතු.

"පබ්බාජෙන්තො [1] සොධෙත්වා පබ්බාජෙථ සොධෙත්වා උපසම්පා දෙථ සොධෙත්වා නිස්සයං දෙථ එකොපි හි කුලපුත්තො පබ්බජ්ජංච උපසම්පදංච ලභිත්වා සකලම්පි සාසනං පතිට්ඨාපෙති[4] යි වදාළ බැවින් ප්‍රව්‍රජ්‍යාපෙක්ෂ වැ ආ කුලපුත්‍රයකු ඇත. ඔහු ඇණවුම් සකස්කඩ සතර බණවර ධම්පියා පුහුණුකරවා ලියන කියවන සේ සකසා උගන්වා ගණසංගණිකා හස්සාරාමතාදියෙන් තොරකොට[3]වත පිළිවෙත යොදා එදා මහණ වූ කෙනෙකුන් කෙරෙහිද බලවත්

1 පබ්බාජෙන්තාපි

2.සමන්තපාසාදිකා චුල්ලවග්ගසෙනාසනග්ගාහ විනිච්ඡයවණ්ණනා

3. දුරුකොට

ආදර ගෞරව ඇතිකොට කිසි නුගුණයක් නොඅසන ලෙස ශික්ෂිත කොට වඩා යටත්පිරිසෙයින් තෙර තුන්නමක් ඇතුළුවූ සෙසු උපයුක්ත සංඝයා මධ්‍යයෙහි ජාතිගොත්‍ර විචාරා විධානයෙහි සිටියවුන් දැක්වූ කල උන් විසින් සියල්ල විචාරා රොග බලා ලීම් කියවීම් බලා නායක තැන් දක්වා සියල්ල සැලකොට කුලදෝෂයක් ක්‍රියාදොෂයක් නැතැයි දන්නා සඟ කෙනකුන් ප්‍රතිඥාකළ කල ගම්වාසයට යටත් පිරිසෙයින් දොළොස් හැවිරිදි වයස් වූ [1] හවුරුද්දට හා වනවාසයට තුදුස් හැවිරිදි වයස් වූ හවුරුද්දට වැදවූකල නායක තැනින් උපධ්‍යාය වියයුතු තැනට සුදුසු අවවාද කියා පාවා දිය යුතු.

නො සම්මතයේ මහණකළ තෙරුන්වහන්සේ කෙරෙන් මහණකළ නම අතික් තැනක [2] ලිය යුතු. නැත උත්තේ දඬුවම් කැරවිය යුතු. ප්‍රතිඥාවිරෝධයක් [3] දුට විනයවිරෝධයට සුදුසු සංවාස සම්භොග වළකා උත්තේ දඬුවම් කරවා බඩතුරු සුදුසු තෙනකට පාවාදියයුතු.

උන් විසින් ඒ පඬුපලාසයා කාගියාඝී සෙඛියා චතුපාරිසුද්ධි සීල සතරකමටහත් පුහුණුකරවා අස්වා ශික්ෂිතකොට පඬුපලාසයන් කෙරෙහි බුදුන් වදාළලෙස පිළිපැද කල්පිරුණු කල ඒ ගෙණෙහි සංඝයා රැස්කරවා මහණ කතිකාවත කියවා ගුණ උපන් කල මහණ කටයුතු.

"උපජ්ඣායමූලිකා පබ්බජ්ජා ච උපසම්පදා ච උපජ්ඣා යොච [4] තතථ ඉස්සරොත ආචාරියො" [5] යනු හෙයින් තමහට භාර බැවින් අප්‍රමාදව උන් [6] අභිසමාචාරාදියෙහි විශේෂයෙන් යොදා හෙරණසිඛ පුහුණු කරවා අස්වා හෙරණසිඛයෙහි කී පරිද්දෙන් හික්මවා ග්‍රන්ථ විදශීනා ධූරයෙහි අප්‍රමාදකොට වස්වා මතු බුදුසසන රක්නාලෙස වර්ධනය කටයුතු.

---

1. හවුරුදු වයස් වුව 2. තැනකම 3 ප්‍රඥාවිරොධ
4. සොච 5 සමන්තපාසාදිකා මහවග්ගවණ්ණනා 6. උපන්

හවුරුද්දට අඩුකලක් සමීපයෙහි විසුවද බොහෝ දෙනා දන්නා පරිද්දෙන් සැපත් හැර සැදැහැයෙන් පැවිදිවියටිවැ [1] ආ කෙනෙක්වූ නම් ඇණවුම්[2] සකස්කඩ සතර බණවර ධම්පියා පුහුණුකරවා පෙරකී ලෙසම ජාතිගොත්‍ර විචාරා රොග බලා නායකතැන් දක්වා වඳවා කතිකාබණ පුහුණු කරවා පැවිදි දිය යුතු.

පසුව හෙරණසිඛ වනපොත් කොට එයින් කාගියාසී සතර කමටහන් සෙඛියා චතුපාරිසුඬි සීලයත් සකස් කොට වනපොත් තබා පොහොයෙන් පොහොයේ වනපොත් දී සිල්ගතයුතු.

පසුව කල්බලා සමාදන් වූ ධූතාංගයෙන් යටත්පිරිසෙයින් තුනක් විවර රැකැ තමහට[3] තිසි වත්පිළිවෙත් නොපමාව වැඩියෝ නම් යටත්පිරිසෙයින් හවුරුද්දක් බඩතුරේ විසූනම් ග්‍රන්ථවිදශිනා ධූරයෙහි අප්‍රමාද වූ නම් ඒ ගෙණෙහි සංඝයා මධ්‍යයෙහි මහලු පැවිදි කතිකාවත කියවා ගුණ උපන්කල මහලු පැවිදි කටයුතු. එවට ම ප්‍රථම සංඝදිසෙසය ද පටිග්ගහණ සිඛය ද ඉගැන්විය යුතු.

උපසම්පදාව නම් ශාසනස්ථිතියට මූලවූ ගරුකම්මයක් බැවින් තත්කාලශාසනානුශාසක තැන් මැදවැ හො[4] එතැන් විසින් ඇණවන ලද ව්‍යක්ත විනයධරයන් ඇතිවැ රාජසම්මතයෙන් මිස නානාස්ථානයෙහි උපසම්පදාව නො කටයුතු.

2020/02/02

හෙරණුන්ට හෙරණසිඛ වනපොත් කොට අසා නිමවන තුරු මහලු පැවිද්දන්ට මහලු පැවිදි බණ වනපොත් කොට අසා නිමවන තුරු සන්තිකාවචර කටයුතු බැවින් ඔබ්බකට සමු නොදියයුතු.

මහලු පැවිද්දන් විසින් මුල්සිඛ කතිකාබණ සකස්කොට

1.පැවිදියැටිව  2. ඇතැම්පොත්හි ඌනයි  3. තමන්ට

4. වැදවහොත්

වන පොත් තබා පොහොයෙන් පොහොයේ වනපොත්දී සිබවළඳවිනිස අසා නිමවා සමසින් සමස ආද්‍යන්තකොට සමනා විචාළ තෙනක් කියන ලෙස සකස්කොට සිතට නගා පරිහරණ කටයුතු.

නිශ්‍රයමුක්ත බාහුශ්‍රැත්‍යයට සුදුසු බණ සටීකාකොට අසා නිමවා කල්පිරුණහොත් ගුරුන් විසින් උන්ගේ ධුතාංගධරත්වාදි බොහෝ ගුණ කියා නායක තැනට පාවාදුන්කල[1] උභය ප්‍රාතිමොක්ෂ කුදුසිඛ අර්ථසඞ්ග්‍රහ පරිහරණ කරන ව්‍යාකරණ[2] සූතුරු ධාතුපාඨාත්ථයෙහි[3] අසම්මූඪවැ ඉගෙන වනපොත් දුන් කල කංඛාවිතරණියෙන් තුන් තැනක් හා ඉතිරි සත්පොතින් එකී එකී තැන් පරීක්ෂාගෙනැ නිශ්‍රය මුක්තාංග වනපොත් ගෙනැ මෙසේ ගුණනුවණ පරීක්ෂා කොට නිශ්‍රය මුක්ත සම්මුති දියයුතු. සම්මුති ලත්පසු එතැන්පටන් ප්‍රාතිමොක්ෂාදි යටකී බණ වනපොත් තබා කලින් කල සහමැද වනපොත් දියයුතු.

"භවිස්සන්ති භික්ඛවෙ භික්ඛූ අනාගතමද්ධානං අභාවිතකායා අභාවිතසීලා අභාවිතචිත්තා අභාවිතපඤ්ඤා තෙ අභාවිතකායා සමානා අභාවිතසීලා අභාවිතචිත්තා අභාවිත පඤ්ඤා අඤ්ඤෙ උපසම්පාදෙස්සන්ති. තෙපි භාවිස්සන්ති අභාවිතකායා අභාවිත සීලා අභාවිතචිත්තා අභාවිතපඤ්ඤා" යනාදීන් වදාළ බැවින් භාවිතකායත්වාදියෙන් යෙදී "භවිස්සන්ති භික්ඛවෙ භික්ඛූ අනාගතමද්ධානං අභාවිතකායා -පෙ- අභාවිත පඤ්ඤා තෙ අභාවිත කායා සමානං -පෙ- අභාවිත පඤ්ඤාථෙරා භික්ඛූ බාහුලිකා භවිස්සන්ති සාථලිකා| ඔක්කමනෙ පුබ්බංගමා පවිවෙකෙ නික්ඛිත්තධුරා තෙසං පච්ඡිමා ජනතා දිට්ඨානුගතිං ආපජ්ජන්ති" යනාදීන් වදාළබැවින් බාහුලික සාථලිකාදි වීමෙන් පශ්චිමජනතාව දෘෂ්ටානුගතියට නොපමුණුවා හැමලෙසින් ගුණවත්වැ සිල්වත්වැ පෂ්ඩුපස්ථාපක බාහුශ්‍රැත්‍යයෙන් සම්පන්නවැ විසුවහොත් උන්ගේ ධුතාංගධරත්වාදි බොහෝ ගුණ කියා ගුරුන්විසින් නායක තැනට පාවාදුන් කල යටත් පිරිසයෙන් තෙර බණ සටීකාකොට අසා නිමි පස්වනු හවුරුදු යටකී උභය ප්‍රාති මොක්ෂාදී වනපොත් ගෙනැ

1. කල්හි 2. අත්ථසඞ්ග්‍රහපරිහරණකරණ ව්‍යාකරණයෙහි
3. ධාතුපාඨ පාඨාත්ථයෙහි

පරිපි පචිති දෙපොතින් තුන් තුන් තැන් හා ඉතිරි පස් පොතින් එකී එකී තැන් පරීක්‍ෂා ගෙනැ සථවිරාංග වනපොත් ගෙනැ මෙසේ ගුණානුවණ බලා ස්ථවිර සම්මුති දී ගණ පරිහරණයෙහි යොග්‍යවුවහොත් ගණ පාවාදිය යුතු. පසුව යටකී උභය ප්‍රාතිමොක්‍ෂාදි බණ වනපොත් නොපිරිහෙළා කලින් කල සඟ මැද වනපොත් දියයුතු.

ස්ථවිර නව මධ්‍යම ඇමදෙනා විසින් මැ අනුමානසූත්‍රය හා [1] දසධම්මසූත්‍රය දවසකට එක්විටෙක වීනමුත් බාධානොකොට මෙනෙහි කටයුතු.

කලෙක කටයුතු අවවාද පමණක් පවා තකා [2] උපායාන්තර යෙන් නොතරමුන්ගේ 3 ප්‍රවේශ පරිත්‍යාගය පිණිස "අනුජානාමි භික්ඛවෙ අඨිහංගෙහි සමන්නාගතං භික්ඛුං භික්ඛුනො වාදකං සම්මන්තිතුං සීලවා හොති " [4] යනාදීන් වදාරා දුකසේ සුදුස්සවුන් සොයා ලබන පරිද්දෙන් තබා වදාළ බැවින් මේ විනයයුක්තීන් ප්‍රාතිමොක්‍ෂ සංවර ශීලය ඛණ්ඩාදිභාවයට නොපමුණුවා රක්‍ෂණයෙන් සමන්නාගතවැ මිච්ඡාජීවක පටිසෙධක වෙළුදානාදී රහිත

1.හෝ 2. තකා 3. නොතරුමුන්නේ

4. අනුජානාමි භික්ඛවෙ අට්ඨහඞ්ගෙහි සමන්නාගතං භික්ඛුං භික්ඛුනො වාදකං සම්මන්නීතුං සීලවා හොති පාතිමොක්ඛ සංවරසංවුතො විහරති ආචාර ගොචර සම්පන්නො අණුමත්තෙසු වජ්ජේසු භයදස්සාවි සමාදය සික්ඛති සික්ඛා පදෙසු බහුස්සුතො හොති සුතධරො සුතසන්නිචයො යෙ තෙ ධම්මා ආදිකල්‍යාණා මජ්ඣෙකලයාණා පරියොසානකල්‍යාණා සාත්‍ථං සබ්‍යජනං කෙවලපරිපුණ්ණං පරිසුඩං බ්‍රහ්මචරියං අභිවදන්ති තථාරූපස්ස ධම්මා බහුස්සුතා හොන්ති ධතා වචයා පරිචිතා මනසානුපෙක්ඛිතා දිඨියා සුප්පටිවිඩා උභයානි බො පනස්ස පාතිමොක්ඛානි විත්‍ථාරෙන සවාගතානි හොන්ති සුවිගත්තානි සුප්පවත්තිනී සුවින්චිජීතානි සුත්තසො අනුබ්‍යජනසො කල්‍යාණවාචො හොති කල්‍යාණවාක්කරණෝ. යෙභුයොන භික්ඛුනීනං පියො හොති මනාපො.පටිබලො හොති භික්ඛුනියො ඔවදිතුං න බො පනෙතං භගවන්තං උද්දිස්ස පබ්බජිතාය කාසායවත්‍ථ වසනාය ගරුධම්මං අජක්ධාපන්නපුබ්බො හොති. වීසතිවස්සොවා හොති අතිරෙක වීසතිවස්සො වා-අනුජානාමී භික්ඛවෙ ඉමෙහි අට්ඨහඩෙලහි සමන්තාගතං භික්ඛුං භික්ඛුනොවාදකං සම්මන්නිතුන්ති-

පාචිත්තිය පාළි.ඔවාදසික්ඛාපද

5 සංසෙවය

ආචාරයෙන් ද ශ්‍රද්ධාසම්පන්න කුලාදි ගොචරයෙන් ද සම්පන්න සත්පුරුෂ සංසෙවා[5] සදාදරයෙන් පිටකත්‍රය ඉගැන්ම නැතිවැ පිටකත්‍රය පරිහානියෙන් ශාසන පරිහානිවෙමින් සිටිබැවින් සද්ගුරුන් කෙරෙන් සාත්ථිකථා පිටකත්‍රය ඉගැන්මෙන් බහුශ්‍රැතවැ ඒ ශ්‍රැතය අනන්‍යකාර්‍ය්‍යවැ ලෙහිලා ධැරීමෙන් ශ්‍රැතධරවැ ඒ ධාරිතය චිරකාලයෙහුදු අවිනාශනයෙන් ශ්‍රැතැසන්නිචයවැ -

"පියො ච ගරුභාවනීයො වත්තා ච වචනක්ඛමො
ගම්භීරං ච කථං කත්තා නො චට්ඨානෙ නියොජයෙ"[1] යි

කියන ලද පරොපදේශක ගුණයෙන් නොපිහිරී අචල කායවාක් සමාචාරයෙන් සමෘඬවැ බාහුලික සාථලිකාදි නො වැ කම්මාරාම භස්සාරාම නිද්දාරාම ගණ සංගණිකාරාමයෙන් විරතවැ විවෙකකාමීවැ -

"අත්තානමෙව පඨමං පතිරූපෙ නිවෙසයෙ
අථඤ්ඤ මනුසාසෙය්‍ය න කිලිස්සෙය්‍ය පණ්ඩිතො"[2] යි

වදාළ ලෙසින් පිළිපැද මධ්‍යස්ථවැ නායක තැනට අනුකූලවැ වසන කෙනකුන් විසිපස් පිරුණහොත් තුන්රජයේ සංඝයාගේ අනුමතියෙන් ත්‍රි සිංහලයට එකාතපත්‍රවැ රජකරන[4] මහරජාණන් ලවා වඳවා මහා ස්ථවිරපදෙවිය[5] දී ගම්වාසයට මා හිමියන් වහන්සේට ඉක්බිති කොට තිබියයුතු.

මෙකී ගුණනුවණ ඇතිවැ ආරණ්‍යක සියල්ලන්ට වඩා ආරණ්‍යක[6] ප්‍රතිපත්තියෙහි යෙදී සියලු ආරණ්‍යක සංඝයාට ආදශීවැ සිට උන් ඒ ඒ පිළිවෙත යොදාලියහෙන තෙනක් යටකී පරිද්දෙන් මහතෙර කොට වනවාසයට මා හිමියන් වහන්සේට ඉක්බිති කොට තිබිය යුතු.

මෙකී ගුණනුවණ ඇතිවැ ආරණ්‍යක සියල්ලන්ට වඩා ආරණ්‍යක[6] ප්‍රතිපත්තියෙහි යෙදී සියලු ආරණ්‍යක සංඝයාට ආදශීවැ සිට උන් ඒ ඒ පිළිවෙත යොදාලියහෙන තෙනක් යටකී පරිද්දෙන් මහතෙර කොට වනවාසයට මා හිමියන් වහන්සේට ඉක්බිති කොට තිබියයුතු.

බහුනායකත්වය නම් ශාසනවිලෝපයට එකාන්ත හේතු

---

1.විසුද්ධිමග්ගකම්මට්ඨානගහණනිද්දෙස.මෙහි අගපදය 'නියොජකො' යි ද පැනේ
2.ධම්මපද ඃ අත්තවග්ග 2. ගා 3.විසිත් වස් 4. එකාතපත්‍රකරන
5.පදවිය. 6. අරණ්‍යක

බැවින් මේ මහතෙර දෙතෙන [1] මුත් අන් කිසියම්ම තෙනක් මහතෙර නොකට යුතු.

මාහිමිතෙන අයාමෙක වුවමනා වී නම් මේ දෙතෙනින්ම යෙදෙන තෙනක් එලෙසින් මාහිමි කටයුතු.ගුණනුවණ ඇති දරුගම් වටනා පස ආදියෙ [2] නුහුණු ලාභ ගරුක නොවන ශාසනපක්ෂපාත තුන් රජයෙහි සංගමු ගණ වැසි ගම් ප්‍රසිද්ධ බැවින් ඒ ගම්හි අඛණ්ඩ සන්තතින් ආ ශික්ෂිත තෙර තනතුරුපත් කෙනකුන් නායකතෙන අදහසින් සංඝ සම්මුති රාජ සම්මුතීන් අයතැනට පැමිණවියයුතු.

මේ තරම්වැ තෙනක් නිශ්‍රයමුක්ත වුවද මුළ කැමති වුවද අයතැන් වැළතට හා මාතෙරුන් මුළ නැදී [3] පිරිවෙන් ආදිවූ බලවත් පිරිවෙනට ද සංඝ සම්මුති රාජ සම්මුතීන් ම තැකියයුතු.

සෙසු නොයෙක් දරුගම් වටනා පස ඇති පිරිවෙනට සුදුසු ගුණ නුවණ ඇති බඩතුරු ආභිසමාචාරිකයෙහි යොදා හික්මවිය හෙන තෙරනිසමුක්ත තෙනක්ම නායකතැන් දක්වාලියයුතු.

ගණදෙටු තෙරුන් විසින් තමතමා නිසා වාසය කරන අන්තෙවාසික සද්ධිවිහාරිකයන් අතුරෙන් නිසදෙන්නට නිසයෙන් මිදෙන්නට යොග්‍යවූ වසනවුන් [4] ග්‍රන්ථධූරයෙහි යොදා යටත් පිරිසයෙන් යට කී උභයප්‍රාතිමොක්ෂාදිය පිරිහෙළිය නොදී ගණසංගණිකාදීන් දුරුකොට ග්‍රන්ථ ධූරයෙහි යෙදෙන්නවුන් විසිනුදු සත්තයෙන් විවේකවත් පිරුව මැනැවැයි වදාළ බැවින් තුන්වේලෙහි ඉරියවු සමනා කාගියාසි ආදිවූ කමටහනෙක්හි යෙදී අත්වැඩ පරවැඩ සැධිය යුතු.කීපරිද්දෙන් ග්‍රන්ථධූරයෙන් වැඩියක් කොටගත නොහෙන අන්තෙවාසික සද්ධිවිහාරිකයන් ලවා යටකී විවේක වත් පුරවා ශක්තිපමණින් 4 හදාරා නිමිකල චරිතානුකූලවූ කමටහන් උගන්වා විදර්ශනාධූරයෙහි යොදා චතුසම්පජඤ්ඤ කථායෙහි වදාළ.

1.දෙතම 2. ආදියෙන් හුණු 3. නැදි 4. වඩනවුන් 5. ශක්ති පමණක්

පරිද්දෙන් කැරවිය යුතු.

40.

ස්ථවිර නව මධ්‍යම හැමදෙනා විසින් ම වැදූ මවුපියන් දෙන්නාට හා ඔවුන්ගේ ම කුසෙහි ඔත්තවුන් ඇත. ඔවුන්ට හා තමා හා එක කුසයෙහි හොත් කනවැන්දඹු නඟුන් බූනුන්ට හා සබ්‍රම්සරුන් මෙහෙකරුන් පිණිස අහර සිඟා යන ගමනක් හා මෙකීවුන් රොගීවුව උන්ට බෙහෙත් හා සබ්‍රම්සරුන්ට බෙහෙත් පස සිඟා යන ගමනක් හා පැවරූ තෙනට පිරිතට යන ගමනක් මුත් අන්කිසි කටයුත්තකට කාල විකාලයෙහි ඇත්ගමට නොයා යුතු ගිලානාදී කෘත්‍යයෙන් සමුදෙත්හොත් අව්‍යක්තයන්ට[1] සමුදෙන ආචාර්‍ය්‍ය උපාධ්‍යායන්ට දුකුළා ඇවත් වදාළ බැවින් පොහොපවුරුණු ආපත්ති අනාපත්ති මාත්‍රයක් දන්නා ව්‍යක්ත[2] සඟකෙනකුන් [3] මුල්කොට සමුදියයුතු ඔවුනොවුන්ට රක්‍ෂාවන ලෙස වැඩිමාලු තෙනක් ඇතිව මුත් බාලයන් හැරගෙනැ ඒ ඒ තෙනට නො යායුතු.

නන් ගණයෙකින් ආ සඟකෙනකුන් තමා කෙරෙහි වස්වත් හොත් ගෙණෙහි තෙරුන්ගෙන් සම්මතයක් හෝ පත්කඩයක් හෝ පැවිදිකෙනකුන් දැක මුත් [4] නොරැඳවිය යුතු. කටයුත්තකින් එළඹෙන මඟී පැවිද්දන් විසින් පසිලිපැල් පිළිමගේ ඈ කැපකෙනෙක්හි ම ලැඟුම් ගතයුතු.

හැමවේලෙහිම කිපි සිතින්වත් කෙළනා සිතින්වත් කිසිවක්හු හා නොබිණියයුතු.

මවුනුදූ වුව පිළිසත් තෙනකවත් [5] පිළියෙහිවත් විසභාගයන් හා [6]

තනිවැ සිට නොබිණියයුතු.

යටත්පිරිසෙයින් මවුන් කන තුබු පතකුදු භාණ්ඩාගාරික ශිෂ්‍යයෙන් පටිසාමනය නොකටයුතු.

---

1.අබ්‍යක්තයන්ට 2. ව්‍යක්ත 3. සඟනමක් 4. නො දැකමුත්
5.වත 6. විසභයන්හා 7. ආචාරි 8. සෙරවාස

වැඩිතරම් කටයුත්තකමුත් දෙමසින්වඩා ආචාර්‍ය්‍ය[1] උපාධ්‍යයන් කෙරෙන් වියොවැ සෞචරීවාස [2] නොකටයුතු.

සම්මතයක් ලද තෙනක්මුත් ඒ ඒ තෙන අසම්මතවැ බණ නොකියයුතු.

ගෘහස්ථයන්ට සොලෝ ආදිය බැඳ නොකියයුතු

කාව්‍ය නාටකාදී ගර්හිත විද්‍යා තමා නුගතයුතු. අනුනුත් නුගැන්වියයුතු.

වැඩිමහල්ලන් නොදන්වා මෙහෙකරුවන්ට දැහැවිල නොවියයුතු.

DK 52

තමා අයිති දෙයකුදු මහල්ලන් අනුනොදන්වා අනුන්ට නොදියයුතු.

ගමන් යන්නක්හු විසින් මහලු සබ්‍රම්සරුන්ගේ තෙමීනස්නට නිසි පිරි කරක් අත්හි ඇත්මුත් අතුරෙහි වැසි ඇතද පියවි ගමනින්ම නොතෙමෙන තෙනකට එළඹියයුතු. එබඳු පිරිකරක් ඇතද සරුප් වෙලෙවියකින්ම යායුතු.

"කොමාරකමිදං භික්ඛවෙ අරියස්ස විනයෙ අතිවෙලං යදිදං දන්තවිදංසකං හසිතං"[3] යි වදාළ බැවින් සිනාවට නිසිකරුණෙක්හි බාලයන්සේ දත් වැහැරැ[4] පමණක් දැක්විය යුතු.
හඬවිහිද සිනානොඝී මුව වසා සතුටු පමණක් දැක්විය යුතු.

තමා වසන වෙහෙර සන්හිඳෙන අධිකරණ බැහැරට නොපහළ කටයුතු. අන්වෙහෙර සන්හිඳෙන අධිකරණ තමා නො ඉසිලිය යුතු.

---

1.ආචාරී
2.සෞරවාස.
3.අංගුත්තර සම්බොධිවග්ග පංචම සුත්ත
4.වැර

"සල්ලෙඛං අච්චජන්තෙන අප්පමත්තෙන භික්ඛුනා
කප්පියෙපි න කාතබ්බා ආමිසජ්ඣාය ලොලතා"[1]-යි.

වදාළ බැවින් කුපපසයෙහිදු ලොල්බව නොකට යුතු.

දහගබ් මහබෝ අමදිමින් ගඳදුම්මල්[2] ඈ පුදමින් දැහැටු වළඳමින් පා කස්සේ ලමින් සිට නොබිණිය යුතු.

ඇත්ගම්හි ගිහිමිනිසුන් හා පස පිළිබඳ කථාද පිටත් කථාද[3] නොකටයුතු.

"ඉධෙකච්චො සඞ්ඝතොපි අචිත්තීකාරකතො ථෙරෙභික්ඛු ඝට්ටයන්තොපි නිසීදති ඨිතකොපි භණති බාහා වික්ඛෙපකොපි භණති-පෙ-කුමාරකස්සපි සිරං පරාමසති."[4]යි අනාචාර නිර්දේශයෙහි වදාළ බැවින් සඟමැදට එළඹියහු විසින් සබ්‍රම්සරුන් වෙරින් එච් සිවුරෙන් එච් නොසැටිය යුතු. මහලු සඟුන් හා බිණුවමනා කරුණක් ඇත. ආදර දක්වා නොළංවැ නැමී සිට අත්නොවනා බිණිය යුතු කිසිතෙනෙක්හිදු කුමරුන් වෙර අත්ලා නොසැනවිය යුතු.

බොහෝ තෙනින් බස් උපන් පමණින් ප්‍රසාත කාර්‍ය්‍ය සිඬිය[5] යුහුව නොවන බැවින් නායක තෙනින් උපන් ධර්‍මවිනයානුකූල වචනයට තනිවැ සුදුසු ලෙසමුත් ඉස්වටා නොබිණියයුතු. ගොතා සොලො ආදිය කීකල සතුටුවැ ශ්‍රඬාර්දය විනිපාතයෙන් වන ඇවැත් නොබලා දානාධ්‍යාශය විනා වස්ත්‍රාදි පරිත්‍යාගයෙන් තමාත් නින්දිතවැ පශ්චිම ජනතාවත් උත්පථයෙහි නොයෙදිය යුතු.

පොහොවිනා චාතුර්‍වර්ගීකරණීය කර්‍මයක් යටත්පිරිසෙයින් අටනමක් ඇතිවැ කටයුතු.පවුරුණු විනා පංචවර්ගී කරණීය කර්‍මය යටත් පිරිසෙයින් දසනමක් ඇතිවැ කටයුතු. විංශතිවර්ගී කරණීය කර්‍මය තිස්නමක් හෝ පන්තිස්නමක් ඇතිවැ කටයුතු.

දහගබ් මහබෝ ආචාර්‍ය්‍ය උපාධ්‍යාය මහලු සබ්‍රම්සරුන් කෙරෙහි බලවත් ගෞරව එළවා තුන්වේලෙහි වැන්දයුතු.

---

1. සඟරුවන් 2. ගඳ දුම්මල් පහන් 3.විසභාගකථා ද.
4. විසුඬිමග්ග සීලනිද්දෙස කායික අනාචාර වණ්ණනා 5. කාරියසිඬිය

පොහෝකරන දවස් ඒ ඒ ගෙණෙහි සඟුන් හුන් හුන් තෙතින් ගුරුන් සමීපයට එළැබ සියලු පොහෝවත් සපයා දහගබ් මහබෝ මහලු සබ්‍රම්සරුන් පත්කඩ තබා වැද බලවත් ගෞරව එළවා ධර්මාසනය පනවා ප්‍රාතිමොක්‍ෂොද්දෙශකයන් වඩා හිඳුවා හැමඅතින්ම උන්ට අභිමුඛවැ හිඳ ආදරයෙන් පාමොක් ඇසියයුතු.වදාළ අන්තරායක් නැතහොත් පාමොක් විස්තරයෙන්ම උදෙසියයුතු.

යාවකාලික යාමකාලිකයන් සැකනැතිකොට පිළිගත් කැපකිළියකම[1] තබා අනුභව කටයුතු.ලාභාංශායෙන් පොලොබන පිණිස තමාගේ ඇති නැති හෝ ගුණ ගොතා සොලෝ ආදිය කීකල සතුටු වැ ශ්‍රඬාදෙය විනිපාතයෙන්වන ඇවැත් නොබලා දානාධ්‍යාශය විනා වස්ත්‍රාදි පරිත්‍යාගයෙන් තමාත් තින්දිතවැ පශ්චිම ජනතාවත් උත්පථයෙහි නො යෙදියයුතු.

කෙළින් සිවුරක් ලද වැළඳගතඇකි [2] තරමේම රඳා අතුළ යුතු. කඨිනචීවරුප්පාදයෙහි පටන් ආනිසංසමාසාවසානය දක්වා අතුරෙහි විරුඬ ප්‍රතිපත්තීන් වන පාරාජිකාවසාන ආදීනව මහත් බැවින් කෙළින් සිවුරෙහි පවත්නා විධිධ විවිධ පළිබොධයද අෂ්ටවිධවූ කඨිනොඬාර මාතෘකාවද පංචවිධ ආනිසංසයද සකස්කොට ඉගෙනැ උගන්වා පැවැත්තයුතු.

වැඩිතරම් ලාබයක් ලද තැන් විසින් ඒ ලාභයෙන් අන්තෙවාසිකාදීන්ට සිවුපසයෙන් එාසුකොට පයර්‍ාප්ති ප්‍රතිපත්තියෙහි යොදා තමාත් බුදුසස්නත් රක්නාලෙස කරත්මිස ක්‍රයවික්‍රය කොට කැප අකැපදෙය රැස්කොට තමාත් ඇසුරුකළවුනුත් නොනැසියයුතු.

දැස්දස් කෙත්වත් වැවු ගෙරි මී ආදියක් පිළිගන්නා කල ලජ්ජී පෙශල ශික්‍ෂාකාමී නුවණැති කෙනෙක් හා කථාකොට ඒතැන් කී පරිද්දෙන් පිළිගතයුතු.

උපාසකවරුන්ගේ පසය වළඳාවත් නොවළඳාවත් කෙළින් සිවුරු අටපිරිකර ආදී කිසිවක් ගෙත්තම් රැදීම් ආදී කොට නොදිය යුතු.

ගම ගෙවල් පිළිගෙන එකරයකුදු වාසනොකටයුතු.

සිවුරු ආදී කිසිවක් ක්‍රයවික්‍රය නොකටයුතු.

1. පිළියෙකම 2.හැකි

යම් කෙනකුත්ගේ ප්‍රමාදයෙක් පෙනේනම් ඇමදෙනා එක්වැ ගෙනැ උන් ප්‍රමාදයෙන් වළක්නාලෙස කරත්මුත් දෙපක්‍ෂව ගෙනැ උන්වත් සස්නටත අවැඩවනලෙස නොකටයුතු.

උපාසක ජනයාට පිළියම් ආදී ආවර මේවර කොට කුල දූෂණය නොකටයුතු.

වටවිල් ආදි කස් ලෝ වට ලොහ භාණ්ඩ සාංඝික කොට විහාරයේ තබා අනුභව කරත් මිස යන එන තැනට ගෙනැ ගොස් පරිභෝග නොකටයුතු.

සිරක්නා සිරක්නී උපාසක උපාසිකාවරුන්ට ගුණසාගරය දානපතිය යනාදී නම් තිබීමෙන් පොලොබාගෙන එතෙන පටන් යම්ම ලාභයක් අතික් තෙනකට පිරිනැමුවාත් නොනැමුවාත් තමාටම එළවන නියායෙන් කොට ජීවිකා කිරීමෙන් තමාත් තමා ඇසුරුකළ වුනුත් නොනැසිය යුතු.

හුදැලු වැ පොරෝ ආදිය පුද්ගලික කොට පරිහරණය නොකට යුතු. දෝලි ආදි යානයන් පුද්ගලික කොට අනුභව නොකට යුතු.

නොයෙක් විකාර ඇති කිලිලවට අඳුන්කරඬු ආදිය පරිහරණය නොකට යුතු. මොනරපිල් ආදියෙන් පිරියම් කළ වහන් ඒ නිරවශේෂ කොට හැරමුත් පරිභොග නොකටයුතු.

කුලදරුවන් මහණ කරවම්හයි ශාසනමය නොදන්නා සැදැ ඇති කුලයන් පොලොබාගෙන සිවුරු පිලී ආදිය ලැබගෙනැ ඉන් [1] සිවුරු කොට හෝ නොකොට හෝ මහණකරවාගෙනැ එතැන්පටන් සිවුරු පිලී දුන්නවුන් දෙමාපිය තනතුරේ තබා දීමෙන් කැමෙන් සුවඳුක් බැලීම් ආදිය කරවා මහණ වූ සඟනුත් තමාත් පශ්චිම ජනතාවත් නසා ශාසන දූෂණය නොකට යුතු.

මහලු සබ්‍රම්සරුන් කෙරෙහි පිරියයුතු වත් බුදුන් වදාළ ලෙස පුරා වාසයකටයුතු. අන්තෙවාසික සද්ධිවිහාරිකයන් විසින් ආචාර්‍ය්‍ය උපාධ්‍යාන්ට කළමනා වත් නොපමාව කටයුතු. ගිලන්වුව උන්ට [2] කළමනා වතුත් ආචාර්‍ය්‍ය උපාධ්‍යායන් නොපමාව කටයුතු.

1 ඊ 2. ගිලන්වූවන්ට

මහලු පැවිදි තෙර තිසමුක්ත පිරුවත් මුළු පූජාකරවම්හයි තුසුදුසු පරිද්දෙන් නොඑක්දෙන සමාදන්කරවා වියත් පිලි බෙර ආදිය නොසැපවියයුතු.

චීවරාදියෙහි ආශායෙන් මහණ මහලු පැවිදිකොට අනුන්ට නොදිය යුතු.

ගිහිපටිසංයුත්තය නම් ගිහින් ක්ෂමාකරවා දෙසුව මනා බැවින් යටත් පිරිසෙයින් සමීපයෙහි වසන අභියුක්තයාටත් ජාත්‍යාදීන් සටා නොබිණියයුතු.

අරුණින් පරිච්ජින්නවූ යම්ම විනයසූත්‍රාන්තගත පිළිවෙතක් පුරණකල කායකි්‍රාවසානයෙහි යටත් පිරිසෙයින් එක් දෙපැයකින් අරුණුනැගෙනලෙසමුත් අරුණෝද්ගමනාසන්නයෙහි නොකට යුතු.

යම් තෙනක ලැගුම් ගෙයක් කරවා ඉඳුත්හොත් විහාර පරික්ෂෙපය හා ග්‍රාමපරික්ෂෙප මධ්‍යයෙහි යටත්පිරිසෙයින් දෙකටසනක් 1 පමණ අවසර හැර කරවාගෙන විසිය යුතු. එසේ වසනකලත් ඇතුළෙහි පිටත සිටියවුන් ඔවුනොවුන් නොපෙනෙන සේ ඒ ඒ තෙනින් මැඩැගෙන වැද්ද නොඇකිසේ සත කොට උස්නොව පරික්ෂෙප කරවා නොවේලෙහි දොරටුවෙන් වදනා කෙනකුන් තෙරුවන් වහන්සේ දක්වා 2 මිස නොවදනා ලෙස කටයුතු.

රජ යුවරජ ආදි ග්‍රහස්ථයන් සමීපයෙහි සබ්‍රම්සරුන්ගේ ගුණ නුවණ කියා පස නොඑළවියයුතු. එසේ එළවූ පසය උන් විසිනුත් දැනැ නොවැළඳියයුතු.

යටත් පිරිසෙයින් තමා නිසා වසන මිනිසකුත් ප්‍රඥප්තිශික්ෂාපදයෙන් හෝ අවවාද ශික්ෂාපදයෙන් හෝ තෙලේ නොවටනේ යයි කීකල උෟ කෙරෙහිවත් උෟ කී ධර්මයෙහිවත් අනාදර නොකටයුතු.

---

1. දෙකඬසනක් 2. දැකැ

මාතෘපිතුපළිබොධයකින් හො එතෙන නොසන්හිදෙන කිසි රෝගයකින් හෝ ග්‍රන්ථ විදර්ශනාධුරයක් නොලබන්නෙන් හෝ [1] අනික් ලජ්ජිපෙශල නුවණැති තෙරකෙනකුන් සමීපයට සමු ඉල්වූ අන්තෙවාසික සඞිවිහාරිකයන්ට බාධානොකොට එතෙන වැස තොපගේ කටයුතු සපයාගනුවයි අවවාදකොට සමුදියයුතු.

ඔවුනොවුන් කෙරෙහි රොෂයක් ඇතිවැ එක දවසකුත් නොව සම්හයි සිහිනුවණ එළවා විසියයුතු.

මහණකොට ගන්නා කැමැතිවැ අකුරුකරවත් මිස උපාසකවරුන්ගේ දරුවන් අකුරු කරවා පරිහරණය කොට උන් දෙන පසය නොවැළඳිය යුතු.

උපන් රෝගය නිසා යකුන්කෙළවීම් බලිතිබීම් බලිබත් කියවීම් ආදි නොසරුප් දෑ නොකට යුතු.

බොහෝ කලක් නට පැවිදි ඇතිවැ ග්‍රහස්ථ ප්‍රව්‍රජිතයන්ගේ වැඳීම් ඉවසා උන් දෙන පසය නිර්භීතව අනුභවකොට නට හිරි ඔතප් ඇතිවැ විසූ කෙනෙක් එම වෙස සිටවත් ගමට ගොස් අවුත් වත් හෙරණ පැවිද්දෙහි සිටිනා කැමතිවූ නම් බොහො කලක් ආසෙවිත පාපයෙන් විරමණය බැරි බැවින් උන් මහණ නොකළමනා නියාව දතයුතු.හෙරණ පැවිදි කෙනෙක් එසේම විසූනම් උන් නැවත හෙරණ පැවිද්දත් මහලු පැවිද්දත් ලදින් රැක පියති යනු සැකකටයුතු බැවින් උන් කෙරෙහි උදාසීන විය යුතු.

මණ්ඩනසීලි නොව බැලූ බැලුවනට රිසියෙන කාය වාක් සමාචාරයෙන් යෙදී විසිය යුතු.

තමා යෙහෙන පමණක් ධුතාඞ්ග සමාදන් විය යුතු. ත්‍රිවිධ සන්තොෂයෙන් එක්තරා සන්තෝෂයකින් සන්තුෂ්ටවිය යුතු. ඇති ශීල ශ්‍රැතාදී ගුණ පතළකිරීමයයි කියනලද මහෙච්ඡාතාවද නැති ගුණ පහළකිරීම කරන පාපෙච්ඡතාවද ලද ලද දෙයක් තබා අනිකෙක අනිකෙක තෘෂ්ණාව යයි කියන ලද අත්‍රිච්ඡතාවද විශේෂයෙන් ම

1. නොලබන්නේ හෝ

දුරු කටයුතු. එක්විසි අන්වෙෂණයද දෙතිස් වැදෑරුම් තිරස්චීන කථාද සත්විසි මදයද සිල් වෙළොගන්නා සූතිස් යෝධයන්ද පුහුණුකොට වනපොත් තබා ඒ පාපයෙන් දුරුව විසිය යුතු.

ස්ථවිර නව මධ්‍යම හැම සංඝයා විසින්ම චතුසම්පජඤ්ඤයෙන් යුක්ත නිදිසෙවුමින් සිරිරු සතපා අලුයම නැඟී සිල්බලා කමටහන් හි 1 යෙදී හිඳ සිට සක්මන් කිරීමෙන් දවස්යවා පුහුණුගත් පිරිවරා සිවුරු සකසා හැඳ පෙරවැ දැහැටි කිස නිමවා දහගබ් මහ බෝ අඟනා වතුදු ඇදූරුවත් තෙරවත් ගිලන්වත් සෙනසුන්වත් ඈ වතුදු සපයා උපනහොත් බොජුන්හල් එළඹැ කැඳිති වළඳා බොජුන්හල්වත් සපයා ඉක්බිති පත්පොත් බලනුවන් ගෙත්තම් රජත්තම් කරනුවන් ඈ ඉක්මන් කටයුත්තක් ඇත්තවුන් මුත් සෙස්සවුන් කැඳිති වැළඳූ ඉක්බිත්තෙහි කමටහන්හි යෙදී දවස්යවා [2] පස්බත්හිදු කී නියායෙන් ග්‍රන්ථ විදර්ශනා ධුරයෙහි යෙදී ග්‍රහස්ථ ප්‍රව්‍රජිතයන් හා සංසඨිනොවැ වත්වේලා [3] දක්වා දවස්යවා ඉරියවු නොපෝනා කරුණක් ඇත්මුත් වත් පිරිතට එළැඹී රුස්වූවන් විසිනුදු 'සන්නිපතිතානං වො භික්ඛවෙ වයං කරණීයං ධම්මීවාකථා අරියොවා තුණ්හී භාවො [4] යි වදාළ බැවින් ධර්මකථා මනස්කාර දෙකින් පිටත් තිරශ්චීන කථා හා කාමවිතර්කාදි පාපවිතර්කයෙහි නොයෙදී පෙරයමද බණ කියත කියවන අසන ධර්මකථාකිරීම් ඈ නොසිස් පියොවින් හා විදර්ශනා ධුරයෙන් ගෙවා මැදියම්යම සැපත් සඳ චතුසම්පජඤ්ඤයෙන් යුත් නිදිසෙවියයුතු.

පොහොයෙන් පොහොය හැමදෙනාම කතිකාවත කියවිය යුතු.මේ කතිකාවත යම්කෙනෙක් දැනැ දැනැ නොපවතිත් නම් ගණදෙටු තැන් විසින් ආපත්ති කරදෙයට ආපත්ති දෙස්වා දඬුවම් කරවා සෙසු ආචාර විපත්තියට ද දඬුවම් කරවා නැවත එලෙස නොකරන ලෙසට තරයේ අවවාදකොට සබ්‍රම් සරුන් නිවන් අවසන් කොට ඇති උභයලොකාත්ථ සිඬිය වන ලෙස කටයුතු.

**කතිකාවත නිමි.**

---

1.කමටහනින් 2. යවනු 3. පසවේලා
4.මජ්ඣිමනිකාය වග්ග අරියපරියෙසන සුත්ත

ලජ්ජීන්වහන්සේ නිසා බුදුසසුන් රැකෙති දන්නා සංඝපරිණායකතැන් එක්තැන්ව මහලු පැවිදි කැමැති හෙරණ පැවිද්දන් සංඝ මධ්‍යයට එළවා උපාධ්‍යායන් විසින් මුන් උපසම්පදාවට සුදුස්සෝයයි ප්‍රතිඥාකොට පාවාදුන් කල මෙසේ විචාර ගතයුතු.

"මේ පැවිද්දෝ සම්පූර්ණ විංශතිවර්ෂයෝද ? බුඩාදිරත්නත්‍රයෙහ ද තමන් විසින් පිරිය යුතු ශික්ෂායෙහිද ශ්‍රඩාසම්පත්තීන් යෙදී වෙසෙද්ද? සුවචයෝද ? යටත් පිරිසයෙන් අවුරුද්දක් පමණ කල් තමන් ගුරුන් නොහැර වෙසෙමින් සිටියෝ ද ? තමන් විසින් සමාදන් වූ ගුණධර්ම ඛණ්ඩාදි භාවයට නොපමුණුවා සොත්සාහිවැ රක්ෂාකෙරෙද්ද ? තමන් යෙහෙන පමණක් ධූතාංග සමාදානය කොට වෙසෙද්ද ? හෙරණසිඛ වනපොත්කොට අසා නිමවූද ? කතිකාබණ වනපොත්කොට අසා නිමවූද? මහලු සබ්‍රම්සරුන් කෙරෙහි පිළි පදනා වත් දැනැ සිත තබා ඒවූ පරිද්දෙන් වෙසෙද්ද ? අදින්නාදාන පාරාපිකායෙන් සංඝයක් නූපදවා විසූද? උපන් අධිකරණයක් වෙහෙසනොදී ප්‍රකාශකෙරෙද්ද ? කලහකාරී නොවෙද්ද ? මණ්ඩනසීලි නොවෙද්ද ? චතුර්විධ ප්‍රත්‍යයෙහි වදාළ සන්තෝෂයෙන් තමන්ට සුදුසු ලෙස සන්තුෂ්ටවෙද්ද ? ගුරුන් ආදීන්ට කළමනා වත් පිළිවෙත් සරුවෝද ? බැලූවනට රිසියෙන කායවාක් සමාචාරයෙන් යෙදී වෙසෙද්ද ? තමන්ට ප්‍රතිතියතවූ ග්‍රන්ථධුර විදර්ශනාධුරයෙහි නොපමාව වෙසෙද්ද? ග්‍රන්ථධුර පුරන්නෝත් ඇසිල්ලක් විදශීනාධුරත් පුරා වෙසෙද්ද? රාජභට නොවෙද්ද? සිවුරු නොහළුවෝද? විචාරයෙන් මහණවූද? ජාති ගෝත්‍ර විරොධයෙක් නැද්ද? නිරෝගියෝද? කතිකා බණ වනපොත් නියාදැ" යි මෙසේ විචාරා තුන්හවුරුද්දක් උපාධ්‍යායන් සමීපයෙහි වසම්හයි ප්‍රතිඥකරවා උන්ට මහලු පැවිදි දී ශාසනාභිවෘඞී කටයුතු.

මහණවන පඬුපලාසයන් අවුරුද්දක් සමීපයෙහි වස්වා මහණ කරනකල ගෙණෙහි සංඝයාවහන්සේ රැස්කරවා සඟමැදට එළවා ගුණ කියා පාවාදුන් කල මෙසේ විචාරා ගතයුතු.

මේ දරු ප්‍රත්‍යයෙහි ලොල්බවක් නැත්තෝද? ලදදෙයකින් යැපෙද්ද? කලහකාරීනොවෙද්ද? පංචශීලය අඛණ්ඩකොට රක්‍ෂා

කෙරේද්ද? මහා සංඝයාවහන්සේ කෙරෙහි ආදර ගෞරව අත්තෝද? නුසුදුසු කාරියෙක නොයෙදී වෙසෙද්ද? ක්‍රීඩාපර නොවෙද්ද? අකුරුකීමෙහි නොපමාව වෙසෙද්ද? කතිකා බණ පුහුණුකොට නිමවූ දැයි විචාරා ගුණකියා ගෙණෙහි සංඝයා පාවාදුන්කල මහණ කටයුතු.

ආචාර්‍ය්‍ය[1] උපාධ්‍යායන් විසින් තිසබණ තෙරබණ පරීක්‍ෂා දෙන්නවුන් ගුණකියා නායකතැන් සමීපයට එළවූකල වස් පිරිණි දැයි විචාළයුතු. පාරාජිකා සංඝාදී සෙසයෙක් ඉපැද නොසන්හුන් වස්තුයෙක් නැද්දැයි විචාළයුතු. ඇසූ බණ විචාළයුතු. වනපොත්බණ විචාළ යතු. ඇසූබණ සටිකාකොට ඇසූයේ ඇද්දැයි විචාළයුතු. අසන තැන් කී ගුරුන් විචාළයුතු. සිලි හා පරිනිර්‍වාණ සූත්‍රය ඇසූයේ ඇද්දැයි විචාළයුතු. මෙසේ විචාරා වනපොත් ගතයුතු. බණ තුන් තුන් තැනින් වනපොත් ගෙනැ කතිකාවූ පරිද්දෙන් පරීක්‍ෂාගෙනැ ශාසනාභිවෘඬි කටයුතු.

1. ආචාරි

# 3

# කීර්ති ශ්‍රී රාජසිංහ කතිකාවත

අප බුදුන් කල්පශතසහස්‍රාධික චතුරසංඛ්‍යපරිමිත කාලයක් සමතිස් පැරුම් පුරා මාරසංග්‍රාමභූමිවූ මහාබෝධි පර්‍යංකාරූඪව දූර්වාර සපරිවාර මාර පරාජය කොට සර්වඥපදප්‍රාප්තව පන්සාලිස් අවුරුද්දක් චාතුර්ද්වීපක මහාමෙඝයක් සෙයින් වැඩසිට අනවරාග්‍ර සංසාරවෘත්තයෙහි[1] ක්ලේශාග්නීන් දග්ධවෙමින් සිටි සත්වයන් ධර්මාමෘත වර්ෂායෙන් නිවමින් සකල බුද්ධකෘත්‍ය නිමවා කුසිනාරා නුවර අබියෙස්හි මල්ලරාජයන්ගේ සාල වනෝද්‍යානයෙහි නිරුපධි ශෙෂ නිර්වාණධාතුයෙන් පිරිනිවී සාරසිය සූපනස් හවුරුද්දක් ගිය කල වළගම්අභා මහරජහු දවස පටන් එක්වාදහස් දෙසිය සූපනස් හවුරුද්දක් භින්නනිකායව ශාසනය පිරිහෙමින් සිටි කල්හි මහා සම්මතාදි පරම්පරානුයාත සූර්‍ය්‍යවංශෝද්භූත රාජාධිරාජ නෛක දික්හි ව්‍යාප්ත යශොමරීචීන් විරාජමාන ශ්‍රීසංඝබොධි ශ්‍රීපරාක්‍රමබාහු මහරජාණන් සකල ලංකාතෙලෙහි එකරාජ්‍යාභිෂෙකයෙන් අභිෂික්තව විජෘම්භිත පුණ්‍යර්ධි ඇතිව රාජ්‍යසුඛානුභව කොට වසනුවන් අඥාන දූර්ඥාන මූලක අප්‍රතිපත්ති දුෂ්ප්‍රතිපත්ති විෂවෙග විහත ව අපාය ව්‍යසනාපන්නවන ශාසනාවචර කුලපුත්‍රයන් දැක සුපරිශුද්ධ බුද්ධ ශාසනයෙහි මාවැනි ආඥචක්‍රවර්තියක්හු මෙවැනි කිලුටක් දැක දැක උදසීන වුවහොත් බුදුසස්න නස්සී බොහෝ සත්හුදු අපාය භාග් වෙති. පස්වාදහසක් පවත්නා බුදුසස්නට මා වහල් වුව

1.අනමතාග්‍රසංසාරවෘත්තයෙහි

මැනවැයි ප්‍රඥාපූර්ස්සර කරුණායෙන් සචොදිත හෘදය ඇති ව මෙසේ නට සසුන් කවුරුන් වහල් කොට වවා පස්වාදහසක් පවත්නා පරිද්දෙන් කෙරෙම්දෝහොයි සිතා අඛණ්ඩාච්ඡිද්‍රතාදි විවිධ ගුණගණාංග සංගත කොට රක්ෂිත වර්ඩිත පොෂිත ශීලස්කන්ධාදි ලෞකික ගුණරත්නාලංකාරයෙන් සමලංකෘතවූ උදුම්බරගිරිනිවාසී මහා කාශ්‍යප මහා ස්ථවිර ප්‍රමුඛ මහාවිහාරාධිවාසි මහා භික්‍ෂු සංඝයා දැක ඔවුන් වහල් කොට බුදුන් විසින් අනුඥත මොග්ගලි පුත්තතිස් මහතෙරුන් වහල්කොට අනෙක සහස්‍ර පාපභික්‍ෂූන් නිර්මමථනය කොට දූර්ලබ්ධි මැඩ ශාසන මල විසොධා[1] තෘතිය ධර්මසංගායනා කැරැවූ ධර්මාශෝක මහරජුහු මෙන් අනෙක ශත පාපභික්‍ෂූන් ශාස්තෘශාසනයෙන් අපගත කොට ෂඩභිඥද්‍යනෙක ගුණගණොපෙත මහාක්ෂීණාශ්‍රවයන් ඇති කල්හිදූ පවා පූර්වරාජයන් විසින් මහොත්සාහයෙන් සමග කොට ගතනුහුණු තුන්නකා සමග කිරීමෙන් එක් නකා කොට ජේතවනමහාවිහාරාදි නොඑක් මහ ඇගි විහාර ලක්දිව තන්හි තන්හි කරවා නිරන්තර ප්‍රවෘත්ත ධර්මාමිෂදනයෙන් උපස්ථාන කෙරෙමින් සංසදර්ශන ප්‍රභව ප්‍රීතිප්‍රාමොද්‍ය රසාස්වාදයෙහි ලොල්ව කාලානු කාලයෙහි පෞෂතාභශීල සමුපෙත ව විහාරයට එළඹ සංඝමධ්‍යගතව තත්දශීන ප්‍රසූත ප්‍රීතිප්‍රාමොද්‍ය රසාස්වාද කොට මා විසින් මහොත්සාහයෙන් සාධිතවූ සංඝසාමග්‍රිය පස්වාදහසක් අභින්නව පවත්නා පරිද්දෙන් මතුවන සංඝයාද අප්‍රමාදව ග්‍රන්ථ විදර්ශනාධූර යෙහි යෙදී අල්පේච්ඡතාදි ගුණයෙන් යුක්ත ව වසනා පරිද්දෙන් අවවාද අනුශාසනාකොට ශාසනය රක්ෂාකළමැනැවැයි යුක්තව්‍යක්ත ගුණොපෙත ව කරනලද ආරාධනා අසා මහාකාශ්‍යප මහාසථවිර ප්‍රමුඛ සථවිරයන් විසින් ප්‍රමාදවිහාරින් අවකාශ නොලබනු සඳහා ධර්මවිනය සංසන්දනය කොට ඇජරොල් නොවිහිද කළ කතිකාවත එම මහරජාණන් සවර්ගස්ථ සංවත්සරයෙහි පටන් සතිස් හවුරුද්දක් ඇතුළත ඔවුන් වැනි ශ්‍රද්ධාබුද්ධි සම්පන්න මධ්‍යස්ථ ශාසන පක්ෂපාත අන්කිසි රජක්හුගේ නොපැලඹීමෙන් යටවූ දවසට වඩා පැනුණු පූර්වෝක්ත අඥාන දූර්ඥාන මූලක අප්‍රතිපත්ති දූෂ්ප්‍රෘති පත්ති විෂවෙගාතිශයෙන් වඩා විහතව අපායව්‍යසනාපන්නවන ශාසනාවචර කුල පුත්‍රයන්ගේ බාහුල්‍යය දැක ඔවුන්ට වියයුතු වැඩ තකා තත්කාලානුකූල අමුතු කතිකාවතින් සරහා ලොකශාසන විලොපකාරීවූ දෙමළ සේනාවෙහි හයින් පුලස්තිපුරාදි පුරාතන සථානයෙන් ඉගිළ

1.මලය සොධා

බොහෝ සේ පත්පොත් ආදි පිරිකර තුබූ තුබූ තැන හැර ශරණාන්වේෂිව මායාරජයට පැමිණි මහාසංඝයා වහන්සේට චීවරාදි චතුර්විධ ප්‍රත්‍යය ප්‍රදානයෙන් හා පර්‍ය්‍යාප්ති ප්‍රතිපත්තිදෙක්හි යෙදීමට උපනිශ්‍රයවීමෙන් හා සංඝයාවහන්සේ කෙරෙහි උපන් නොඑක් විවාද මහොත්සාහයෙන් සන්හිඳවීමෙන් හා ශත්‍රුමධ්‍යගත දළදාපාත්‍රා ධාතුන්වහන්සේ මහත් උපාය උත්සාහ ශක්තීන් ගෙනහැර නානා චිත්‍රයෙන් විචිත්‍රකොට කරවනලද ත්‍රෛභූමක දංෂ්ට්‍රාධාතුමන්දිරයෙහි වඩා හිඳුවා නිරන්තර කරන පූජාසත්කාරයෙන් හා ආඪ්‍ය දරිද්‍ර අනෙක ශතප්‍රමාණ කුලයන් සුදුසුපරිද්දෙන් රැකීමෙන් හා ලොකශාසනයට මහොපකාරිවූ විජයබාහු වත්හිමියන් විසින් තන්හි තන්හි කරවන ලද විහාරයන් අතුරෙහි විජයසුන්දරාරාමවිහාරයෙහි වැඩහිඳ ශාස්තෘ ශාසනාභ්‍යුදයකාරී ශාරිපුත්‍ර මහාස්වාමී ශිෂ්‍ය තත්කාල ශාසනානුශාසක සංඝරක්ෂිත මහාස්වාමී මෙධංකර මහාසඑවිර ප්‍රමුඛ ග්‍රාමවාසීවූද උදුම්බරගිරි නිවාසි මෙධංකර මහාස්ථවිර ප්‍රමුඛ වනවාසිකවූද මහා සංඝයා විසින් ධර්‍මවිනය සංසන්දනයකොට ඇජරොල් නොවිහිද කළ කතිකාවත බොහෝසේ සංඝයාවහන්සේ පවතිමින් සිටිකල්හි එම විජයබාහු වත්හිමියන්ගේ අතිජාත පුත්‍රවූ ශත්‍රුපඬ්ක සවිශෙෂ විශෙෂණයට ශරත් මාතීතණ්ඩමණ්ඩලවූ ජිනශාසනක්ෂීර සමුද්‍රසමුල්ලාසයට පූර්‍ණචන්ද්‍රානුකාරිත්වයෙහි සාතිශය සාමාර්ථ්‍ය ඇති පරාක්‍රම බාහු මහරජාණෝ තමන්ගේ පූර්ණෛර්ධී ප්‍රභාවයෙන් නොයෙක් ද්‍රවිඩ කෙරල යාවකාදි වියවුල් සන්හිඳුවා සකල ලංකාතලය හස්ථගතකොට රාජ්‍යශ්‍රී අනුභව කෙරෙමින් ශ්‍රීවර්ධන පුරාදි නානා සඑානයෙහි ප්‍රතිමාගෘහ ප්‍රසාද චංක්‍රමන ප්‍රාකාර ගොපුරාදීන් සමෘඬවූ සංඝාරාම කැරවීමෙන් හා බොහෝ සංඝයාවහන්සේට චීවර පිණ්ඩපාත සෙනාසන ගිලානප්‍රත්‍යය ප්‍රදනයෙන් හා විසිතුරු කොට කරවනලද රජතමය චෛත්‍යාභ්‍යන්තරයෙහි නානා රත්න විභූෂිත සවර්‍ණකරණ්ඩයෙහි දළදාපාත්‍රා ධාතුන් වහන්සේ වඩා සතතයෙන් කරනලද පුෂ්පධූපාදී පූජායෙන් හා තමන්ටද බොහෝ ගෘහස්ථ ප්‍රව්‍රජිතයන්ටද අපරිමිත පුණ්‍යරාශි වර්ධනය කෙරෙමින් වසනුවෝ ඒ ඒ තැන ප්‍රමාදව වසන ශාසනාවචර බොහෝ පුද්ගලයන්ගේ ශාසනපරිහානිය කරවූ අප්‍රතිපත්ති දුෂ්ප්‍රතිපත්ති බාහුල්‍යය දැන වත්හිමියන් වහන්සේ විසින් මහොත්සාහයෙන් සෙමෙහි තබාලූ ශාසනය මා දවස මෙලෙස වීම අනුචිත වේදැයි සිතා ග්‍රාමාරණ්‍යවාසි

කාරකසංඝයා වහන්සේ රැස්කරවා සංඝමධ්‍යගතව කල්‍යාණධ්‍යාශයෙන් යෙදී ශාසනාභිවෘද්ධිය පිණිස ආරාධනා කොළෝය. ඒ අසා ශාසනොපස්තම්භකාරි අර්ථානුගත වනරත්නාභිධාන බුද්ධවංශ මහා සථවිරපාදයන්වහන්සේ ප්‍රධාන ශිෂ්‍ය තත්කාල ශාසනානුශාසක ආරණ්‍යක මෙධංකර මහාස්වාමී ප්‍රමුඛ ග්‍රාමාරණ්‍ය වාසී කාරකමහා සංඝයාවහන්සේ විසින් පූර්ව කතිකාවත් බහා අමුතු කළ කතිකාවත සංඝයා වහන්සේ පවතිමින් සිටි කල්හි, එයින් මෑතභාගයෙහි කෝට්ටේ නුවර ශ්‍රී පරාක්‍රමබාහු මහරජදවස ශාසනය අභිවෘද්ධියට පමුණුවා නොයෙක් පරිද්දෙන් ශාසනෝපකාරිය පැවැත්වූ පසු දැන් මෙකල් දක්වා මෙදෑතුර ඔවුන් වැනි ශුද්ධාබුද්ධිසම්පන්න ශාසනපක්ෂපාත අන්කිසි රජක්හුගේ නොපැලඹීමෙන් ක්‍රමක්‍රමයෙන් පිරිහීගොස් සියලු ලක්දිව එක භික්ෂුනමකුත් නැතිව සාමණෙර ගණනක් අවශේෂව එයිනුදු සමහර ලජ්ජිපෙශල ශික්ෂාකාමී තැන් හැර සෙසු බොහෝ දෙන නක්ෂත්‍ර වෛද්‍යකර්මය යක්ෂප්‍රලය ආදිවූ බුදුන් විසින් එපාකරවදළ නින්දිත ශාස්ත්‍ර ඉගැන්මෙන් රාජ රාජ මහාමාත්‍ය සෙවනයෙන් ග්‍රාමක්ෂෙත්‍රාදී තනතුරු ලබාගැන්මෙන් ගොවිතැන් වෙළෙඳාම් ආදිවූ නොයෙක් අකතීතව්‍යයෙහි යෙදී ඥාතිකුලසංසථව පුත්‍රදර පොෂණශීලීව ශාසන පිළිවෙත් පිරිහීගොස් විනාශමුඛ ප්‍රාප්තව සිටිකල්හි, අන්ධකාරයෙහි පැනනැඟි තෙජො කදම්භයක් මෙන් ශ්‍රී බුද්ධවර්ෂයෙන් දෙදූස් දෙසිය අනුවන වර්ෂයෙහි ලංකා රාජ්‍ය ශ්‍රීයට පැමිණ වදළාවූ ප්‍රවර සූය්‍යවංශ උදයාචලොදිත සූය්‍යමණ්ඩලායමානවූ ශ්‍රීමත් ශ්‍රී කීර්තිශ්‍රීරාජසිංහාභිධාන අප මහරජාණන් පූර්වොපචිත කුසලානුභාවයෙන් එකච්ඡත්‍රතංවා අසදෘශාඥතෙජොබල පරාක්‍රම සමන්විතව සෙංඛණ්ඩශෛලාභිධාන ශ්‍රීවර්ධන පුරප්‍රවරයෙහි වසමින් ජිනවර ශ්‍රී දන්ත ධාතුන්වහන්සේ උදෙසා සුරේන්ද්‍රකිරීට ප්‍රතිභාග මුක්තාමාණික්‍යාදි නෛකරත්න කර්මාන්තොජ්වලිත මාහැඟි රුවන්කරඬු රත්නාභරණ ග්‍රාමාක්ෂේත්‍ර හස්ත්‍යශ්වාදී අවිඥාතක සවිඥාතක වස්තු පරිත්‍යාගයෙන් මහත් උදරතර පූජෝත්සවය පැවැත්වීමෙන් හා මහ්‍යංගන සමන්තකූට පර්වත අනුරාධපුරාදි නොයෙක් සිද්ධසථානවල පූජාසත්කාර පැවැත්වීමෙන්ද, සද්ධර්මශ්‍රවණ ලෙඛාපන ධාරණාදිවූ අනෙකප්‍රකාර සවර්ගාපවර්ග සම්පත්ති ප්‍රදයක අපරිමිත කුසල රාශි වර්ධනයෙහි යෙදී වදරා වසනුවත් පූර්වොක්ත ක්‍රමයෙන් ශාසනාධාර උපසම්පද සංඝයාවහන්සේ නැතිහෙයින් බුද්ධශාසනයේ නොපැවැත්ම

හෙතුකොටගෙන අපායභාග්වන ලංකාද්වීපවාසී අශෙෂජනතාව කෙරෙහි පැවති මහත් කරුණාධ්‍යාශයක් ඇතිව ලංකාධිපති පූර්වනරවීරයන් විසින් මහෝත්සාහයෙන් පවත්වා ආ සර්‍වඥශාසනය මා දවසත් එසේම වර්‍ධන කොට පැවැත්විය යුතුය යන ශ්‍රද්ධාපූර්‍වඞම මහත් රාජාභිමාන උපදවා පස්වාදහසක් පවත්නා විශුද්ධ බුද්ධ ශාසනයට සහායව පවත්වාලමි යන ප්‍රඥාපුරස්සර උදාරාධ්‍යාශයෙන් යෙදී වදාරා ශාසනාභිවෘද්ධියට පටන්ගෙන මහාවංශයෙහිවූ එසිය එක්වන ශාසනාභිවෘද්ධි පරිච්ඡේදයෙහි කී ක්‍රමයෙන් නොයෙක් දහස් ගණන් කුලදරුවන් මහණ මහලු පැවිදි කරවා ලක්දිව නානා ස්ථානවල සංඝාරාම විහාරාදි නොයෙක් විසිතුරු විහාර සංඝාරාම ඇතිකොට එහි වසන මහාසංඝයාවහන්සේට මහවතුරුසේ පවත්වනලද චීවරාදි ප්‍රත්‍යයදනයෙන් සංග්‍රහ කිරීම් ආදී වශයෙන් අප්‍රමාණ කුශලරාශි වර්‍ධනයෙන් යෙදී වසමින් මෙසේ මාදවස මහොත්සාහයෙන් දූකසේ මා විසින් ඇතිකරගත් භික්ෂූන් වහන්සේ අප්‍රතිපත්ති දුෂ්ප්‍රතිපත්තීන් දුරුව මනා ප්‍රතිපත්තියෙහි පිහිටා ශාසනය නිර්මලව පැවැත්වීම විනය පර්‍යාප්තිය මුල්වම වනහෙයින් ඇම දෙනාවහන්සේම සමගිව විනයපෙළ අටුවා සහිතව බලා සාකච්ඡා කිරීමෙන් පූර්‍වකතිකාවතුත් බලාගෙන මෑතභාගයෙහි වරදවාගෙන පැවත ආ නුසුදුසු කාරණාවලින් දුරුවනසැටිත් එහිම ඇතුළත්කොට ලියාගෙන ඒ කතිකාවතවූලෙස මනා පිළිවෙත්හි යෙදී ශාසනය නිර්මලව පැවැත්වියයුතුය" යනාදි බොහෝ අවවාද වදරා හැම සංඝයා වහන්සේම ග්‍රන්ථවිදර්ශනාධූරයෙහි යෙදී අල්පෙච්ඡතාදි ගුණ සම්පන්න සංඝමධ්‍යගතව කරන ආරාධනාව අසා ප්‍රමාදවිහාරීන්ට අවකාශ නොදෙන පිණිස තත්කාල ශාසනානුශාසක සංඝරාජ ධූරන්ධර සරණංකරාභිධාන මහාස්ථවිර ප්‍රමුඛ ග්‍රාමාරණ්‍යවාසී කාරකමහාසංඝයාවහන්සේ විසින් පවත්නාලෙස නියමවූ කතිකාවත මෙසේ දතයුතු.

"පබ්බාජෙන්තා සොධෙත්වා පබ්බාජෙථ-පෙ-චත්පිරිතට එළඹ රැස්වූවන් විසිතුදු සන්නිපතිතානං වො භික්ඛවෙ වයං කරණීයං ධම්මී වා කථා අරියො වා තුණ්හීභාවො" යි වදාළ බැවින් ධර්මකථා මනස්කාර දෙකින් පිටත් තිරශ්චීන කථා හා කාම විතර්කාදි පාප විතර්කයෙහි නොයෙදී පෙරයමද බණකියන කියවන අසන ධර්මකතා කිරීම් ඇ නොසිස් පියෙවින් හා විදර්ශනා ධූරයෙන් ගෙවා මැදිම්යම

1. තෙජො කඳක්මෙන්

පත්සඳ චතුසම්පජඤ්ඤයෙන් යුත් නිදිසෙවියයුතු.

පැවිදිතැන්විසින් දෙමවුපියන්ට උපකාරකිරීම අනුදත් බැවින පතා හිටිත් නම් තමා නිසා ලද කැප ප්‍රත්‍යයෙන් සංග්‍රහ කිරීමත සෙසු නෑයන්ට අනුදත් ලෙස විනයානුකූලව ඖෂධයෙන් පමණක කරන සංග්‍රහයක් හැර සෙසු රන් රිදී තඹ මිළ වළලු මුදු ආදී පලඳනා ද ගම් බිම් කෙත් වත් ගව මහිෂ දැසි දස ධාන්‍යජාතීන් හා කැති උදලු වෑ පොරෝ තඹ -ලොහො-පිත්තල භාජන ද ඇඳ පුටු කළාල් පැදුරු කොට්ට කුලිච්චම් පිළිපත් ආදී කැප අකැප දෙයින් නෑ නොනෑයන් දහම් වරදවා සංග්‍රහ කිරීමෙන් සඞාදෙය්‍යවිනිපාත නො කටයුතු.

පැවිදිතැන් අයති පොත් පත් සිවුරු පිරිකර ආදිවූ දෙය ඒ ඒ ආරාමවල තබා ශිෂ්‍යපරම්පරාවට අයිති වීමෙන් ඉදිරි ශාසනයට ම උපකාරවන ලෙස කිරීම මිස උවදුරක් නැති ව නෑ නොනෑ කෙනකුන්ගේ ගම්වල තබා ඔවුනුත් ඒ ප්‍රත්‍යයන් නො නැසිය යුතු.

පැවිදිතැන් අයති පොත් පත් සිවුරු පිරිකර ආදි සියල්ල ගිහි වීමෙන් ද කාලක්‍රියා කිරීමෙන් ද සංඝසන්තක වන බැවින් සිවුරු හැර ගිහිභාවයට පැමිණෙනතැන් විසින් පැවිදිව සිට ලත් දෙයින් කිසිවක් ගෙන නො යා යුතු.

භික්ෂූන් විසින් කැප අකැප වස්තු දී ගම් කුඹුරු මිලයට උකසට ගැනීම ද ඇමැතිආදීන්ට කියා අමුතු ගම් කුඹුරු ඉල්වා ගැනීමද ප්‍රත්‍ය පිණිස වැව් අවුණු බැඳ ඇළ වේලි නහා කුඹුරු අස්වැද්දීම ද සී සෑවීම් වැපිරවීම් ආදිය නොකටයුතු.

ඒ ඒ විහාරවලට නියත වූ විහාරලාභගම් ඒ ඒ විහාරවප කටයුතු පිරිමසා එහිම හිඳ ප්‍රයෝජන විඳීම මිස අමුතු තැනකට ගෙන්වා ගෙන නොගතයුතුය.

සිවුපසය පිණිස මෙ ගම දෙමි කියා දුන් ගම් බිම් ද එල ප්‍රයෝජන පිණිස මෙ වතු පිටි එල රුක් දෙමි කියා දුන් වතු පිටි එල රුක්ද පස්ගෝරස පිණිස මෙ ගව මහිෂයන් දෙමි කියා දුන් ගව මහිෂයන් ද කැප බස් කියා දුන් බැවින් භික්ෂූන් විසින් ප්‍රයෝජන වින්ද යුතු.

මෙහි දඹදෙණි කතිකාවතට ඇතුළත්වූ කොටස පෙය්‍යාල මුඛයෙන් දැක්වීමු. මේ සංස්කරණයේ 8-24 පිටු බලන්න.

දායකයන් විසින් කැපබසින් නො කියා නුඹවහන්සේට මෙ ගම දෙමි මෙ වතු පිටි දෙමි මෙ ගව මහිෂයන් දෙමි කියා අකැපලෙසින් දුන් ගම් බිම් ආදිය ප්‍රයෝජන විඳීම හැම සංඝයාට ම අකැපහෙයින් නො වළඳා හැරිය යුතු.

රාජරාජමහාමාත්‍යාදී උපාසක කෙනෙකුන් විසින් භික්ෂූන් වහන්සේට මෙ රන් -රිදී -තඹ මිලයෙන් කැප දෙයක් ගෙන දෙව යි කියා ආරාමිකයකු අතට හෝ උපාසකයකු අතට හෝ දී නැවත භික්ෂූන් වහන්සේ කරා එළඹ අසවල් කැපකරුවා අත මෙ පමණ මිලයක් අපවිසින් දීලා ඇත. නුඹ වහන්සේට කැප දෙයක් ඕහට දැන්වූ විට ගෙන දෙන්නේය. ඕහට දැන්වුව මැනැවැ යි කී කල එලෙසින් දන්වා ඔහු ගෙන දුන් කැප දෙයක් ප්‍රයෝජන විඳිනවා මිස කොයිලෙසිනුත් රන් රිදී නො පිළිගත යුතු.

සියලු ම සාමණේර උපසම්පදතැන් විසින් තමතමන්ට පින් පිණිස ධර්මය ලියනවා මිස බරපැන් පිණිස කොයි යම් නමක් වත් පොත් පත් නො ලිය යුතු.

ලියන්නට ම නිසි කරුණක් පැමිණියේ වී නම් සංඝසම්මුතියෙන් ම ශාසනයට ම වන ප්‍රයෝජනයක් ම සලකා ආරාධනාවෙන් වී නමුත් පොත් ලිය යුතු.

පොහොයෙන් පොහොයේ හැම දෙනම කතිකාවත කියවිය යුතු.

මේ කතිකාවත යම් කෙනෙක් දැනදැන නො පවතිත් නම් ගණ දෙටු තැන් විසින් ආපත්තිකර දෙයට ආපත්ති දෙස්වා දඬුවම් කර සෙසු ආචාරවිපත්තියට දඬුවම් කරවා නැවත එලෙස නො කරන ලෙසට තරයේ අවවාදකොට සබ්‍රම්සරුන් විසින් නිවන් අවසන් කොට ඇති උභයලොකාර්ථසිඩිය වන ලෙසට කටයුතු.

# 4

# රාජාධිරාජසිංහ කතිකාවත

අප බුදුන් සාරාසංඛ්‍ය කප්ලක්‍ෂයක් මුඑල්ලෙහි දසපාරමිතා වත් පුරා ලොවුතුරා බුදුව සියලු බුඬකෘත්‍යයන් නිමවා කුසිනාරා නුවරදී පිරිනිවී දෙසිය සතිස්වන වර්‍ෂයෙහි ලක්දිව සසුන් පිහිටි තැන් පටන් වළගම්අබා රජු දක්වා නිර්මලව පැවත එ රජු දවස භින්නනිකායව එතැන්පටන් එක්වා දහස් දෙසිය සූපනස් වර්ෂයක් ගිය පසු පොළොන්නරුපුර රජසිරිපත් මහලු පැරකුම්බා මහරජාණන් දවස මහොත්සාහයෙන් ශාසනය ශුඬ කරවා සංඝසාමග්‍රිකොට මතු පවත්නා පිණිස අමුතු කතිකාවතකුදු කරවා පැවැත්වූහ. ඉන්පසු රජසිරිපත් පෘථුවිපාලයන් විසිනුදු එකලට පැවැති ශාසනාර්බුද ශුඬකොට කෝට්ටේ භුවනෙකබාහු මහරජාණන් දක්වා පැවැත්වූහ. ඉන්පසු ශාසන මාමක ශ්‍රඬාවන්ත රජදරුවන්ගේ අභාවයෙන් සමහර ශාසනාවචර පුද්ගල කෙනකුන් නක්ෂත්‍ර වෛද්‍ය යක්ෂප්‍රලයාදී අකතීව්‍ය කිරීමෙන් ශාසනය පිරිහී සාමණේර ගණනක් අවශිෂ්ට වූ පසු අශරණ ශරණ කරුණා මෛත්‍රී ගුණොපෙත විශුඬ බුද්ධාංකුර වූ උතුම් කීර්ති ශ්‍රී රාජසිංහ දෙවිමහරජාණන් ශ්‍රී බුද්ධ වර්ෂයෙන් දෙදහස් දෙසිය අනූවෙනි වර්ෂයෙහි සිරිලක රජ පැමිණි හාත්පසින් පරිහානියට පත් බුදුසසුන් දැක ශාසන මාමක අශරණ ශරණ ශරණාකරාභිධාන සාමණේරවහන්සේ සහායකොට ගෙන ශාසනාභිවෘඬි කෙරෙමි යන උදාරාධ්‍යාශයෙන් යෙදී මාහැඟි පඬුරු

පාක්කුඩම් සහිත ඇමතිවරුන් දෙශාන්තරයවා සියාම් දෙශයෙන් මහාසංඝයා වහන්සේ වඩාගෙනවුත් ලක්දිව් වාසී සියගණන් කුලදරුවන් මහණ මහලු පැවිදි කරවා ශාසනාභිවෘද්ධිකොට තමන් විසින් මහෝත්සාහයෙන් දුකසේ තනාගත් බුදුසස්න තමන් දවසම පළමුසිට පැවත ආ නක්ෂත්‍ර වෛද්‍ය යක්ෂ ප්‍රලය ආදී අකතීව්‍ය ක්‍රියාවන් උගත් සමහර ශ්‍රද්ධානැති ශාසනාවචර පුද්ගලයන් දැක ඔවුන්ගේ පරිත්‍යාගය පිණිස පුරාතන කතිකාවතකුදු පවත්වා පන්තිස් හවුරුද්දක් රාජ්‍ය ශ්‍රී වළඳා ස්වර්ගස්ථවූ පසු එම රජතුමාණන්ගේ සහෝදර භ්‍රාතෘවූ ශ්‍රද්ධා ශ්‍රැත ත්‍යාග ප්‍රඥාදි විවිධ ගුණරත්නාභරණ විභූසිතවූ උතුම් ශ්‍රී රාජාධිරාජසිංහ අප දෙවිමහරාජොත්තමයාණන් ශ්‍රී බුද්ධ වර්ෂයෙන් දෙදස් තුන්සිය සූවිසිවන වර්ෂයෙහි සකල නගර ශ්‍රීන් විරාජමාන ශ්‍රීවර්ධන පුරයෙහි අසදෘශ රාජ්‍යශ්‍රීපදප්‍රාප්තවූ සත්වෙනි වර්ෂයෙහි ශාසනා වතාර සමහර ශ්‍රද්ධානැති හිරිඔතප් රහිත පුද්ගලයන්ගේ බාහුල්‍යතායෙන් ශාසන දූෂණ වන පරිදි අසා එබඳු අප්‍රතිපත්ති දුෂ්ප්‍රතිපත්ති හැරවීම අනන්තාපරිමෙය බුදුවරයන්ගේ කෘත්‍යයක් බැවින් මමද ඒ බුද්ධ කෘත්‍යයට ඇතුළත්වෙමියි යන කරුණාධ්‍යාශයෙන් යෙදී උභය විහාර වාසී මහාසංඝයාවහන්සේ මංගලමඩපයට රැස්කරවා එබඳු දුෂ්ප්‍රතිපත්ති හරවන පිණිස යෙදුණු ධර්මවිනයානුකූල මහ ආඥාව මුල්කොට උභයවිහාරවාසි මහාසංඝයාවහන්සේ විසින් ව්‍යවස්ථා කරනලද කතිකාවත මෙසේ දතයුතුය.

උපසම්පද සාමණේර කොයියම් තැනක්වත් ග්‍රන්ථ විදර්ශනාධූරද්වයෙන් එකෙක යෙදී නිසගන්ට තිසිකෙනෙක් ඇත.නිස ගෙන ගුරුකෙනකුන් ආශ්‍රයකොට වසනවාමිස නිසමුක්තාඟ සම්පූර්ණ නොවනතුරු සෙරිචාරිව නොවැසිය යුතු. එසේ වසන තැන් විසිනුදු වතට පිරිතට එළඹෙමින් ගුරු උපාධ්‍යායන් වහන්සේලාට සුවච කීකරුව විසියයුතු.

කාලවිකාලයෙහි ඇතුළුගමට යනකල නායක අනුනායක ආදී දැනමිති තැනකට අසවල් කරුණ නිසා යනවාය කියා දන්වා දෙනමක්ම යායුතු.

මහවාසලට සැලකරන දෙයක් රදළවරුන් ඉදිරියේ කියන කරන දෙයක් නායක අනුනායක තැන් ලවා කියවනබව මුත් නොදන්වා නොකියයුතු.

පංච සහධාම්මිකාදි විනයෙහි පෙනීතිබෙන අයට කරන වෙද කමක් මිස පිටත් කෙනකුට වෙදකම් නො කටයුතු.

නකත්කිම් ආදී එක්විසි අන්වෙෂණයෙන් ජිවත් නොවියයුතු.

මීට පළමුවෙන් මේ එක්විසි අන්වෙෂණයෙන් උපන් ප්‍රත්‍යයක් ඇත විෂමිශ්‍ර භෝජනයක් මෙන් දුරු තටයුතු.

ස්ථවිර නවක මධ්‍යම සාමණේර යන කොයිනමක් විසින්වත් රන්රිදී ආදිය කැපකරුවන් විසින් කරදෙන දෙයක් ප්‍රයෝජන විදිනවා මිස අකැප වස්තු පිළිනොගතයුතු.

කැපකරුවන් විසින් කරදෙන දෙයක් මුත් කැප අකැප වස්තු උකහට පොළියට නොදියයුතු.

කැප කරුවන් විසින් ණයට පොළියට දුන් දෙය තම තමන් විසින් අයකරනොගත යුතු.

නෑ නොනෑ ගිහීන් ප්‍රතිබද්ධ කොයියම්ම කෙනකුන්ගේ වත් නඩුහබ කියන පිණිස වලවුවලට නොයායුතු.

යම් කෙනකුන්ගේ ප්‍රමාදයක් පෙනේනම් හැමදෙනා එක්වගෙන ඔවුන් ඒ ප්‍රමාදයෙන් වළක්නාලෙස කරත්මුත් දෙපක්ෂවගෙන උන්ටත් සස්නටත් අවැඩවන ලෙස නොකටයුතු. ඔවුන් විසිනුදු එසේම සමගිව කීකළදෙය පිළිගතයුතු.

යක්ෂ ප්‍රලයකිරිම් අංජනම්එළිය ඇරිම් මන්ත්‍රපුරවා සොරුන් ඇල්වීම් තිමිති පේන කීම් ආදී ගර්හිත විද්‍යා නොකටයුතු නූගතයුතු.

කැපකරුවන් කැපලෙසින් කරදෙන දෙයක් මිස තම තමන් විසින් කෘෂි වණිගාදි කර්මාන්ත නොකටයුතු.

.දැනදැන මේ ව්‍යවස්ථා වරදවා හැසිරෙන නමක් ඇත්නම් ඒ නම බුද්ධාඥා රාජාඥා දෙකම ඉක්මවා වසන හෙයින් එබඳු හිරිඔතප් නැති තැත් ශාසන වෙෂධාරිව සිටින්ට අවසර නොදියයුතු.

# 5.

# කීර්ති ශ්‍රී කතිකාවත නමින් ද හැඳින්වෙන සංඝරාජ කතිකාවත

සැලකිය යුතු:

මෙය සහකාර ප්‍රවෘත්ති නිලධාරීව සිටි P.N මැදගොඩ මහතා සතුව තිබුණු පුස්කොළ පොතකින් "රසවාහිනි " සඟරාව 1963 ඔක්තෝබර් කලබත්,1964 ජනවාරි කළබත් සඳහා පිටපත් කැරුණේ D.H. අබේසිංහ හුදීන් විසිනි. මෙය මුද්‍රණයේ දී එහි පැවති වැරදි අක්ෂර වින්‍යාසය නිවැරදි කොට වරහන් තුළින් ද අධෝ ලිපි මගින් ද ඉදිරිපත් කරනු ලැබේ.

ශ්‍රීමත් ශ්‍රී ජිනේන්ද්‍ර සුගත තථාගතවර ධර්ම චක්‍රවර්ති ස්වාමී වූ අප තිලෝගුරු ගෞතම බුදු රජාණන් වහන්සේ සාරාසංඛ්‍ය කල්ප ලක්ෂයක් මුළුල්ලෙහි සමත්‍රිංසත් පාරමී [1]ධම් පූරණය කොට තුසිත පුර සන්තුසිත නම් දෙවු රජුව ඉපිද දිව්සිරි [2]වළඳමින් සිටි සඳ දස දහසක් සක්වල දෙවිබඹුන්ගේ අයජමෙන් [3]පස්මහ

1.සමත්‍රිංසත් පාරමී ,දසපාරමිතා, දස උපපාරමිතා, දසපරමත්ත පාරමිතා යන තිසකි. 2.දිව්සිරි නොව දෙව්සිරි - දිව්‍යශ්‍රී

3. අයජමෙන් අයැදීමෙන්

බැලුම් බලා කිඹුල්වත් පුර සුදසුන් මහ රජහු නිසා මහාමායා දෙව්රැජිනිය කුස පිළිසිඳගෙන දසමස් ඇවෑමෙන් මහබඹුන් දෝතට බිහිව වැඩිවිය පැමිණ එකුන්තිස් වයස ගෙවා මහාභිනික්මන් කොට බෝධිද්‍රුමමූලයෙහි දී සපිරිවාර මාර පරාජය කොට යාමත්‍රයෙහි [1] ඥාණත්‍රය ලදින් ලොවුතුරු බුදුව පන්සාලිස් වසක් මුළුල්ලෙහි සියලු බුද්ධ කෘත්‍යයන් කොට නිමවා කුසිනාරා නුවර මල්‍ල රජ දරුවන්ගේ සල්වෙනෙහි දෙසල්තුරු මැද පනවන ලද ශ්‍රී යහන්මස්ථකයෙහි වැඩහිඳ නිරුපධිශෙෂ පරිනිර්වාණ ධාතුවෙන් පිරිනිවන් පෑ වදාළ සේක. එම සර්වඥදේහය පිළිබඳ ආදහන අවමංගලෝත්සවය හා ධාතු පූජෝත්සවය නිම කොට සුභද්‍ර නම් ප්‍රව්‍රජිතයාගේ අනාදර මූලික බස් හේතුකොට ගෙන ධර්ම සංවේග ප්‍රාප්ත මහ රහතන් වහන්සේලා ප්‍රථම ධර්ම සංගායනාව කොට එතැන් පටන් සියක්වසක් ඉක්මුනු සඳ දස වස්තුව [2]පිළිබඳව හටගත් ශාසනාර්බුදයෙන් දෙවෙනි ධර්ම සංගායනාව ද කොට නිමවා බුදුන් පිරිනිවන් පෑ දෙසිය අටලොස් වසක් ඉක්ම වූ සඳ සැට දහසක් තීර්ථකයන් හේතු කොට ගෙන තෙවෙනි ධර්ම සංගායනාව ද කොට නිමවා අනාගත ශාසන ප්‍රවෘත්ති බලා ශ්‍රී ලංකාද්වීපයට පිටත්කර එවා වදාළ දිප ප්‍රශාදක මහේන්ද්‍ර මහ රහතන් වහන්සේ ප්‍රමුඛ ක්ෂීණාශ්‍රවයන් වහන්සේලා බුදුන් පිරිනිවන් පෑ වදාළ දෙසිය සතිස් වැන්නෙහි [2]ශ්‍රී ලංකාද්විපයේහි ශ්‍රී ජිනේන්ද්‍ර ශාසනය ප්‍රතිෂ්ඨාපනය [3]කරවා වදාළ සේක. ඉක්බිති ශ්‍රී ලංකාද්වීපයෙහි ප්‍රතිෂ්ඨාපිත ජිනේන්ද්‍ර ශාසනය කලිංකල [4]සිවු වරෙක ඇතිවූ වෛතුල්‍යවාද ගොළුඅබාදී නරේන්ද්‍රයන් විසින් එම කාලයෙහි වැඩ සිටි මහා විහාරික මහ තෙරුන්ගේ සහාය ලැබූ දුරුකරුනු ලද උවදුරු ඇති ශාසනය මොනවට බබලවන ලද්දේය. එසේම විවිධ හේතුන් කරණ කොට ගෙන ශාසනය පිරිහෙන්නට පටන්ගත් කාලවල එබදු අර්බුදමහෝත්සාහයෙන් නසා මහළු විජයබා

<u>යාමත්‍රයෙහි ඥණත්‍රය යනු</u>

1*(පෙර) ප්‍රථම යාමය, ප්‍රථම විද්‍යාව නම්වූ දෘෂ්ඨි විශුද්ධිඥණය.

(මැදි) ද්වීතිය යාමය, ද්විතිය විද්‍යා නම්වූ කාංක්ෂා විතරණ ඥණය

(පැසුළු) තෘතිය යාමය, මාර්ගාමාර්ග ඥාණ දර්ශන විශුද්ධි ඥණය.

. දසවස්තු යනු , දෙව්දත් තෙරුන් ඉදිරිපත් කළ දස වස්තු පිළිවෙතයි.

2.236 වසරේ

3. පිහිටුවා

4.කලින්කල 5.මහලු විජයබා පැරකුම්බා

විජයබා පැරකුම්බා ආදිමහ පිනැති නරේන්ද්‍රයන් විසින් ඒ ඒ කාල වල විසින් ඒ ඒ කාලවල එබඳු අර්බුද දුරුකොට ශාසනය නිර්මල කොට පවත්වන ලද්දේය. එසේ පවත්වාගෙන එන අතර ශ්‍රී ලංකාද්වීපයෙහි අග්‍රරාජ්‍ය ශ්‍රී පදප්‍රාප්ත කුරුණෑගල පණ්ඩිත පරාක්‍රමබාහු ධරණීස්වරයන්ට දසවන්නෙහි ශ්‍රී ජිනේන්ද්‍ර වර්ෂයෙන් එක්වා දහස් අටසිය පනස්වන්නෙහි දිඹුලාගල කාශ්‍යප ස්ථවිරායන්වයාගත [1]පලාබත්ගල ආරන්‍යාව [2]විසූ දිඹුලාගල මේධංකර සංඝරාජ මහා ස්වාමීන්ගේ ශිෂ්‍ය වූ පලාබත්ගල වනරතන ස්ථවිර ප්‍රමුඛ සංඝයා යාපවු පුරයට නුදුරු නොලන් [3]වලස්ගලයයි පූර්වනාමෝප්පලක්ෂිත [4]පර්වතයෙහි කරවූ අස්ගිරි නම් වූ ආරන්‍ය සෙනසුනෙන් අතිරේක [5]පබවග්ගික [5]සංඝයා වහන්සේලා ගෙන්වා අභිනව කළ සෙංකඩගල ශ්‍රී වර්ධනපුරා සන්න ජායදක සම්පන්න පර්වතයෙහි අස්ගිරි නමින් [6]කල ආරණ්‍යය සෙනසුනෙහි වඩා හිදුවා සිවු දිගින් බඹ පන්සිය බැගින් අස්ගිරි විහාරය සඟ සතු කරන ලද්දේය.

එතැන් පටන් අස්ගිරි ආරණ්‍ය සෙනසුනෙහි විදර්ශනාදුරි වූ සංඝයා ගේ ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරාන්වයාගත සංඝයා විසින් ශ්‍රද්ධා බුද්ධි සම්පන්න රාජරාජමහාමාත්‍යාදින් ගෙන් සත්කාර

---

1. ස්ථවිරයන්ගෙන් පැවැතෙන

2. ආරණ්‍යයේ (විසූ)

3. නුදුරු නොළං > දුරු නොදුරු තරමේ

4. පුරාණ නමින් යුක්ත වූ

5. පබ්බවග්ගික > වනවාසීව වසන කොටසක්

6. කළ - කරන ලද

7. තෙවළා දහම (ත්‍රිපිටක ධර්මය)

සම්මාන ලබමින් ද [7]පර්යාප්තිශාසනය හා ප්‍රතිපත්ති ශාසනය නිර්මලව පවත්වාගෙන එන ලද්දේය. එසේ පවත්වාගෙන එන අතර සීතාවක රාජසිංහ රජ සීතාවක මාතියංගම විහාරයේදී සංඝයා ඝාතනය කිරීමෙන් ක්‍රමයෙන් පිරිහී යන ශාසනය බලා කම්පිතව පළමුවන විමලදහම්සූර්ය [1]මහ රජු විසින් ද දෙවෙනි විමල දහම්සූර්ය [2]මහරජු විසින්ද මෙදැතුර සාරසිය පත්තුවේ ගල්ලෑල්ලේ හේරත් දිසාරාළහාමිගේ ආරාධනාවක් සේනාරත්න රජු දවස ද උපසම්පදා කරවීමෙන් ශාසනයවර්ධනය කරන්ට පටන්ගත් නමුත් නිතර පැවති සතුරු උවදුරු නිසා ද ශ්‍රද්ධා බුද්ධි සම්පන්න නරේන්ද්‍රයන්ගේ අභාවයෙන් ද නැවතත් ක්‍රමයෙන් පිරිහී ගොස් ශ්‍රී ජිනේන්ද්‍රවර්ෂයෙන් දෙදහස් දෙසිය එකුන්සැත්තෑවන්න වන විට එකද උපසම්පදා නමකුත් නැතිව ගොස් ප්‍රමාද විහරණයෙන් යුක්ත බොහෝ තැන් අතරශාසනමාමක සාමණේර ගණයක් [3]මෙම අස්ගිරි විහාරය ඇතුළු ලක්දිව නා නා තැන්වල සේසවූහ.[4]

එකල්හි සම්බුද්ධ වර්ෂයෙන් දෙදහස් දෙසිය අනූ වැන්නෙහි ශ්‍රී ලංකාද්වීපයෙහි අගග්‍ර[5]රාජ්‍ය ශ්‍රී පද ප්‍රාප්ත අසදෘස තේජෝබලපරාක්‍රම ප්‍රත්‍යාලංකෘත ස්වදේස විදෙසන්හි පතල[7] කීර්ති ඇති කීර්ති ශ්‍රී රාජසිංහාභිධාන නරේන්ද්‍රයාණන් සමඟ ශාසන මාමක ලජ්ජිසුපේසල ශික්ෂාකාමී ආරණ්‍යවාසී සාමණේරයන් වහන්සේලා අතුරෙන් බහුශ්‍රැතාලෙපච්ඡතාද[8] ගුණාගුනලංකෘත සව්‍යාකරණ බුද්ධ ධර්මයෙහි විසාරද ජිනේන්ද්‍ර ශාසනාභිවෘද්ධි වර්ධනයෙහි බොහෝ කල් කරණ ලද මහෝත්සාහ ඇති වැලිවිට අසරණ සරණ සරණංකරාභිධාන සාමණේරයන් වහන්සේ සේවන

1 .විමලධර්ම සූර්ය 2. දෙවැනි විමලධර්මසූර්ය

3. සාමණේර ගණයක් (සමූහයක්) 4. ශේෂ වූහ. (ඉතිරිව සිටියහ.)

5. අග්‍ර නොව අග්‍රයි. 6. ස්වදේශ විදේශ 7. පතල නොව පතළ

8. බහුශ්‍රැත අල්පේච්ඡතා

9. ආඥාචක්‍රවර්තියක්හු > අණසක්විත්තකු

භජන සම්භාසන ධර්ම ශ්‍රවණාදියෙන් පහන් සිත් ඇතිව හාත්පසින් පිරිහී ගිය ශාසනය බලා මා වැනි ශ්‍රද්ධාබුද්ධි සම්පන්න ආඥාචක්‍රවර්තියක් හූ මෙබඳු ශාසන හානියක් දැක උදාසීනවීම මට තරම් නොවේය යන මහත් රාජාභිමාන උපදවා ශ්‍රද්ධා පූර්වාංගම යෝනිසෝමනසිකාරයෙන් යෙදී නොයෙක් සිය දහස් ගනන්[1]මාහැගි පඬුරු පාක්කුඩම් සහිත ශ්‍රී සන්නස් දී රාජාමාත්‍යයන් දඹදිව සියම් රට අයොධ්‍යාපුරයට යවා එහි ධම්මික මහ රජාණන් හා අදෘෂ්ට මිත්‍රව සීලාධෘත වෘතල්පේච්ජතාදි ලෞකික ගුණගණාලංකෘත ප්‍රවර උපාලි ස්ථවිර ප්‍රමුඛ මහානිකායික දස වර්ගික[2] සංඝයා වහන්සේලා මෙම ශ්‍රී වර්ධන පුරයට ගෙන්වා වදාරා එම මහ රජාණන් රාජ්‍ය ශ්‍රීපද ප්‍රාප්ත සත්වැනි වූ ශ්‍රී ජිනේන්ද්‍ර වර්ෂයෙන් දෙදහස් දෙසිය සයනුවන කටක රවි දෛභාග ඇසළ මස පුර තුදුස්වක් තිථියලත් කිවිදින උපාලි මහා ස්ථවිරයන් වහන්සේ ගේ සිස්‍ය[3] වූ සාමණේර නමක් ද කටක රවි තුන්භාග ඇසළ මස පුර පසළොස්වක් නම් තිථියලත් ශනි දින නගර සීමා කොට උත්‍රසලෙ නැකතින් කොබ්බෑකඩුවෙ නායක සාමණේරයන් වහන්සේය, වැලිවිට සාමණේරයන් වහන්සේය, හුලංගමුවේ නායක වහන්සේය, අස්ගිරිපොරුවේ නාවින්නේ නායක සාමණේරයන් වහන්සේය, බඹරදෙනියෙ සාමණේරයන් වහන්සේය,තිබ්බටුවාවේ සාමණේරයන් වහන්සේය , යන සාමණේරයන් වහන්සේලා සතම උපසම්පදා කරන පෙරවස් එළඹීමට ආරාධනා කලහුය.[4]

ඉක්බිති ගිම්හාන සෘතුවේ අටවෙනි පොහොය කොට එම කටක රවි සිව්භාග නිකිනි මස අවපැලවිය ලත් රවිදින පෙරවස් එළඹියා වූද කටක රවි එකළොස් භාග නිකිනි මස අව අටවක් නම්

1. 'ගණන්' වියයතු
2. 'දශවාර්ගික' වියයුතු
3. 'ශිෂ්‍ය වූ' වියයුතු
4. 'ආරාධනා කළාහු' වියයුතු.

තිථිය ලත් රවිදින , දිග සම පණස් පුළුල සවිසි රියම් කොට ධම්මිකාරාමයෙහි සම්මත කළ සීමාවෙහි දී උපසම්පදා ව ලබා පසුවස් එළඹියාවූ ද සියළු සංඝයා ඇතුළු උභය විහාරයෙහි සැමතැන්වලට සිවුපසය දෙවමින් වස්තුන් මස උපසම්පදා කර්මය කරවා ඉල්මස පුරපසළොස්වක් නම් තිථිය ලත් කිවිදින කෙළින් සිවුරු දී එම සංවත්සරයෙහි දුරුතු මස පුර පසළොස්වක් නම් තිථිය ලත් සඳුදින කීර්ති ශ්‍රී රාජසිංහාභිදාන දෙවිමහරජානෝ [1]උභය සේනාපති චතුර්දිසාපත්‍යාදි[2] මහ ඇමතියන් සහිත මහසෙන් පිරිවර නදුනුයන් වඩින ශක්‍රදේවේන්ද්‍ර විලාසයෙන් අස්ගිරි මහ විහාරයට ගමං සිද්ධවරං පොත පෙරටු කොට ඇති ප්‍රවර උපාලි ස්ථවිර ප්‍රමුඛ අස්ගිරි මල්වතු යන උභය විහාරයෙහි සියළු[3] සංඝයා රැස්කරවා ගෙඩිගෙ විහාරාසන්න මළුවෙ දිග දෙතිස්රියන් පුළුල අටවිසිරියන් සීමාව සම්මත කරවූහ.

එසෙම කොට අවුරුදු තෙවසක් තුළ [4]උපාලි ස්ථවිර ප්‍රමුඛ දෙසාගත සංඝයා කෙරෙන් සාමණේර සත්සියයකට[5] උපසම්පදාව හා තුන් දහස් කුලදරුවන්ට පැවිද්ද දෙවා සක වර්ෂයෙන් එක්වාදහස් සසිය සත් සැත්තෑවක් වූ බ්‍රහ්ම විංසතියෙ නවවෙනි යුවාභිධාන වර්ෂයෙහි අයොධ්‍යා පුරයෙන් දෙවෙනිවර එවන ලද විසුද්ධාචාර්ය මහා ස්ථවිර ප්‍රමුඛ අතිරේක පංච වර්ගික [6]සංඝයා වෙතින් සිවුවසක් තුළ සාමණේර තුංසියයකට [7]උපසම්පදාව හා කුලදරුවන් දහසකට පැවිද්ද දෙවා මෙසේ සත්මසක් තුළ ස්වදෙසහිඟා සාමණේරයන් වහන්සේලා පන්දහසක් ඇතිකරන ප්‍රථම වන සෙනසුනෙහි රාම

---

1. මහ රජාණෝ විය යුතු
2. සතර දිසාපති ආදි වියයුතු නැතහොත් චතුර්දිශාපත්‍යාදි වියයුතු.
3. සියලු වියයුතු
4. අවුරුදු තෙමසක් හෝ........ තෙවසක් (වසර තුනක් > අවුරුදුතුනක්)
5. සත්සිය නමකට වියයුතු
6. පසැව වාර්ගික වියයුතු
7. තුන්සිය නමකට

විහාරය ද නාග විමානයත් යන දෙක උභය විහාරයට වන සෙනසුනක් සේ සලස්වා සත් වසක් ගතවූ කල උභය විහාරයෙහි නවක මධ්‍යම තැන් රාජාඥාවෙන් පුෂ්පාරාමයේ දී අටුවා සහිත විනය පිටකය බලා නියම කල [1]සඳ මෙබඳු ශාසනාභිවෘද්ධි වර්ධනයට මහෝපකාරී වූ වැලිවිට පිණ්ඩපාතික සරණංකර ස්ථවිරයන් වහන්සේට සංඝරාජ පදවියට තිසි වටාපත ද උරුලෑවත්තේ ධම්ම සිඩ්ධි[2] තිබ්බටුවාවේ සිද්ධාර්ථ යන ස්ථවිර දෙනමට මහ නායක පදවිවලට තිසිවටාපත් දෙක ද පිළිගන්වා සංඝසම්මතයෙන් මහාරාජ සම්මතයෙන් සංඝරාජ පදවිය හා මහානායක පදවිය ද දෙවා වදාරා එම දින ථෙර සම්මුතියේ දී ශ්‍රී ජිනේන්ද්‍ර වර්ෂයෙන් දෙදහස් තුන්සිය අටට පැමිණි ඉල්මස අවදියවක් නම් තිථියලත් සඳුදින සඟරජ උපාධ්‍යාය කොට ප්‍රථම උපසම්පදාව මහත් උත්සවයෙන් කරවූහ.

ඉක්බිති ශාසන චිරස්ථිතිය පිණිස ආරාධනා කොට උභය විහාරයෙහි සංඝයා පුෂ්පාරාමයට රැස්කරවා සංඝරාජ කතිකාවත සම්මත කරවා දුෂ්ප්‍රතිපත්ති හරවා ශාසනය නිර්මල කොට අවුරුදුපතා උපසම්පදා කර්මය කරවමින් ජිනේන්ද්‍ර ශාසනය ආරක්ෂා කරවීම පිණිස තුන් රජයෙන් නුවරට ලැබුන[3] සංඝයා ද උභය විහාරයෙහි සංඝයා ද ශ්‍රී දංෂ්ට්‍රා දලදා[4] මන්දිරයට දසවස් හා අතිරේක දසවස් පිරීමෙන් ස්ථවිරපදප්‍රාප්ත ධර්ම විනයධර ව්‍යක්ත ප්‍රතිබල අසූනමක් උභය විහාරයෙන් සංඝරාජෝත්තම ප්‍රමුඛ මහා සංඝ සම්මතයෙන් තෝරා සිවුනමකට අනුනායක පදවිය දෙවා කුසපත් ඇදීමෙන් මහ කාරක තනතුරු සම්මත කරවා මතුපුරප්පාඩුවෙන මහාකාරක තනතුරුවලට කුසපත් හෙලීමෙන් අනුකාරක තෙරවරුන්ගෙන්

1. නියම කළ වියයුතු.

2. ධම්මසිද්ධි වියයුතු.

3. ලැබුණු වියයුතු.

4. ශ්‍රී දන්ෂ්ට්‍රා දළදා වියයුතු.

එය පිරවිය යුතුයයි ද ස්ථවිර පද ප්‍රාප්ත ධර්ම විනයධර මැදහත්ගති ඇති සුපෙසල ශික්ෂාකාමී තෙරනමක්ම සංඝ සම්මතයෙන් අනුකාරක තනතුරට සම්මත කරගතයුතුයයි ද අවුරුදු පතා නොකඩ කොට වෙසක් පොසොන් පසළොස්වක් දෙක අතර තිස් දවස තුළ උභය විහාරයෙහි ම වෙසක් උත්සවය පිණිස උපසම්පදා කර්මය කරමින් දුෂ්ප්‍රතිපත්ති හරවා සුපිළිවෙතෙහි [1]සංඝයා හික්මවමින් ශාසනය ආරක්ෂාකර ගන්නා ලෙස වැලිවිට සංඝරාජ මහාස්වාමීන් ප්‍රමුඛ උභය විහාරයෙහි නායකානුනායක කාරකානුකාරක මහ සංඝ සභා දෙකට භාර කොට දලදා රක්ෂණය [2]උභය විහාරයෙහි සතර පෝරුවෙ සංඝයා කලයුතු යයි[3]ද සම්මත කොට උන්වහන්සේලාගේ භොජන පාකය පිණිස වැටුප් වියදම් තබා ශ්‍රී ජිනේන්ද්‍ර වර්ෂයෙන් දෙදහස් තුන්සිය අටට පැමිණි දුරුතු මස පුර පසළොස්වක් නම් තිථිය ලත් බදාදා සංඝ රාජෝත්තම ප්‍රමුඛ උභය විහාරයෙහි මහා නායක අනුනායක කාරකානුකාරක මහා සංඝ සභා දෙක මහ පෙරහරින් වැඩමවා ගෙන යන සේ මහ ඇමතියන්ට අවසර දෙවා වදාළහුය.

ඉක්බිති එම වෙසක් මස පුරපසළොස්වක් නම් තිථියලත් සඳුදා රජබල පෙරදැරි වූ උභය විහාරයෙහි උපසම්පදා මංගල්‍යය ආරම්භ කොට පවත්වාගෙන එන ලද්දේමය. එසේ කල් යන කල පිටිසර වැසි සංඝයාගේ අප්‍රතිපත්ති [4] දුෂ්ප්‍රතිපත්ති [5] වැඩී ගෙන එන බැව් අසා කම්පිතව ප්‍රථම උපසම්පදාවෙහි පටන් සතළොස් වැන්නෙහි දී බුදු සසුන නිර්මලව පවත්වන ලෙසට ව්‍යවස්ථා කොට තැබිය යුතු යයි යන උදාරාධ්‍යාසයෙන් යෙදී මංගල්‍ය මණ්ඩපයට ර ස්කරවා සභ මැද වදාළ පනත ලෙස කීර්ති ශ්‍රී කතිකාවත කරවා දී

1. සුපිළිවෙතෙහි වියයුතු.
2. දළදා රක්ෂණය වියයුතු.
3. කළයුතු යැයි
4. අපිළිවෙත් - ප්‍රතිපත්ති විරෝධි
5. දුපිළිවෙත්

සිද්ධකළ ශාසනාභිවෘද්ධිය මේ දක්වා අත්‍යන්තව පවත්නේම ය.

එසේම සුගත් වසින් දෙසිය තිස්වැන්නෙහි මහා මහේන්ද්‍ර මහ රහතන් වහන්සේගෙන් ආරබ්ධිත මහ විහාරවංසාගත ස්‍යාමෝප්පාල[1] මහා නිකායේ පෙර සිට පවත්වාගෙන එන චාරිත්‍ර වාරිත්‍ර ආදිය ශ්‍රධ්‍යා ශීල ශ්‍රැතාල්පේච්ඡතාදී[2] ගුණගනාහරණ විභූසිත[3] සව්‍යාකරණ පිටකත්‍රයෙහි විසාරද වූ බුද්ධි ඇති බහුශ්‍රැත මහා ස්ථවිරයන් වහන්සේලාගේ පහළවීමෙන් අත්‍යන්ත නිර්මලව පවත්නේමය. එතකුදු වුවත් සංඝ සාමාග්‍රිය[4] පවත්නාතුරු පමණක් අභිවෘද්ධිය පවත්නේ යයි වදාළ බැවින් අස්ගිරි මහ විහාර පේරුවේ හෙරණ -නවක- මධ්‍යම-ථෙර සංඛ්‍යාත සැමදෙනා වහන්සේලාගේම සාමාග්‍රිය හා මහාවිහාර වංසාගත සාසනික [6]චාරිත්‍ර වාරිත්‍රාදිය මනාකොට පවත්වාලන ලද කලණෛධ්‍යාසයෙන් ශ්‍රී සෙංඛණ්ඩ සෙලාභිධාන ශ්‍රී ජයවර්ධනපුර ශ්‍රී දංෂ්ට්‍රා ධාතු රක්ෂණයෙහි නියුක්ත අස්ගිරි මහ විහාරයෙහි මහා නායකානුනායක කාරකානුකාරක මහා සංඝයා වහන්සේලා අස්ගිරි මහ විහාරයෙහි මඟලෞ්‍යාපොසථාගාරයට [6]රැස්ව බුද්ධ දෙසනාවට [7]හා රාජාඥාවට ද පුරාණ කතිකාවත්ට ද අවිරුද්ධව සමවිනයානුකූලව සාකච්ඡා කොට එකච්ඡන්දයෙන් යුක්තව සම්මත කරගත් ශාසනාභිවෘද්ධි වර්ධන කතිකාවත නම් මේ ප්‍රථම කොට ප්‍රව්‍රජ්ජාව පිළිබඳ කතිකා කියනු ලැබේ.

---

1. සියම් උපාලි මහ නිකාය.
2. ශ්‍රද්ධා ශීල ශ්‍රැත අල්පේච්ඡතා ආදී
3. 'විභූෂිත' විය යුතු.
4. සඟ සමගිය.
5. ශාසනික
6. මංගල්‍ය උපෝෂථාගාරයට
7. දේශනාවට වියයුතු

"පබ්බාජෙන්තාපි සොධෙත්වා පබ්බංජෙථ සොධෙත්වා උපසම්පාදෙථ සොධෙත්වා නිස්සයං දෙථ ඒකෙපිහිකුල පත්තො පබ්බජ්ජිංච උපසම්පදා බලහින්වා සකලම් ශාසනං පතිට්ඨපෙති" යනු වදාළ බැවින් ප්‍රව්‍රජ්‍යෝපෙක්ෂකව පැමිණි කුල පුත්‍රයකු ඇත.ඔහුගේ ජාතිගෝත්‍ර විචාර මැනවින් දැන ඔවුන් අතුරෙන් අකුරු නොකී ළදරුවයස් ඇති අයට සෝධිය පටන් ද සිල්වාම් අකුරු දන්නා අයට ඇතැම් [2]සකස්කඩ පටන් ද සතක [3] පොත් කියා නිමවූ අයට වෘත්තමාලය ද කියවා මෙසෙ ලීම් කීම්[4]උගන්වා ඉක්බිති හෙරණසිඛ දිනචරියාව සතර සංවර සීලය[5]සතර කමටහන් [6]සේඛියාව පස්විකුන් අතීත පස්විකුන් පිරිත් පාඩම් කරවා ගෙන ගණ සංඝනිකා හස්සාරාමාදියෙන් [7]තොරකොට වත්පිළිවෙතෙහි යොදා එදා මහත (මහණ) වූ කතිකාවත කියවන යටත් පිරිසෙයින් තෙර තුන් නමක් ඇතුළු සෙසු උපයුක්තක සංඝයා මධ්‍යයෙහිත් ජාතිගෝත්‍ර විචාරා රෝගාදිය බලා අසවල් තෙර උපාධ්‍ය කොට අසවල් තෙර ගුරු කොට මොහු පැවිදි කළ යුතු යයි සම්මත කොටගෙන එගෙනෙහි (ඒ ගනයෙහි) ප්‍රධාන තැන් සියල්ල ද සලකුණු කොට කුලදොස කියවා දෝසාදියක් නැතැයි දන්නා මැදහත් ගති ඇති සඟ කෙනකුන් විසින් ප්‍රතිඥාකළ නායක තැන විසින් වේවයි සම්මත ලැබූ දස වර්ෂයක් හෝ තෙර කෙනෙකු උපාධ්‍ය කළ යුතුයි.

"අන්තමසො එක සිඛා මත්ත ධරාපි සො හඩ කම්මං ආප්‍රච්ජිත්වා

1. සුළුවෙත් (අකුරු දන්නා අයට)

2. ඇනවුම්

3. ශතක

4. ලිවීම් කියවීම්

5. සතර සංවර ශීලය

6. සතර කමටහන් : බුද්ධානුස්මෘති, මරණානුස්මෘති,අශුභ,මෛත්‍රී

7. හස්සාරාමාදියෙන් : අල්ලාප සල්ලාපයන්හි යෙදීම ආදියෙන්

පබ්බා ජෙතබ්බෝ යි ප්‍රකාසිත (ප්‍රකාශිත) හෙයින් හඬ කර්මා ප්‍රව්ජා කොට හිස කේ රවුල් කපා , සයමෙව මත්තිකංග හෙත්වාධො විතබ්බා¨ යි ප්‍රකාසිත (ප්‍රකාශිත) හෙයින් ගුරුන් විසින්ම හෝ එගුරුවරයාගේ අනලැබූ අන් භික්ෂුවක් විසින් හෝ,

¨යථා මාතා පුත්තංනපි ගුව්ජති ඒවමෙවං අජිගුච්ජන්තේන සාධුකං හත්ථපාදනොච සීසතොපට්ඨාය සංසිත්වා සංසිත්වා නහාපෙතබ්බො යි ප්‍රකාසිත (ප්‍රකාශිත) හෙයින් යම් සේ මවක් පුත්‍රයාට පිළිකුල් නොකරේද (නො කරත්ද) ¨එ පරිද්දෙන්ම හිස පටන් දෙපය දක්වා උලා නහවා ගෙනවුත් පිරිසිදු වස්ත්‍ර හඳවා එහි සංඝයාට වැන්දවිය යුතුයි. ඉක්බිති සිවුරු දෝතට ගෙන උපාධ්‍යයන්ට වැඳගෙන,

සබ්බ දුක්ඛ නිස්සරණ නිබ්බාණ සච්ඡිකරණත්ථාය එතං කාසාවංදත්වා සබ්බාජෙථ මං භන්තෙ අනුකම්පං උපාදාය - දුතියම්පි - පෙ - තතියම්පි -

තෙවරක් කියා කාසායවත් උපාධ්‍යයන් අතට දිය යුතුයි.
ඉක්බිති, සබ්බ දුක්ඛ නිස්සරණ - නිබ්බාණ සච්ඡි කරණත්ථාය
එතං කාසාවංදත්වා සබ්බාජෙථ මං භන්තෙ
අනුකම්පං උපාදාය - දුතියම්පි -පෙ - තතියම්පි යි තෙවරක් කියවා වැඳ උක්කුටයෙන් සිටි කල කාබාන සහිත සිවුරු දෝතට දී පටිය කරට දොහොත ඇඟිලිවලට ද සම්බන්ධ කොට දෙඅත් ගෙන,

සතිං උපට්ඨපෙහිතව පචක කම්මාථා තං ආචික්ඛි
තබ්බං - යි - ප්‍රකාසිත (ප්‍රකාශිත) හෙයින් සිහිඑලවා සිටින සේ අවවාද දී නව පචක කර්මස්ථානය කියවා පැවිදි කල යුතුයි.

භික්ඛූනංහි සහත්ථෙනවා ආත්තියාවා දින්නමේව
කාසාවං වට්ටති අදින්නං නවට්ටති - ප්‍රකාසිත (ප්‍රකාශිත) හෙයින් උපාධ්‍ය තෙර විසින්ම හෝ උන්වහන්සේගේ අන ලැබූ භික්ෂුවක් විසින් හෝ ,

1.කළ යුතුයි.

ඒකං සං උත්තරාසඟංකාරාපෙත්වා යෙනත්ථ සන්ති පතිතා භික්ඛූ තෙසං පාදෙ වන්දාපෙත්වායි - ප්‍රකාසිත (ප්‍රකාශිත) හෙයින් අඳනය හඳවා පටිය බැඳ උත්තරාසඟය ඒකාංස කොට සංඝාටිය අංශයෙහි කොටලා එමතුයෙහි පටිය බැඳ එහි රැස්වූ භික්ෂූන්ගේ පිළිවෙලින් පා වන්දවා උපාධ්‍යායන් වහන්සේ කරා පැමිණ විය යුතුයි.

සාමණේරංහි සරණාගමන භික්ඛූනං උපසම්පදා කම්ම වාචා සදිසං ප්‍රකාසිත (ප්‍රකාශිත) හෙයින් බුද්ධං සරණං ගච්ඡාමි එක සම්සන්ධාති අප්‍රකාසි කත්තානිවාදාතබ්බාති බුද්ධං සරණං ගච්ජාමී ති තිවාවිච්ඡන්දිත්වා මකාරන්තා නිවාදා තබ්බාති යන අටුවා හෙයින් ද සාමණේරයන්ගේ සරණාගමනය භික්ෂූන් ගේ උපාසම්පදා කර්මය සමාන හෙයින් එකට සම්බන්ධ කොට නිග්ගහිතානිව හෝ වෙන් වෙන් වසයෙන්[1] මකාරාන්තව හෝ තිසරණය ද ඉක්බිති ප්‍රව්‍රජ්ජා දස සීලය දිය යුතු. තවද බොහෝ දෙන දන්නා පරිද්දෙන් යහපත් සැදැහැයෙන් පැවිදි වියටිව ආ කෙනෙකු වූ නම් ඇනවුන් සකස්කඩ දිනචරිය වස්තර සංවර සීලය පස්විකුන් පුහුණු කරවා පූර්වෝක්ත ක්‍රමයෙන් ජාති ගොත්‍ර ක්‍රියා දොස රෝගාදිය විචාරා අවුරුද්දකට අඩුකලක් විසද පැවිදි කොට කල්බලා හෙරණ සිඛ සෙඛියා පිරිත් සතර සංවර සීලය වනපොත් කරවා සිල්දිය යුතුයි.

උපජ්ඣායා මූලික පබ්බජ්ජුපසම්පදාව උපජ්ඣායොවත්තථ ඉස්සරොන ආචාරියො - වදාල [2]බැවින් ප්‍රව්‍රජ්ජාවට පත් කුලපුත්‍රයාගේ සැම කටයුතුම උපාධ්‍යායයන්ට ම භාර බැවින් උපාධ්‍යයන් වහන්සේ විසින් අභිසමාචාරාදියෙහි හෙරණසිකෙහි කී පරිද්දෙන් හික්මවා ග්‍රන්ථ විදර්ශනාදියෙහි අප්‍රමාද කොට වස්වා මතු බුදුසසුන රක්නා ලෙසට වර්ධනය කළ යුතු -ගණදෙටු තෙරුන් විසින් සා තම තමා විසින් සාවාසය කරන අන්තේවාසික සද්ධිවිහාරික භික්ෂු සාමණේර තැන් අතුරෙන් ඉගෙනගන්ට පුළුවන් තැන්වලට වරනැගිලි දෙක උගන්වා නිසන්ඩු ධාතු පාඨ බාලාවතාර අමතක නොවන සේ වන පොත් කරවා බාලාවතාරය අසවා වැල්ලෙ ලියවා පද සිද්ධි උගන්වා නාම හා ලිඟත්‍රය සත්ත විභක්තියෙ[3]

1. වශයෙන් 2.වදළ 3. විභක්ති ඒක වචන බහු වචන

ඒක වචන බහු වචන කෙරෙන ලෙසට උදාහරණ යොදා කියාදි පද සාධනය අස්වමින් රසවාහිනි ධම්පියා අටුවාව පාලිබොධිවංසය අත්තනගළු වංසය ධම්පියා සන්නය තෙලකටාහගාථා සන්නය අස්වා සමත් උවහොත් සහිත් ජන්දෝලංකාරාදියත් අස්වමින් ග්‍රන්ථ ධූරයෙහි හික්මවන්නවුන් ලවා මොහොතක් පමණ කුදු විදර්ශනාධූරයෙහිත් හික්ම විය යුතුයි -

යටකී පරිද්දෙන් ග්‍රන්ථ ධූරයෙහි වැඩියක් කොට ගත නොහැකි අන්තෙවාසික සද්ධිවිහාරිකයන් ගණ සංඝතිකාදියෙන් පහකර යටකී විවේකවත් පූරවා ඔහුශක්ති පමනක් (පමණක්) හදාරා නිමකල (කළ) සඳ චාරිත්‍රානුකූලව කමටහන් උගන්වා විදර්ශනා ධූරයෙහි හික්මවා චතුසපජ්ජඤ්ඤ කථාවෙහි වදාල (වදාළ) ලෙසින් කරදිය යුතු.

ප්‍රවෘජ්ජාවට එත් [1]තැන්ගේ ජාතිගෝත්‍රාදිය හා දෙමවුපිය ගුරුවරයන්ගේ හා පැවිදි කල විහාරස්ථානය මේ ආදි කරුනු (කරුණු) ලේඛන කොට පලාතෙ (පළාතේ) නායක තැන් වෙත මසක් ඇතුළත ගුරුවරයා විසින් තෙමසක් ඇතුලත (ඇතුළත) මූලස්ථානය වෙත දැන්විය යුතු. සාමණේර තැන් උපසම්පදා වනතුරුම පක්ෂයකට [2]වරක් තුදුස්වක් පසලොස්වක් (පසළොස්වක්) දිනයන්හි නොකඩව සිල් ගත යුතු. නොසම්මතයෙ පැවිදිකල (කළ) තෙරුන් කෙරෙහි පැවිදි කල (කළ) නම අන් සුදුසු තැනකලා මහන කල[3.] තැන ගේ සංවාස සම්භෝග වලකා බඩතුරු සුදුසු තැනකට පාවාදිය යුතු - උපසම්පදා පිළිබඳ කතිකා කියනු ලැබේ-

උපසම්පදාව නම් ශාසනස්ථිතියට මූලවූ[4] ගුරුකර්මයක් නිසා තත්කාල ශාසනානුශාසක තැන් මැදහත්ව හො එතැන් විසින් ඇනවන ලද ව්‍යක්ත ප්‍රතිබල විනය ධරයන් ඇතිව රාජ සම්මතයෙන් මිස නානාස්ථානයන්හි උපසම්පදාව කොට ගරුත්වය නොනැසිය යුතු. කල්වයස් පිරි උපසම්පදාපෙක්ෂව මූලස්ථානය කරා පැමිණෙන

1. ප්‍රවෘජාවට පත්

2. පූර පක්ෂය , අව පක්ෂය

3. මහණ කළ

4. හේතු වූ

හෙරනත්[1] හෙරණසික දින චරියාව සතර සංවර සීලය සතර කමටහන් සෙඛියාව පිළිකුල් [1]භාවනා සන්නය පස්විකුන් අතීත පස්විකුන් දම්පියාව පිරුවානා පොත් වහන්සේ යන මෙකී දළ[2] වනපොත් කොට තමා සමාදන් උන[3] ධූතාංගයින් [4]යටත් පිරිසෙයින් තුනක් විවර රැක තමන්ට නිසිවත් පිලිවෙතෙහි (පිළිවෙතහි) නොපමාව ග්‍රන්ථ විදර්ශනා ධූරයෙහි අප්‍රමාද වූ නම් එකෙනෙහි සංඝයා රැස්ව මහළු (මහලු ) පැවිදි කතිකාවත කියවා ගන උපන් කල මූලස්ථානය වෙත පමුනා [5]උපසම්පදා කරවා ගත යුතු. උපසම්පදාපෙක්ෂක සැම තැන් විසින් ම චාරිත්‍ර බණ දහම් හා යටත්පිරිසෙයින් දම්පියාවෙන් දස වර්ගයක් හා පිරුවානා පොත් වහන්සේ ගෙන් බනවර[6] දෙකක් විවරවන පොත් තබා ගෙන ම පැමිණිය යුතුයි.

උපසම්පදාපේක්ෂකව පැමිණෙන තැනැත්ගේ ගුනනුවන (ගුණානුවණ) හා උගත්කම් විමසා බලා ගුණ උපන්කල උපසම්පදා කල යුතුය.උපසම්පදාවට පැමිණි නවක හික්ෂූන්ට කාරක මහ සංඝ සභාවේ සම්මතය ලත් තෙර නමක් විසින් හො අනුකාරක හෙවත් කර්මාචාර්ය තනතුරුලත් තෙර නමක් විසින් හො ඒ කෙනෙහි උපසම්පදා මාලකයෙහිදීම ප්‍රථම සංඝාදිසෙසය ද - පටිග්ගහන සිඛය ද ආපත්ති ආරෝචනය ද උගන්වා පාත්‍ර සිවුරු අධිෂ්ඨාන කරවියයුතු- උපසම්පදාවට පැමිණි තැන් අනුපසම්පන්නයන් සිටින ආවාසයෙහි නොසිට දොලොස් (දොළොස්) රියනකින් ඉවත්ව අරුන ගත කලයුතු-[8] උපසම්පදාවට පත් නවක හික්ෂූන් විසින් තිසමකා සම්මුතිය ලබනතුරුම හිතවතෙ[9] තනිතනිව නොවසා

1. හෙරණුන්
2. දළ
3. සමාදන්වුණු
4. ධූතාංගයන්
5. පමුණුවා
6. බණවර
7. කළ යුතු
8. ඇරුණ ගත කළ යුතු
9. සිතුලෙසම

විනය ධර තෙරුන් ඇසුරුකොට පොහොපවුරුනු පටිග්ගනවත් මානත් අබ්බාහනාදි කුදු මහත් විනය විභාග පුහුණු[1*] කරගනිමින් ප්‍රාතිමෝක්ෂයකුදු සිබ මුළු සිළුවිනය විනිච්ජය පරිදි පචිති ආදි විනය පොත් අස්වාගතයුතුවත් හැර සමත් උවපද සූත්‍රාභිධර්ම බන (බණ ) දහම් අස්වා ගත යුතු - උපසම්පදා පේක්ෂක තැන් මහා විහාරික සංඝයාගෙ සම්මතය හෙයින් ප්‍රථම කොට ගිහි කරවා ඉක්බිති පැවිදි කොට කියදීම දිනම උපසම්පදා කලයුතු.(කළයුතු) බව මුත් ගිහි කොට පැවිදිගානිසි දුන් පසු දිනට ඉතුරු නොකල (ඉතිරි නොකළ ) යුතු - ග්‍රහස්ථභාවයට පත් කල දින (කළ දින) දිනයෙහි ම සැම කටයුතු නිමවා උපසම්පදා කල යුතුයි.

"නභික්ඛවෙ ආබාධෙහි පුශ්‍යොපබ්බාජෙතබ්බො යෙ
පබ්බාජෙය්‍ය ආපත්ති දුක්කටස්ස"-

යනාදින් වදාල (වදාළ) බැවින් ප්‍රවෘජ්ජාවට නොනිසි රොගාදිය ඇතිවුන් පැවිදිකල (කළ) භික්ෂුවට දුකුලා ඇවැත්වන හෙයින් සැම කරුනු (කරුණු) විමසාම පැවිදි උපසම්පදා කළ යුතු-

නෙවතෙසං පබ්බජ්ජා උපසම්පදාව රුහති තස්මාන
පබ්බාජෙතබ්බාජානිත්වා පබ්බා ජෙන්තො උපසම්පාදෙන්තොච
දුක්කටං ආපජ්ජති අජානිත්වා පිං පබ්බාජිතා
උපසම්පාදිතාව ජානිත්වා ලිංගතාසනායනා සෙ තබ්බා යි-

ප්‍රකාසිත (ප්‍රකාශිත) හෙයින් ප්‍රවෘජ්ජාවට හො උපජොපසම්පදාකාරක තැන් දුකුසම්පදාවට නොනිසියන් ප්‍රවෘජ්ජා ඇවතට පැමිණෙති. දැන හො නොදැන පැවිදි උපසම්පදා කල (කළ) නමුදු දැනගත් කල දි එවැනි තැන් සිවුරු හරවා ගිහිකරවියයුතු- උපසම්පදා මාලකයෙදී යටත් පිරිසෙයින් පස්විසි වයස් පිරුණ සුපෙසල සික්ෂාකාමී [2] ධර්ම විනයධර මහතෙර නමක් ම උපාධ්‍ය වියයුතුකම් වදම් කිරීමට එක නමක් ප්‍රමාන (ප්‍රමාණ) මුත් සුබොච්චාරණය පිණිස පරිපූර්ණ දසවස් හො

*1. පිටපතෙහි පැහැදිලි නැත.
2. සුපෙශල ශික්ෂාකාමී

අතිරේක දසවස් පිරුන තෙර දෙනමක්ව කම්වදම් කියයුතු බව මුත් ඌන දස වර්ගික [1]එකනමකුදු කම්වදම් නොකියයුතු. නිසවුක්ති පිළිබඳ කතිකා:- හෙරනුන්ට (හෙරණුන්ට) හෙරණ සිඛ වනපොත් කොට නිමවනතුරු මහළු (මහලු) පැවිද්දන්ට මහළු පැවිදි බන අසා නිමවනතුරු සත්තිකාවචර කටයුතු බැවින් ඔබ්බකට සමුනොදිය යුතු-

යොපන ව්‍යත්තෝ හොති උපසම්පදාය පඛවස්නසෝතෙන අනිස්සිතො වත්තුංවට්ටති තස්මානිස්ස මච්චකෙන උපසම්පදාය පංච වස්සේන සබ්බන්තිවෙන පරිච්ඡේදෙන වෙමතිකා පගුනවාචුග්ගතා කත්ව පක්වදිවසෙසු ධම්ම සවනත්ථාය සුත්තන්තතො චත්තාරෝ භාන වාරා සම්පත්තානං පරිකථත්තාය අන්ධක වින්ද මහාරාහුලොවාද අඹට්ඨ සදිසො එකො කථා මග්ගො සංඝභත්ත මඟලාමඟලෙසු අනුමෝදනත්වාය. තිස්සෝ අනුමොදනා උපොසථ පවාරණාදිනජන නත්ථං කම්මා කම්ම විනිච් අනුජානාමි භික්ඛවෙ ව්‍යත්තෙන භික්ඛුනා පටිබලෙන පංචවස්සානි නිස්සය වත්ථුං අව්‍යත්තෙන යාවජීවන්ති යි

වදාල (වදාළ) බැවින් ද උපසම්පදාව ලත් නවතැන් විසින් මුල්සිඛ කතිකා වනපොත් නොකොට සිඛ වලඳ විනිස අසාතිශ්‍රය මුක්ත බහුශ්‍රැතියට සුදුසු බන (බණ) අසා නිම කල (නිමාකළ) පස්වසක් ගත කල (ගත වූ කල) භික්ෂුවගෙ ගුන කියා (ගුණ කියා) නායක තැන්වෙත පාවාදුන් කල නායක තැන ව්‍යක්ත ප්‍රතිබල තෙරුන් ඉදිරියෙහි ද කුදු සිඛ මුළු සිඛ ප්‍රාතිමෝක්ෂ අත්ථි සංගහ පරිහරණ කරවා ව්‍යාකරණ ධාතු පාඨාදිය අසම්මූඪව ඉගෙන වන පොත් දුන්කල කංඛාවිතරණයෙන් තුන් තැනෙක හා ඉතිරි සත්පොතින් එකි එකි තැන් පරීක්ෂාකොට ගෙන නිශ්‍රමක්ත සම්මුතිය දිය යුතු-

1. දශවාර්ගික

[1]යො අව්‍යත්තො හොති තෙන යාවජීවං නිස්සයට්ඨෙව සිතබ්බං ප්‍රකාසිත (ප්‍රකාශිත) හෙයින් අව්‍යක්ත නුගත්තැන් විසින් ජිවතාන්තය දක්වා ගුරු උපාධ්‍යයන් වහන්සේලාගේ හො අන්‍ය ව්‍යක්ත භික්ෂුවක් ගේ (භික්ෂුවක ගේ ) හො ආශ්‍රයෙම විසියයුතු - ථෙර සම්මුති පිළිබඳ කතිකා:- බාහුලික සාථලිකයන් වී පශ්චිම ජනතාව දිට්ඨානගතියට පමුනුවා හැම ලෙසින් ම සිල්වත් ගුනවත් ව (ගුණවත්ව) බහුශ්‍රැතව යටත් පිරිසෙයින් නිසම්දන තැන් පටන් පස්වසක් විසූවො නම් යට කී උභයපාතිමොක්ෂාදිය වන පොත් ගෙන පරිජි පව්ති දෙපොතින් තුන් තැන් නැතත් හා ඉතිරි පස් පොතින් එකි එකී තැන් පරික්ෂා කොටබලා ස්ථවිරාහ වන පොත් ගෙන ගුන නුවන (ගුණ නුවණ) බලා ථෙර සම්මුතිය දියයුතු.

අනුජානාමි භික්ඛවෙ ව්‍යත්තේන භික්ඛුනා පටිබලෙන
දසවස්සේනවා අතිරේක දසවස්සේනවා උපසම්පාදේතුං
නිස්භයං දාතුන්තිධ

වදාල(වදාළ) බැවින් උපසම්පදාවට පැමිණි දසවසක් හෝ අතිරේක දසවසක් ගත කල (ගතවූ කල්හි) සව්‍යාකරණ බුද්ධ ධර්මයෙහි විසාරද බුද්ධි ඇති මැදහත් ගතීන් සමන්විත ව්‍යක්ත ප්‍රතිබල තෙර නමක් විසින් ම උපසම්පදාව හා නිශ්‍රය දෙන්ට වටනා හෙයින් එබඳු තෙරුන්ම කර්මාචාර්ය උපාධ්‍යවන බව මත් උපසම්පදාවට පැමිණි සියක් වස් පිරුනමුත් අව්‍යක්ත අප්ප්‍රතිබල (අප්‍රතිබල) තැන්වලට මධ්‍යම තැන්වලට ද කර්මාචාර්ය උපාධ්‍යාදී සාසනික (ශාසනික) කිසිම තනතුරක් නොදියයුතු- පොහොකිරීම් පිළිබඳ කතිකා :-

අනුජානාමි භික්ඛවෙ සකිං පක්ඛස්ස
චාතුද්දසෙවා පන්නර සේවා පාතිමොක්ඛං
උද්දිසිතුං උපොසථ කරණත්ථාය අන්වද්ධමාසං
ගන්තබ්බො අනාගච්ඡන්තානං දුක්කටං -

යනු වදාල බැවින් උපසම්පදාවටපත් නවක මධ්‍යම ථෙර යන සංඝයා විසින් ම සංඝ සාමාග්‍රීය හා ප්‍රතිපත්ති ධර්ම සංවර්ධනය පිණිසත් පක්ෂයකට වරක් තුදුස්වක් පසළොස්වක් දිනයන්හි නොකඩවා සම්මත කරගත් සමීප පොහොය සීමාමාලකයට එළඹ සියළු (සියලු) පොෂොාවත් සපයා දාගැප් (දාගබ්) මහබෝ මහළු (මහලු) සබ්‍රංසරුන්'. පත්කඩ තබා වැඳ බලවත් ගෞරව උපදවා ධර්මාසනය පනවා ප්‍රාතිමෝක්ෂ දෙසකයන් වඩා හිඳුවා හැම අතින්ම ඔවුන්ට අභිමුඛව හිඳ ආදරයෙන් පාමොක් ඇසිය යුතුවත්හැර වදාල (වදාළ) අන්තරාවක් නැතහොත් පාමොක් විස්තර වසයෙන් (වශයෙන්) ම උදෙසිය යුතු අඩමසකට වරක් පොහොය කිරීමට නොපැමිනෙන (නොපැමිණෙන) භික්ෂුන්ට දුකුලා වන හෙයින් යාගත නොහැකි ගේලඤ්ඤතාදියක් නැතිව නොසැලකීමෙන් පිළිවෙලින් පොහොතුනක්වත් නොපැමිනියෙ නම් ඔහු අයත් විහාරගතසංඝයා විසින් අවවාද කොට ආයති සංවරයෙහි පිහිටුවිය යුතු - අවවාදක්ෂමනුවූ තැන්වලට පලාතෙ (පළාතෙ) නායක තැන් විසින් හෝ ඒ ඒ සීමාමාලකයන්ට පොහොය කිරීම පිණිස රැස්වන සංඝ සම්මතය ලත් ගණ දෙටු තැන්විසින් හෝ දෙනු ලබන ධර්ම විනයානුකූල දඬුවම් පිලිනොගත් (නොපිළිගත්) භික්ෂුවක් වී නම් එබදු අයට මූලස්ථානය වෙත සවිස්තරව පලාතෙ (පළාතෙ) නායක තැන් විසින් දැන්වූ කල මහ නායකානුනායක කාරක මහ සංඝසම්මතයෙන් ධර්ම විනයානුකූලව සුදුස්සන් කරවියයුතුයි - පොහොකිරීමාදි ශාසනික කෘත්‍ය සඳහා ගෙඩිය ගැසූ කල මහ තෙරුන් ඇතුළු සැම සංඝයාම කල් නොයවා රැස්විය යුතුවත් හැර ගණදෙටු තෙර පළමු කොට නොපැමිණිය හොත් සෙසු තැන් ගේ පැමිනීම (පැමිණීම) හතික සිදුවන හෙයින් ගනදෙටු තෙර කල් නොයවා පැමිණිය යුතුයි.

පොහොපවුරුණු කිරීම පිණිස පැමිණෙන සංඝයා පිළිබඳ ලෙඛනයක් සීමාමාලක අයත් නෙවාසික ප්‍රධාන තැන වෙත එහි රැස්වන සැම සංඝයාගේ සම්මතයෙන් තබාගත යුතුවත් හැර යථෝක්ත

සීමාමාලකයට රැස්වන සංඝයා අතර අසමගියක් හෝ අසමගියට හේතුවන කාරණයක් හෝ උපන්කල ස්වකීය සීමාමාලකයට රැස්වන සියළු (සියලු) සංඝයා රැස්කරවා ඔහතෙර සහාය කොට ගෙන පක්ෂගෙන ශස්නත් (සස්නත්) ඔවුනුත් නොනසා දැහැමි සාකච්ජාවෙන් සහනය කොට පැමින (පැමිණ) යුතුවත් හැර එසෙ නොහැකි වී නම් පලාතෙ හෝ දිසාවෙ හෝ නායකතැන් ඇතුළු සංඝයා ලවා සමථකරවියයුතු - එහෙතත් [1]සමනයකට පමුනුවාපිය නොහැකි වී නම් එ නායකතැන් ලවා මූලස්ථානය වෙත දන්වා එයට සුදුස්සත් (ඉටු) කරවා ගතයුතු-

අන් පලාතකින් පැමිනි[2]නාඳුනන භික්ෂුවක් වී නම් මැනවින් කරුණු පරික්ෂා කොට සභාග වන බව දැනගන්නා තුරු පුද්ගලික දානයකට ඇතුළත් කර ගන්නා බව මුත් සාංඝික දාන පිරිත් ආදි සංඝ බලය පිහිටුවා කරන කටයුතුවලට ද පොහො පවුරුනු ආදි ගරු විනය කර්මයකට ද භාරනොගත යුතුයි - ආචාර පිළිබඳ කතිකා:-

සල්ලෙවං අච්ච ජන්තෙන අප්පමත්තෙන භික්ඛුකා කප්පියෙපිනකා තබ්බා ආවිසත්ථාය ලොලතා - යනු ප්‍රකාසිත (ප්‍රකාශිත) බැවින් කප පසෙහිද නොලල් බවට නොකොට යුතුවත් හැර යංචකාලික යම කාලික යන දෙකෙහි ද සන්නිධිපරිභොග නොවන සෙ පිලිපැද්දවිය යුතුයි- ලාභාසාවෙන් [3]ඇති නැති ගුණ ගොතා ශ්ලෝ[4] බැඳ සතුටු කරවා දානාධ්‍යාසයෙන් වෙන්ව කරණ ලද වස්ත්‍රාදි පරිත්‍යාග ඉවසා තමන් නින්දතියට පශ්චිම ජනතාවත් උත්පථයෙහි නොයෙදිය යුතු. වැඩිතරම් ලාභ ලද තැන් විසින්

---

1. එසේ ද

2. (අන්‍ය) පළාතකින් පැමිණි

3. ලාභ ආශාවෙන්

4. ශ්ලෝක - සිලෝ

ළාභයෙන් අන්තෙවාසික[1] සද්ධි විහාරිකාදීන්ට සිවුපසයෙන් පාදුකරවා පර්යාප්තියෙහි හා ප්‍රතිපත්තියෙහි යොදවා තවත් බුදු සස්න රක්නා පිණිස වෑයම් කරණ බව මුත් ක්‍රය වික්‍රය කොට කැප අකැප දෙය රැස්කොට තැබීමෙන් තමනුත් තමන් ඇසුරු කළ උනුත් නොනැසිය යුතුයි - දැසිදස් කෙත්වත් වැවුගෙරි මී ආදියමත් පිළිගන්නා කළ ලජ්ජපෙසල සික්ෂාකාමී (ශික්ෂාකාමී) නුවණැති තැනැත්තක් හා කථාකොට එතැන කී පරිද්දකින් පිළිගත යුතු - උපාසක උපාසිකාවරුන්ට ගුණසාගරය දාන පතිය යනාදි නම් තැබීමෙන් පොළඹාගෙන එතැන් පටන් අනිත් තැනකට පිරිනැමුවත් ඒ නොබලා තමාටම එලවන නියාව කොට ජීවිකාව කිරීමෙන් තමනුත් තමන් ඇසුරුකළ උනුත් නොනැසිය යුතුයි - කැති උදලු වෑ පොරෝ තඹ ලොහාදි ගරු භාණ්ඩ විහාරයේ තබා පරිභෝග කරත් මුත් යන එන තැනට ගෙන ගොස් පුද්ගලික කොට පරිභෝග නොකට යුතු- උපන් රොග නිසා වෙවයි ඥාති මිත්‍ර සංසර්ගයකින් වේවයි. බලිතැබීම් බලිපත් කියවීම් නැකත් වයිද්‍ය කර්ම [2]ගේ බිංබලි මිනියක්ෂප්‍රලාදි යන නොමනැදෑ නොකට යුතු - සියළු (සියලු) භික්ෂු සාමණේරාදින් විසින් අනුමාන සූත්‍රය දස ධම්ම සූත්‍රය අලගද්ද සූත්‍රය සල්ලෙඛ සූත්‍රය යනාදි සූත්‍ර දවසකට එකවිට නමුත් බාධා නොකොට මෙනෙහි කටයුතු -

විහාර පිළිබඳ කතිකා :- බුදුන් සතු වැඩි ප්‍රත්‍ය උපදින විහාර ගම්වල ධර්ම විනයධර ලජ්ජිපෙසල සික්ෂාකාමී දසවස් හො අතිරේක දසවස් ලාභ ගරුක නොවන මැදහත් කල්‍යාණධ්‍යාස ඇති තෙරනමක් නායක කොට තැබියයුතු - එහි සිටින සෙසු තැන් උන්වහන්සෙගෙ සිත්ගෙන ශාසන ප්‍රතිපත්තියෙහි අප්‍රමාදව විසිය යුතු -

නායකතැන් විසින් ම විහාර ගණයෙහි හැමදෙනා හා සමගි සතුටු ව සාකච්ජා කොට එම ස්ථාන පිළිබඳ කුදුමහත් කටයුතු වලට ලේඛනයක් ඇතිව වියදම් කලයුතු (කළයුතු) වත් හැර එම ගණයෙහි සංඝයාගේ සිවුපසය ද පිරිමැසිය යුතු සියළු භික්ෂු සාමණේරොපස්ථානය ද ආගන්තුකවත ද බද්ධ පුල්ල පටිසංකරණය[3] ද සිව්පසය ද ධර්මවිනය උගන්නා තැන්වලට ද

1අතවැසි -ශිෂ්‍ය 2 වෛද්‍යකර්ම (වෙදකම) 3 ප්‍රතිසංස්කරණය

පිරිමස්වා වැඩිපුර තිබෙන කෘත්‍යයෙන් -

"බුද්ධ සන්තකෙන ධම්මසන්තකං කාතුං වට්ටති -" යුතු බැවින් ධර්ම විනයධර තැන්වලට පැමිණෙන්ට වටනා බැවින් ඒ ප්‍රත්‍යයෙන් ප්‍රාතිමෝක්ෂාදිය උගන්නා ප්‍රත්‍යභීත එම විහාරය අයත් පේරුවේ තැන්වලට සංග්‍රහ කරන බව මුත් ප්‍රධාන තෙරගෙ හො සෙසු තැන්ගේ හො සදාතිපොසතාදි අෂ්ටනියෝජනයට පමුණුවා තමනුත් ඔවුනුත් ඒ ප්‍රත්‍යයත් නොනැසිය යුතුයි - එම ස්ථානවලට පූජාකර ඉවත්කරණ - ආහාර දැහැත් ආදිය එහි කටයුතු කරන කෙනකුට උවමනා - (වුවමනා) නිසා ගනුත්මුත් එහි පූජාවෙන රං රිදී පිළිපත් (පිළිවත්)[1] ආදිය කැමති නෑ නොනැසියට දී තමනුත් ඔවුනුත් නොනැසිය යුතුයි - විහාරයටත් තමුන්නාන්සේටත් සිවුපසය පිණිස යයි කියා ගම්බිම් ආදි යම් කැපප්‍රත්‍යයක් දුනහොත් එහි සම්මුඛීභූත භික්ෂූන් ගනනට වඩා දෙකොටසක් හා භික්ෂූන් ගනනට එක් කොටසක් ද බෙදා එයින් එක් කොටසක් විහාරයට හෙවත් සඟනමකට දෙන පමන (පමණ) කොටසක් බුදුරජාණන් වහන්සේට පුදා තමාට පුද්ගලික (පෞද්ගලික) කොටසක් හා සඟින් කොටසක් ද ගෙන සෙසු කොටස් සම්මුඛීභූත[2] භික්ෂු සංඝයාට දියයුතු විහාරවලට නියත වූ බුද්ධ සන්තක විහාරලාභයෙක් නම් එම විහාරවලට කටයුතු පිරිමසා එම හිඳ ප්‍රයෝජන විඳීම මිස අමුතු තැනකට ගෙන්වාගෙන ප්‍රයෝජන නොගත යුතුයි.

## සඟසතු විහාර පිළිබඳ කතිකා

එකස්මිං විහාරෙ ලාභෙ භාජියමානෙ ඉතරස්ස ඨිතස්ස
භාගං ගහෙතුං වට්ටති එවං එතෙන විහාරෙන සද්ධිං
බහු ආවාසා එකලාභා කාතබ්බා - එවං එකමත එකස්මිං

1. පිළිවත් = පිළිහෙවත් වස්ත
2. සම්මුඛ වූ = හමුවූ

ආවාසෙ දින්නෙ සබ්බත්ථ දින්නං හොති-

යනු මිං ප්‍රකාසිත[1] හෙයින් වැඩි ලාභ උපනා විහාර සමඟ එම විහාර ගණයෙහිම ඇති අඩුලාභ උප උපනා බොහො ආවාස එක ලාභ කොට එම ගනයෙහි වැඩි අඩු ලාභ ඇති ඒ ඒ ස්ථානවල සිටින භික්ෂූන් ගනනට ඒ ඒ ස්ථානවලින් එක් රැස් කල (රැස්කළ) ලාභය සමව බෙදාගෙන තමතමන් වසන තැන්වලට එම විහාර වලින් තමන්ට ලැබෙන කොටස් ගෙන්වා ගෙන ප්‍රයෝජන ගත යුතුය.

## ලහුබඩු පිළිබඳ කතිකා.

යංතත්ථ ලහු භාණ්ඩං ලහුපරික්ඛාරං තං සම්මුඛි
භූතෙන සංඝෙන භාජෙතුං -

ප්‍රකාසිත (ප්‍රකාශිත) හෙයින් ලහුභාඩ[2] ලහු පිරිකර සාංඝිකව ලදහොත් සම්මුඛි භූත සංඝයා විසින් බෙදාගත යුතු-

## ගරුබඩු පිළිබඳ කතිකා

යං තත්ථ ගරු භාන්ඩං ගරු පරික්ඛාරං තං ආගතා
නාග තස්ස චාතුද්දි සස්සං සස්ස අවිස්සජ්ජියං වෙභයන්ති

ප්‍රකාසිත (ප්‍රකාශිත) හෙයින් සතර දිසාවෙන් පැමිණි නොපැමිණි සංඝයාගෙ ප්‍රයෝජනය පිණිස එම ස්ථානයෙහි ම තබන බව මුත් විකිණීමක් හො බෙදාගැනීමක් නොකළ යුතුයි.

## ආවාස පිළිබඳ කතිකා

සචෙ සො ආවාසො ජීරති ආවාස සාමිකස්ස
වා තස්සවංසෙ උප්පන්නස්සවා කථෙ තබ්බං -

1. යන මෙයින් ප්‍රකාශිත

2. ලහු භාණ්ඩ

ප්‍රකාසිත හෙයින් ආවාසය දිරායාද එකල ආවාසය කරවා දුන් අයට හො එම අයගෙ වංසයෙහි උපං (උපන්) අයට නොකියයුතු-

සචෙ සො නසක්කොති භික්ඛූහි ඤාතිවා උපට්ඨාකෙහිවා

සමාදපෙත්වා ජග්ගිතබ්බා -ප්‍රකාසිත(ප්‍රකාශිත) හෙයින් ඉදින් හෙතෙම එය පිළිදැගුම්කර දීමට නොහැකි වේද භික්ෂූන් විසින් නෑයන් හෝ දායක පාර්ශ්වයෙන් හො සමාදන් කරවා ආවාස පිළිදැගුම් කටයුතු.

"සචෙ තෙපි නසක්කොති සංඝිකෙන පච්චයෙන

ජග්ගි තබ්බා" යනුවෙන් ඉදින් ඔවුහුත් එය පිළිදැගුම් කරවා දීමට නොහැකි වෙද්ද එම විහාර ගණයෙහි උපදනා සාංඝික ප්‍රත්‍යයෙන් ප්‍රතිජග්ගනය [1]කළ යුතු -

තස්මිම්පි අසති එකං ආවාසං විස්ස ජොත්වා

අවසෙසා ජග්ගිතබ්බා - ප්‍රකාසිත (ප්‍රකාශිත) හෙයින් එම විහාර ගණයෙහි සාංඝික ප්‍රත්‍යකුත් වැඩිපුර නැති කල එක ආවාසයක් විකුණා බොහොවූ සෙසු ආවාස ද එසෙම බොහො ආවාස විකුනා එක ආවාසයක් පමණක්වත් ප්‍රතිජග්ගනය කොට රැකගත යුතු - පැවිදි තැන් අයිති - පොත් පත් සිවුරු පිරිකර ආදිය ඒ ඒ ආරාමවල තබා සිස්‍ය (ශිෂ්‍ය) පරම්පරාවලට අයිතිවීමෙන් ඉදිරි සාසනයටම උපකාර වන ලෙස කිරීම මිස උවදුරක් නොතබා නෑ නොනෑ කිසිකෙනෙකුන්ගේ ගම්වල තබා තමනුත් ඔවුනුත් ඒ ප්‍රත්‍යයන්
නොනැසිය යුතුයි. පැවිදි තැන් අයිති පොත් පත් සිවුරු පිරිකර අදිය සියල්ල තමා ගිහිවීමෙන් ද කාලක්‍රියා කිරීමෙන් ද පසු සංඝ සන්තක වන බැවින් සිවුරු හැර ගිහි භාවයට පැමිණෙන තැන් විසින් පැවිදිව සිට ලත් දෙයින් කිසිවක් ගෙන නොයා යුතු - හෙරණ - මධ්‍යම ථෙර යන සැම දෙනා විසින් ම මව්පියන් [2]දෙන්නාට හා ඔවුන්ගෙ සොහොයුරන් ඇත. උන්ට හා තමා හා එක කුසෙහි ඔත්තවුන් ඇත. ඔවුන්ට හා සබ්‍රම්සරුන්ට මෙහෙ ~~කරණ පිණිස ආහාර සිභායන ගමනක් හා රොගි උව ඔවුන්ට~~

1. ප්‍රතිසංස්කරණ (පිළිසකර) 2. දෙමව්පියනට - දෙමව්පියන්ට

බෙහෙත් සිහායන ගමනක් හා පැවරු තැනට දනට බනට (බණට) පිරිතට යන ගමනක මුත් අන්කිසි කටයුත්තකට කාලවිකාලයෙහි ඈත ගමට නොයායුතුයි. ආහාර සිහායන ගමනක් හැර ඉක්මන් කටයුත්තක් සඳහා යන ගමනක් මුත් මහල්ලන් නැත, යටත් පිරිසෙයින් අන්තෙවාසික සධිවිහාරික (සඬ විහාරික) ආරාමිකාදි කිසිවෙකුට මුත් නොදන්වා විහාරාරම සීමාවෙන් පිට නොයායුතු. සියළු භික්ෂු සාමණේරාදින් විසින් ඉක්මන් කටයුත්තක් සඳහා ගිය ගමනක මුත් දානාශ්‍රයන්හිදී පාත්‍ර පරිභොග කලයුතුවත් (කළයුතුවත්) හැර ඉසුරුමත් අධිපතීන් මෙන් මඩාතැටි පරිභොග නොකට යුතු.

## තුංසිවුරු පිළිබඳ කතිකා

අධිට්ඨිතෙ සුහිතීසු චීවරෙසු එකෙන පිවිනා වසිතුං නවට්ටති සහ අරුනුග්ගමනා චීවරං නිස්සග්ගියං හොති තස්මා අරුනුග්ගමන සමයෙ චීවරං අඪ්ඪතෙය්‍ය රතනප්පමාතෙ හත්ථ පාසෙකත්වා වසිතබ්බොයි.........................යනු අටුවා හෙයින් නවක මධ්‍යම ථෙර යන සැම තැන් විසින්ම ස්වකීය තුන් සිවුරු හා පාත්‍රය අධිට්ඨාන කරගතයුතු වත් හැර අධිට්ඨාන කල තුන් සිවුරු අතුරෙන් එකකිනුදුවෙන්ව වසන්ට නොවටනා හෙයින් අරුනොත්ගමන වෙලෙහි තුන් සිවුරු දෙරියන් සමාරක් පමන[1] අත්පසෙහි තබා අරුණ නැගිය යුතුය.

## සඟවාස පිළිබඳ කතිකා

උපසම්පදාව ලත් සැම තැන් විසින්ම නො වැලැක්විය හැකි කරුණක් පැමිනි[2] කල දෙතුන් රැයක් මුත් අනුපසම්පන්නයන් හා ඒකච්ඡදන ඇති ගෘහයෙහි අරුණ නොනගා අධිට්ඨිත ස්වකීය පාත්‍රා සිවුරු එකච්ඡදන ඇති ගෘහයෙන් දොලොස්[3] රියනකින් ඉවත්ව අරුණ ගත කල[4] යුතුය...

1පමණ 2 පැමිණි 3 දොළොස් 4ගතකළ

## පිරිමඩුව පිළිබඳ කතිකා

එත්ථ පරිමඩලන්ති නාභි මඩුලං පටිච්ඡා දෙත්වාජානු මඩලස්ස හෙට්ඨා ජංඝට්ඨක තොපට්ඨාය අට්ඨඟුල වත්තං නිවාසනං ඔනාරෙත්වා නිවා සෙත්තේන පරිමඩලං නිවාස නං ඔනාරෙත්වා නිවාසෙත්තේන පරිමඩලං නිවාසනං නාම හොති..., සික්ඛාකරණියාති එවං නිවාසෙස්සා මීති ආරාමෙපි අන්තරඝරෙති සබ්බත්ථ සික්ඛා කාතබ්බා............. යනු අටුවා හෙයින් ආරාමයෙහිද ඇතුල් ගමෙහිද යන සැම තැන්හිදිම භික්ෂු සාමණේරාදීන් විසින් නාභිය වසා ........දන මඩලින් යට කෙණ්ඩා ඇටය පටන් අටඟුලක් පමන බහා ඇඳීම පරිමඩල නිවාස යයි වදාල බැවින් මෙසෙ අඳනය හැඳ ආරාමයෙහි පවා විසියයුතු.................

## පිරිමඩුළු පාරුපනය පිළිබඳ කතිකා

පරිමඩලං පාරු පනබ්බති..................

උභෙකණ්ණෙ සමංකත්වා..................

උභොකණ්ණෙ සමංකත්වාති ඒකං සිකතස්සචීවරස්ස පට්ඨී පස්සෙච උදාර පස්සෙච ඔලම්බ මානෙ උභොකණ්ණෙ හත්ථී පිසේ සණ්ඨා සමංකත්වා....................
යනු දෙසනා අටුවා ටීකා හෙයින් ඒකාංස කරණ ලද චීවරයාගේ පිට පාර්ශ්වයෙහි ද එල්බෙන්නා වූ සිවුරෙ කොන්දෙක ඇතුපිට ලන ලද මිණි දෙක මෙන් දෙකොන් සමකොට සිවුරු පෙරවියයුතුයි. උභොකොනෙ සමංකත්වා පාරුපනං පරිමඩල පාරුපනං නාම තථා අපරු පිත්වායං කිඤ්චිවිකාරං කරොන් තස්ස දුක්කටං ............යනු වදාල බැවින් දෙකොන් සම කොට සිවුරු පෙරවීම පිරිමඩුව පාරුපන යයි ද එසෙම නොපෙරවා යම්කිසි විකාරයක් කරන්නා හට කුදුලා ඇවැත්වන හෙයින් දෙකොන් සම කොටම සිවුරු පෙරවියයුතු............

ඛ

චීවරිත්වා තිසි ද තොනි.විහාරෙ විය එකංස පාරුපනං සන්ධාය විරුත්තං.......................

යනු ටීකා හෙයින් විහාරයෙහි යම් සේ භික්ෂූහු එකංස කොට සිටිද්ද එලෙසම ඇතුල් ගමෙහි දීත් එකංස කොටම යායුතු.

ඒකංසං චීවරංකත්වාපි එකස්මිං අංසකුටෙ චීවරංකත්වා සාධුකං උත්තරා සංගංකත්වාති අත්ථො................ යනු අටුවා හෙයින් දකුණු අංස කැටය මතු කොට වම් අංස කැටය යට කොට පෙරවීම මනාව උත්තරා සංග කිරීම හෙයින් එසෙ පෙරවා සිටිය යුතු යා යුතුයි.චිංවර පාරුපිත්වාකාය-බන්ධනං බද්ධ මෙව වට්ටතීනි අට්ඨ කථායං විරත්තං ................ සිවුරු පෙරවා පටිය බඳින්ට යුතුයයි අටුවා කථාවන්හි දි කියන ලද හෙයින්ද .........අන්තරා මගෙ මනුස්සා සංචරන්ති එකං නිවාසෙත්වා එකං පාරුපිත්වා එකං අංස කුටෙඨ පෙත්වා ගන්තබ්බං................. යි යනු කී හෙයින්ද අන්තොගා මෙව හොතු විහාරෙවා මනුස්සානං පරිවෙසනට්ඨානං ගච්ඡන්තෙන භික්ඛුණා චීවරං පාරුපිත්වා කාය බන්ධනං බද්ධමෙව වට්ටති ................. ප්‍රකාසිත හෙයින් ද සාමණේර නමක මධ්‍යම ථෙර යන සැමතැන් විසින්ම අතර මග මිනිසුන් හැසිරෙද්ද එබදු තැන්හි තුන් සිවුරෙන් එකක් හැඳ එකක් පෙරවා අංස කැටයෙහි බහා යා යුතුවත් හැර විහාරයෙහි හො ඇතුළත් ගමෙහි හො මිනිසුන් රැස්වෙන ස්ථානයකට පිසකා වසන තැන තැනකට හො ආහාර සිඟා යන ගමනකදී හො විසෙසයෙන් දීර්ඝ මාර්ගයට පිලිපන්නාහු විසින් ද සෙනඟ රැස්වෙන කැනක සිටින්නාහු විසින්ද අඳනය හැඳ සුපිලිසන්ව සිවුරු පෙරවා පටිය බැඳ සිටිය යුතු යා යුතු..........මඩන සීලිනොව බැළු බැළු වන්ට රිසිවන කාය සමාචාර ඇතිව තමා යෙහෙන පමණක් ග්‍රන්ථ විදර්ශනා ප්‍රගුන කොට ධූතාංග සමාදන්ව ත්‍රිවිධ සන්තොසයෙන් එක්තරා සන්තොසයකින් යුක්තව විසිය යුතුයි...පොහොවිනා චතුර් වර්ග කරණීයකර්ම අට නමක් ඇතිවද පවුරුණු විනා පංචවග්ග කරණීය කර්ම යටත් පිරිසෙයින් දස නමක් ඇතුව ද්විසංති වර්ග කරණීයකර්ම තිස් නමක් හො පංතිස් නමක් හො සතලිස් නමක් ඇතුවම කට යුතු.....................

## වත පිරිත පිළිබඳ කතිකා

ඉරියව් නො පොහොනා කරුණක් ඇතමුත් වත පිරිතට එළඹිය උන් විසින් ....සන්නි පතිතා නං වො භික්ඛු වෙදය කරණියං ධම්මං වාකථා අරිය චතුණ්හිභාවො යනු වදාළ බැවින් යොසොමනස්කාර දෙකින් පිටත්තිර සවීන කථා හා කාම විතක්කාදි පාප විතර්කයෙහි නොයෙදී පෙරයම බණ කියන කියවන අසන ධර්ම කථා කිරීම් ඈ නොසිස් පියොවින් හා විදසුන් වැඩීමෙන් හා ග්‍රන්ථධූරයෙන් හා ගෙවා මැදුම් යම පැමිණි කල වතු සම්පජඤ්ඤයෙන් යුක්තව නිදි සෙවියයුතු.......................

## වැසිසළු පිළිබඳ කතිකා

### බා

මා සො සෙ සො ගිම්හානන්ති භික්ඛුනං වස්සිකසාටිකා චීවරං පරියෙසි තබ්බං අත්ථද්ධමා සො සෙ සො ගිම්හානන්ති නිවා සෙතබ්බං ඔරෙතද්ධමා සොසෙ ගිම්හානන්තිකදා නිවා සෙ ති නිස්සග්ගියං පාචිත්තියං.....................පෙ පරද්ධිට්ඨය වස්සික සාටිකා යවස්සං උක්කඩ්ඪියති නිවත්තාය වස්සික සාටිකං ධොවිත්වානික්ඛි පිනබ්බා සමයෙනි වාසෙ තබ්බං ..........................යි ප්‍රකාසිත හෙයින් ග්‍රීස්ම ඍතුවෙන් මාසයක් තිබිය දි භික්ෂුව විසින් වැසිසළු සිවුරු සෙවිය යුතු ග්‍රීස්ම ඍතුවෙන් අඩ මසක් තිබියදි වැසිසළු සිවුරු ඇන්ද යුතු............. ග්‍රීස්ම ඍතුවෙන් ඉතුරු මාසයට මැත වැසි සළු සිවුරු සොයා ද ඉතුරු අඩ මසින් මැත වැසි සළු සිවුරු අඳී ද එ භික්ෂු හට නිසඟි පචිති වේ යයි වදාල බැවිනි. ........ පොසොම් මස පසලොස්වක [1]ගිය අව පැල විය පටන් වැසිසළු සිවුරු සොයා ඒ ළඟ මාසෙ පෝය ගිය පුර පැලවිය පටන් වැසිසළු සිවුර අඳින බව මුත් එයින් දවසක් ඉතුරුව ඇති කල සෙවීම හා ඇඳීම නොකට යුතු........... එසෙ සෙවීම ඇඳීම නොකට යුතු.............එසෙ සෙවීම ඇඳීම යන දෙකම කල කල්හි අවුරුද්ද උඩට අඳිනු ලැබුවොත්

1. පොසොන් මස පසළොස්වක

සොදාතබා වස් එලඹෙන දවසෙ ඈන්ද වියයුතු..........වස්සං උක්කඩ්ඪියති තිසවෙ කත පරියොසිතාය වස්සිකස්ට්කාය ගිම්හානං පච්චිම මාසංඛෙ පෙත්වා පුනවස්සා වාස තස්ස පට්ඨමමාසං උක්කඩ්ඪිත්වා තිම්හානස්ස පච්චිම මාස මෙ වකරොන්ති.............යි යනු අටුවා හෙයින් ඉදින් වැසි සළු සිවුරු මසා ඉවර වූ කල ග්‍රීස්ම ඍතුවේ පශ්චිම මාසය ගෙවා නැවත වස්සාන ඍතුවෙ ප්‍රථම මාසය උඩට ඇදලා ග්‍රීස්ම ඍතුවෙ පශ්චිම මාසයෙහිම කෙරෙත් යයි වදාල හෙයින් වස්සාන ඍතුවෙ ප්‍රථම මාසය වූ නිකිනි මාසය උඩට ඇදලා ග්‍රිස්ම ඍතුවෙ පශ්චිම මාසය වන ඇසල මාසයම කර ගත යුතු........

## පෙරවස් පිළිබඳ කතිකා

ඛෙම භික්ඛ මෙවස්සූපනයිකා කතමාඛෙ පූරිම් කාවපච්චිමිකාව ඉමා ඛො භික්ඛවෙ ඛෙවස්සූප නායිකා ...යන දෙසන හෙයින් ද .පුරුම්කාති අපරජ්ජුගනාය අසා ලහිහා උප ගන්තබ්බා පූරිමකත්තික පුණ්ණමා පරියොසානා පට්ඨමා තෙමාසිකා .......යන අටුවා හෙයින් ද මහනෙනි වස් එලඹීම් දෙකක් වෙති ඒ පෙර වස පසුවස යයි වදාල දෙසනාවට ඇසලය ගිය කල්හි අනිත් දවසෙහි පෙරවස එලඹියයුතු යයි ප්‍රකාසිත අටුවා හෙයින් ප්‍රකෘති අවුරුදුවල ඇසල පසලොස්වක් දා ගිම්හාන ඍතුවෙ අටවෙනිපොහොය කොට නිකිනි අවපැල වියදා පෙරවස් එලඹ වක් මස පුර පසලොස්වක්දා මහා පාවරණය කළ යුතු..........

## පසු වස් පිළිබඳ කතිකා

පච්චිම්කාති මාසගතාය ආසා ලහියා උපගන්තබ්බා

බී

පච්චිම කත්තික පරියොසාන පච්ජා තෙමාසීනි............. ය යනු අටුවා හෙයින් ඇසලය කෙරෙන් මාසයක් ගිය කල්හි බිනර මස අව පැලවිය දා පසුවස් එලඹ ඉල් මස පුර පසලොස්වකදා පසුවස් පවාරණය කල යුතුයි.

# අධිමාස පිළිබඳ කතිකා

රාජ නොත්ති යෙත්තියෙ වෙස්සෙවස්සං උක්කඩ්ඪන්ති වස්සං උක්කඩ්ඪන්තීති වස්සං දද්ධංකඩ්ඪන්ති ඒක මාසං අධික මාස වෙසෙන පරිච්චජන්න වස්සං උද්ධං කඩ්ඪන්තිති අත්ථො .... නස්වාන නියො සංවච්ජරො ....... තෙරස මාසිකො හොති.......... ප්‍රකාසිත හෙයින් දෑවුරුද්දක් හැර තුංවෙනි අවුරුද්දෙහි එක මාසයක් වැඩි මාසයෙන් හැර දමන්නා වූ අවුරුද්ද උඩට අදිති. ...අටුවා ටීකා වල ප්‍රකාසව තිබෙන හෙයින් ද මාසෙ පෝය ගිය පැලවියෙන් පැවති මාස පිලිවෙල දඹදිව මැදුම් පියස නැති හෙයින් ද දෙසනාවෙ සෑම ක්‍රමයක්ම වදාරා තිබෙන්නේ සෘතු මාස පිලිවෙලට අනුකූලව බැවින් ද පසලොස්වක දහතුනක් උනාම එබඳු අවුරුදු වල පමනක් පූර්වෝක්ත ලෙස අධික හැරිය යුතුය . තණ්හාව අවිජ්ජාව සමථෙන විපස්සනාය යෙතෙහි සච්චෙහි. යොජයිත්වා අයංනයො නන්දියා වුත්තො.............යි ප්‍රකාසිත හෙයින් සමථ විදර්සනා දෙක හා සමග තෘෂ්ණා අවිද්‍යා දෙක චතුස්සත්‍ය යෙන් යොදා යමකුගෙ ගන්දයට ආරූඪ කෙරෙද මෙනය තෙම නන්ද්‍යාවෘත නම් නය ක්‍රමය යි දත යුතු.....මෙහි තණ්හා අවිද්‍යා දෙක සමුදය සත්‍ය යයිද මෙ තණ්හා අවිද්‍යා දෙක නීතාර්ථ හා මුක්ඛාර්ථ යයි ද තණ්හා අවිද්‍යා දෙකින් උපදවන ජාත්‍යාදි දුක දුක්ඛ සත්‍ය යයි ද සමථ විදර්ශනා භාවනාවෙන් උපදවන නිර්වානය නිරෝධ සත්‍ය යයිද මෙ දෙක නෙය්‍යාර්ථ හා මුක්ඛ්‍යාර්ථ බවද දත යුතුයි................ මෙ දැක්වූනය ක්‍රමයෙන් ..... වස්සානස්සපඨම මාසංඋක්කඩ්ඪිත්වා ගිම්හානස්ස පච්චිමාස මෙවකරොන්ති යන මෙ පාලියෙහි අමුක්ඛ්‍යාර්ථව ඉගෙන ගත යුතු ................ පඨම පාටිපද දිවසෙදිව සෙසු සුක්ඛ පක්ඛ පාටි පද දිවසෙකනංහි කණ්හ පක්ඛ පාටිංද දිවසං අපෙක්ඛිත්වා පඨම පාටිපද දිවසන්ති වුච්චති..ඉදංච ඉමස්මිං දීපෙ පවත්තවො හා රංග හෙත්වා මිනොපට්ඨායයාච අපරාපුණ්ණා අවරිමං ඵග්ගුන පුණ්ණමිමිනාව ඒ කොමාසො විහාරස්ස පවත්තන්තා නෙන වොහාරෙන දුතිය පාටි පද දිව සෙනිවත්තක්ඛං සියා තන්තිහි කණ්හ පක්ඛ පාටි පදවසං පඨම පාටි පද දිවසන තිවුච්චති. යනුවෙන් ප්‍රථම පැල විය දවස නම් සුක්ල පක්ෂ පැල විය දවස නම් සුක්ල පක්ෂ පැල විය ද[illegible]............[illegible]

දිවයිනෙ පැවති ව්‍යවහාරය ගෙන කිවූ බවද දත යුතු..............
පැලළුවි නුවර වනාහි.....................

## බී

පෞර්ණ මියගිය පැල විය පටන් එ ලඟ පෞර්ණ මිපොය යම් තාක්ද එ තාක් එක මාසයකි යන විවහාරයක් [1]පවත්නා බැවින් එ ව්‍යවහාරයෙන් දෙවෙනි පැල විය දවස යයි ව්‍යවහාරිත හෙයින් කෘෂ්ණ පක්ෂ පැලවිය දවස යයි දත යුතුය. මෙම ශ්‍රී ලංකාද්වීපය ආදි පසල් රටවල පුර පැල විය දවස ප්‍රථම පැලවිය දවස ද ............. මාධ්‍ය දෙසයට අයිති පැලළුප් නුවර ආදි රටවල අවපැල විය දවස ප්‍රථම පැලවිය දවස ද..................... විනය අටුවා ටීකා වල ප්‍රකාස[2] තිබෙන හෙයින් එය බලා ධර්ම විනය ධරයන් හා සාකච්ඡා කොට මැනවින් ඉගෙන ගත යුතු බව මුත් උන්පථයෙහි නොගිය යුතු........... වස්සූපානායිකා වත සර්වත්‍ර ප්‍රඥප්තියක්වැ විත් වැඩි නිකිනි මාසය උසට ඇදලා ඇසල මාසය කරගෙන එ ලඟ තිබෙන මාසය නිකිනි මාසය මෙන් සලකා අධිමාස පතනය වන වර්ෂ වල අධික හැර පෙර වස් එලඹිය යුතුයි............... නෙවබො අපුබ්බං අචරිමං එග්ගුත පුණ්ණමි දිවසෙ යෙව පාතු භවන්ති ................යනුවෙන් කල්පය මුලදි චන්ද්‍රසූර්යය දෙදෙනාම මැදින් මස පුර පසලොස්වක් දා ඉදිරි පසු නොව එක විට පහළ වූවාහු යයි ප්‍රකාශිතව තිබෙන හෙයින් ද ..............................

වස් එලඹීමාදි ආගමේ ප්‍රධාන කටයුතු පසලොස්වක මුල් කොට ගෙනම සිදු කල යුතු හෙයින් සියළු උපසම්පදා තැන් විසින් ඉහත කී නොකී ධර්ම විභාග ධර්ම විනය ධර මහ තෙරුන් ඇසුරු කොට චතුර්විධ විනයට හා සතර මහා ප්‍රදේශයට අනුකූලව දැන ඉගෙන පිලිපදින බව මුත් නොවිමසා පිලිවෙත් වරදවා ගෙන තමනුත් මොහු ඇසුරු කරණ වුනුත් උන්පථයෙහි ගොස් තමනුත් ඔවුනුත් නොනැසිය යුතුයි...................

# කඨින පිළිබඳ කතිකා

කඨින දායකස්ස වත්තං අත්ථිසම්ම සොතං අජානන්තො පුච්ඡති භන්තෙ කථා කඨිනං දාතබ්බින්ති........................

යනු ප්‍රකාසිත හෙයින් කඨිනය දෙන දායකයාට ඇතිවන හෙතෙම නොදනී නම් එ දායකයා විසින් ස්වාමීනි කඨිනය කෙසේ දිය යුතුදැයි වස් එලඹී භික්ෂුවගෙන් ඇසිය යුතු භික්ෂුව විසින් කිය යුතුය. ................ තින්නං චීවරානනං අඤ්ඤතරං පහොනකං සූරියුග්ගමන සමයෙ නව වත්ථං කඨිනචීවරං දෙමාති දාතුං වට්ටති .............. ප්‍රකාසිත හෙයින් තුන් සිවුරු අතුරෙන් එක්තරා සිවුරකට පොහොනා පමන නව වස්ත්‍රයක් ඉර පායන වෙලෙහි මහත් ගෞරවයෙන් ගෙනවුත් කඨිනය පිනිස දිය යුතු බව මුත් ඉර පායන්ට පෙර වස් සීමාවට වස්ත්‍රය ගෙන නොයා යුතුයි............. සචෙතන චීවරං මෙව උප්ජති සුන්දර මෙ අච්චින්න සිබ්බිතං පතනවට්ටති..................... ප්‍රකාසිත හෙයින් එ දවසම කරන ලද සිවුරක් ලැබෙද යහපත්මය එ දවසම නොකැපූ නොමැහූ සිවුර නොවටී යයි............................

බු

ප්‍රකාසිත හෙයින් දායකයා විසින් එ දවස්ම කපා මසා නිම කොට ගෙන දෙන ලද සිවුරෙන් හො තද හෙව පද්වා අති කාන්ති වාපින්දිත්වා සංඝාටිවා උත්තරාසං ගොවා අන්ත රවාස කොවා කානක්ඛො ..................යනුවෙන් එ දවස ඉර පායන සමයෙහි ගෙන දෙන ලද වස්ත්‍රය කඩ පහට හො ඊට වැඩිව හො සිවුරු කර ගැනීමට පොහොසත් ප්‍රබල භික්ෂුවකට කර්ම වාක්‍යයෙන් පැවරීම හො සංඝයා විසින්ම හො එ දවස් කපා මසා කප් බින්දු තැබීමෙන් නිමවන ලද සිවුරු අස්ථාරහක භික්ෂුවක් හට පැවරිය යුතුය....... කඨිනස්ස එක මූලංසංඝොති තිචත්ථූනි සංඝාටි උත්තරා සංගො අන්තර වාසකොජ භූමි යො.................. ඛොමංකප්පාඩි කංකොසෙය්‍යං කම්බලං සාතං භගං කඨිනස්ස පුබ්බ කරණං ආදි කිරියා මජ්ජෙධ අත්ථාරො පරියොසානං.................... යනාදින් කඨිනයට මූලය ද වස්ත්‍රය ද භූමිහු ද අදිම වූ පූර්වකරණය ද මධ්‍යයෙහි කර්ම

වාක්‍යද අවසානයෙහි ඇතිරීම ද කල යුතු හෙයින් ද කඨින අතුරන භික්ෂුව ගෙතුං සිවුරු පෙර අධිෂ්ටාන කැර නොතිබුනා නම් ප්‍රථමයෙන් තුන් සිවුරු අධිෂ්ටාන කර ගත යුතු ................ දෙවනුව කඨිනය අතුරන භික්ෂුව සඟල සිවුරෙන් කඨිනය අතුරනු කැමැත්තෙ නම් පුරාණ සඟල සිවුර පච්චුද්ධරනය කල යුතු වත් හැර උත්තරාසංගය හා අන්තර වාසකය පිළිබඳ ................වද මෙසේ යයි දත යුතුයි තෙවනුව සංඝාටිං අධිට්ඨාමි කියා තෙවරකින් අධිඨාන කර ගත යුතු. ..... සිවු වෙනිව ඉමාය සංඝාටියා කඨිනං අත්ථරාමි ..................... ඉමිනා උත්තර සංඟෙන .............. ඉමිනා අන්තරවාස තෙන කඨිනං අත්තරාමි ...........කියා තිසි සෙ තෙවරක් තියා කඨිනය ඇතිරිය යුතු... පස්වෙනිව එක සීමාවෙ වස් එළඹ පවාරනය කල භික්ෂුන් ඇත්නම් එ භික්ෂූන්ට ........ අත්ථනං භන්තෙ .......හො ........... අවුසො සංඝස්ස කඨිනං ධම්මිකො කඨිනත්වාරො කඨිනං අනුමොදය අනුමෝදාභි මෙසේ තිසිසේ තෙවරක් කියා කඨිනය අනුමෝදන් කරවිය යුතු......... හයවෙනුව අනුමෝදන් වන භික්‍ෂූන් විසින් සීමාවෙ වස් එළඹ පවාරනය කල භික්ෂූන් ඇත්නම් ඒ භික්ෂූන්ට.......අත්ථනං භන්තෙ ..හො.... ආවුසො සංඝස්ස කඨිනං ධම්මිකො කඨිනත්ථාරො කඨිනං අනුමෝදම් තෙවරක් කියා අනුමෝදන් වියයුතු............. කඨිනචීවරුප්පාද යෙහි පටන් ආනිසංස මාසාවසානය දක්වා අතුරෙහි විරුද්ධ ප්‍රතිපත්තින් වන පාරාජිකා වාසනා ආදිනව මහත් බැවින් කඨින සිවුරෙහි පවත්නා විධි දැ ද්විධ පලිබොධය ද සය විධ වූ කඨිනොද්ධාර වූ මාතෘකාව ද පංච විධ ආනිසංසය ද ..........ධර්ම විනය ධර මහ තෙරුන් ගෙන් සකස්ව ගෙන ඉගෙන පැවතිය යුතුයි...........

## බද්ධ සීමා පිළිබඳ කතිකා

බූ

බුද්ධක සීමාව වනාහි යටත් පිරිසෙයින් එක් විසිනමකට වැඩ සිටීමට පුළුවන් පමන දිග ගත යුතු......මහ සීමා වනාහි උඩත් පිරිසෙයින් දිග පුළුලින් තුන් යොදුනකට වඩා මත් නොකල යුතුය. මෙදැ තුර ඕනැ පමන භූමියක් සකස් කරවා අටකොන නිමිති ගල්

වලට බාහිර දෙසින් අඩ දෙරියනට දුර නොවන සේ නිමිති ගල් වලට පහත්ව අටකොන උපචාර ගල් සිටුවිය යුතුයි. නිමිති ගල් වලට බාහිරව එක් රියනකින් අඩු නොවන සේ නිමිති ගල් මැදි කොට මෙහි දැක් වූ පරිද්දෙන් මැද මැඩිල්ලේ පටන් පූර්ව දිග මැඩිල්ල දක්වා ඇති මඩල ප්‍රමාන මැඩිලි වල සංඝයා අත් පස නොනසා උත්තර දිසාභිමුඛව හිඳ ග්‍රාමසීමාව සුද්ධ බව දැක්වූ කල අවිප්පවාස සීමා සමූහන කර්මවාක්‍යය ද .........සමාන සංවාස සීමා සමූහන කර්ම වාක්‍යය ද පිලිවෙලින[1] කියා නිමවා දක්ෂිනාවෘත්තව පිලිවෙලින් එකින් එක මැඩිලි වලට පැමිණ.................පූර්වෝක්තකර්ම වාක්‍ය දෙක කියා නැවතත් පූර්ව දිග මැඩිල්ලටම පැමිණ එසේම කියා නිමවා සංඝයා අත්පස නොනසා හිඳ මහතෙරුන්වහන්සේ පූර්ව දිග පාසාන නිමිත්තට ඇතුල් පාර්ශ්වයෙන් සිට පුරත්ථිමාය දිසාය කිංනිමිත්තං ................භාසනය කළයුතු ඉක්බිති එම පාසාන නිමිත්තෙන් බාහිරව උපචාර ගලට පිටින් සිට අනුප සම්පන්නයෙකු විසින් පාසානො භන්තෙ .............කී කල මහතෙරුන් වහන්සේ එසො පාසානො නිමිත්තං .................කියමිං එම නිමිතිගල මත දක්ඛිණ හස්ථය තැබිය යුතු වත් හැර මහතෙර දක්ෂිණ වෘතව පිලිවෙලින් පාසාන නිමිති කරා පැමින පුරත්ථිමාය අනුදිසාය යනාදි ක්‍රමයෙන් නිමිති කිර්තනය කොට නැවතත් පූර්ව දිසාවෙ පාසාන නිමිත්ත කරා පැමින පෙර සේම නිමිති කීර්තනය කල යුතුයි .. මෙසේ නිමිති කීර්තනය කොට සෑම සංඝයාම මැද මැඩිල්ලට පැමින පූර්ව දිසාභිමුඛව හිඳ සමාන සංවාස සීමා සම්මුති කර්ම වාක්‍ය භාසනය කල යුතු........මෙසෙ නිමිති කීර්තනය කොට එකී එකී මැඩිල්ල පිරෙන තරම් සංඝයා සිට සියළු මැඩිලිවල එක එකවර කර්ම වාක්‍ය භාසනය කිරීම අතිසයින් මැනැවයි මහොපාධ්‍ය ප්‍රවර උපාලි මහා ස්ථවිර ස්වාමින් වහන්සේ විසින් වදාල හෙයින් එසේම කල යුතුයි.

ඛ ධ

මෙසේ මැද මැඩිල්ලේ දි සමාන සංවාස සීමා සම්මුති කර්ම වාක්‍ය භාසනය කොට නිමවා ඉක්බිති කරණීය මෙත්ත සූත්‍රය ගණ සජ්ඣායනා කොට ඉන්ද්‍රාදි අමරෙන්ද්‍රයන්ට එපින් පැමිණ විය යුතුයි....

1. පිළිවෙළින්

# පිළිවෙස් පිළිබඳ කතිකා

නවක මධ්‍යම ථෙර සංඛ්‍යාත උප සපන් තැන් විසින්ම යටත් පිරිසෙයින් වසකට වරක් වත් වත්මානත් පුරා අක්බහත කරගත යුතුයි .

ගරුකාපත්ති වුට්ඨාණත්ති පරිවාස මානත්තිදිහි විනය කම්මෙහි ගරුකා පත්ති නොවුට්ඨානා.................. ප්‍රකාසිත හෙයින් තෙලෙස් සහ වෙසෙස් අතුරෙන් යම් ගරු ඇවතකට පැමිණි භික්ෂුවක් විසින් වත්මානත් පුරා අක්බාහනය කොට තෙලෙස් ගරු ඇවත් වලින් නැගිට පිරිසිදුව විසිය යුතුයි ..................... ආපත්ති තුක්ඛිත්ත වතන්තරා පවුත්තනායොතථ සඤ්ඤතාව ජාදෙතුකා වො අඵඡදනාතිජ තිජත්තංද සාගෙ හරුනුග්ගම්මහි ප්‍රකාසිත හෙයින් ගරු ඇවතක් වීම උක්ෂෙපනීය කර්මය නොකල බව ආරොචනය කිරිමට පුඑවන් කම තිබීම සබ්‍රංසරුකරයා මෙදි සොර සතුරු භය ඇතිවීම ආදි අන්තරා නැති බව යන මේ සතර හා එහි සහිඤා ඇති බවද ඇවැත් වැඩීම් කැමැත්ත ද ඇවැත් වඩීමද යන අඟ දසයෙන් යුක්තව අරුනු නැඟීම ආපත්ති ප්‍රතිච්ඡාදනය කම් වනහෙයින් ......................... ආරොචෙ මිම්ම එකං ආපත්ති ආපත්ත භාවං ජාතා භිතිකාව දතු එකං ගරුකා පත්තිං ආදිතාන යොතවදතු යතු අටුවා හෙයින් සහ වෙසස් ඇවතට පැමිණ යම් භික්ෂුවක් වේද ඒ භික්ෂුව විසින් ඇවැත් ප්‍රතිච්ඡාදනය කොට නොගෙන අනෙවරී සභභාගි භික්ෂුවක් වෙතට පැමිණ ගරු ඇවැත් එක ක් හෝ දෙකක් හො එයට වැඩිවන සම්බහුල වාර වශයෙන් හො නා නා වස්තුක සම්බහුලා ගරුකා පත්තීන්ට හො පැමිණ මෙපමන අරුන[2] ප්‍රතිච්චින්න වූ බව දැන වදාල මැනවයි සැලකල යුතුයි......... යොපතච් සභාගො හොති සුත්වාපකා සෙතුකාමො එ ච රූපස්ස උපජ්ඣධා යස්ස සන්තිකෙන ආරො වෙ තබ්බා ප්‍රකාසිත හෙයින් සමාන සංවාස නොවන භික්ෂූන් සමගත් සභභාග වූ බවද අසා ඒ සියල්ල අනුන් හා ප්‍රකාස කරන කැමති භික්ෂූන් සමගත් වයිරී[3] භික්ෂූන් යටත් පිරිසෙයින් එබදු උපාධ්‍යායාගේ සමීපයෙහි හො ආපත්ති ආරොචනය නොකල යුතු................
මෙතැන් සිට සපයා ගැනීම නොහැකියි.

1 පිළිවෙස් - පිළිබඳ 2. පමණ අරුණ 3. වෛරවූ

# පරිශිෂ්ට සංග්‍රහය

## 1

## නිශ්ශංකමල්ල කතිකාවත

ශ්‍රී සිරිසඟබෝ වීරරාජ නිශ්ශංකමල්ල කාලිඟ පරාක්‍රමබාහු චක්‍ර (වර්තීන්වහන්සේ) සසුන් පස්වාදහස් පවත්නා සඳහා ශ්‍රද්ධාබුද්ධි පූර්වංගම වැසුපිළි (පන් සඞ්ඝයාවහන්සේ) ධර්මවිනය වූ පරිද්දෙන් පුරන පිළිවෙත් ඇතද ශාසනරක්ෂාවට සුදුසු අවවාද මෙසේ වදාරන සෙයෙකි.

අත..............(දුන්) ආචාර්‍ය්‍ය උපාධ්‍යායවැ සිටිනා වහන්සේ වරුන්දැ ශඨ කුට කෛරාටි (ක ගුණ) නුවණ නැති පාපසත්‍වයන් නොවිචාරා මහණ නොකටයුතු.

බුදුන් වදාළ ආ..........තු (නො) මනාවක් නොකටයුතු.

ගුණනැතිවැ ගත් මහණවෙස් (තැවූ යැ....................
දුශ්ශීලවැ පරාපිළිබඳ අහර වළඳනු නරකයෙහි..................

2

# ශ්‍රී පරාක්‍රමබාහු කතිකාවත

...........න් සදගශවූ ශ්‍රී පරාක්‍රමභූජ මනුජේන්ද්‍රයන් වහන්සේ ස්වකීය රාජ්‍යවර්‍ෂියෙන් පන්සාලිස් වනුයෙහි දූරුතු මැදි පොහොදා සකල නගරාර්‍ධිගශ්‍රීසමෘර්‍ධියෙන් පන්සාලිස් වනුයෙහි දූරුතු මැදි පොහොදා සකල නගරාර්‍ධිගශ්‍රීසමෘර්‍ධිසම්පන්න ජයවර්‍ධනපූරයෙහි වූ වර සිංහාසනා රුඪවැ වැඩහිඳ ත්‍රිභූමක ශ්‍රී දංෂ්ට්‍රාධාතුමන්‍දිර කරණාදි විවිධ කුසළ සමුදය සමුද්භවයෙන් ශාසනසංග්‍රහකටයුතු වෙයින් ශාසනානුශාසක ගණ දෙටු තැන්ද පිළිවිස දුෂ්ප්‍රතිපත්ති පූරකයන්හට අවකාශ නොතබනුමනා යයි සිතා වදාරා ඊට සුදුසුවූ ධර්‍මානුගත ව්‍යවස්ථාවන් නියම කළ සේක්ය.

යම්සේ පෙරරදුන් සෙමෙහි සසුන් රක්නා රිස්සෙන් ව්‍යවස්ථා[1] සම්මතකොට ශාසනාවචර කුළපුත්‍රයන්ගේ සහාය ලැබ ශාසනය දිගායුබවට පමුණුවන ලදද එසේම මාගේ රාජ්‍යයෙහි සියලු ගණදෙටු තැන් විසින් පරම්පරාගතව පවත්වනසේ මේ ව්‍යවස්ථා[1] සපයා උතුම් බුදුසස්න පස්වාදහසක් පවත්නා සේ ප්‍රතිපත්ති මහාප්‍රාකාරයෙන් පරික්‍ෂෙපකොට මේ ව්‍යවස්ථාපිරිමෙහි සවකීය සර්‍ධිවිහාරික අන්තෙවාසිකයන්හට ඇණවාලියැයුතු. හේ කිසේයයත් :-

අලුයම නැඟිට සිරුරු කිස නිමවා තෙරුවන් වැඳ මෙත්

පිරිත් බැණැලද අහරක් වළඳා විදසුන් වඩන වහන්දෑ විසින් විදසුන් වැඩීමෙහිත් ග්‍රන්ථධුරය පුරන වහන්දෑ විසින් පඨන පාඨනග්‍රහන ධාරණයෙහිත් යෙදියයුතු.

කුලසංසග්ගියෙන්වන ශීලවිපත්ති ආචාරවිපත්තීන් සලකා බුදුන් වදාළනියායෙන් පවතිනුවත් විසින් ගෙහසිත විසින් කුලයෙහි නොඇලියයුතු.

පිඩුපිණිස ගම්වදනන් විසින් ගම්දරුවන් සෙයින් කාය විකාර සහිත නොවැ අප්‍රසන්නය තහවුරුවීම පිණිසත් ප්‍රසන්නයන්ගේ ප්‍රසන්නය තහවුරු වීම පිණිසත් සෙඛියාහි කී නියායෙන් හොබනා ආකල්ප සමෘඩියෙන් යුතුවම ගෙපිළිවෙලින් යායුතු. අකාලයෙහිද අකාරණයෙහිද අරමින් බැහැර නොයායුතු. යුක්තප්‍රාප්තකාලයෙහි ගම්වදනුවන් විසිනුදු ආචාර්‍යයන් හෝ ගණදෙටුතැන් හෝ එසේත් නැත ආරාමිකයන් දන්වා අරමින් බැහැරයායුතු.

ගිහියන් සිත්ගන්නා අටියෙන් සඟසතුවූ පුෂ්පඵලාදීන් ඔවුනට නොදියයුතු.

තමහටද පරහටද සස්නටද අවැඩකාරී අන්වෙෂණ කුල දූෂනාදි අසඬම්හි නොයෙදියයුතු.

ආජීවශුඬිය කැමැත්තහු විසින් අහර නොලැබීමෙන් දිවියතත් නොනෑ නොපැවරූ තැනකින් විනවා නොවැළඳියයුතු.

තමන්වෙත පැමිණි ගැහැවියන් හා දෙතිස්කතාවන්ට අයත්වූ නොඑක් ප්‍රලාපබස් කියමින් ඔවුනොවුන් තතු විනිස විනිසා නොහිඳැ ඔවුනට යුතුවූ ධර්‍ම කථාවක් මැ කටයුතු. පෙරමජ්ඣිමනවකයන් එක්වූතන්හිද දැහැමි කතාවක් කරනු හෝ නිශ්ශබ්ධවනු විනා මුඛර...................................

3

## මිහින්තලේ ශිලාලෙඛනය

සිරිබර් කැතකුලකොත් ඔකාවස් රජ්පරපුරෙන් බට් කැතළසබ් අබහය්සලමෙවන් මහරජ්හට් එමෙ කුලෙන් සැමජැය් දෙව්ගොන් බිසෙව්රැජ්න කුසැ ඉපැද ඇපා මහයාසිරි විඳැ පිළිවෙළැ සෙය් රජ්වැ තුමා සිරින් ලක්දිව් පහයමින් සිටැ සිරි සඟ්බොය් අබහය් මහරජ්හු තුමා සත් ලැගුසොලොස්වන හවුරුදුයෙහි වප් සද් පුන් මස්හා දස පක් දවස් සෙය්ගිරි වෙහෙර්හි සිරිත්තිජ රුස්වා ගෙනැ මෙ වෙහෙරට් මෙ සිරිත් තුබුව වටි තිසියත් හා සසැඳැ මෙ වෙහෙර වසන මහබික්සඟ්හාමියනට් ඉසා කැමියනට් ඉසා දස්නට් ඉසා කටැයුතු ඉසා ලබනු දියැයුතු සෙ ඉසා විවරුණෙන් එක්සෙකොට් මෙ සිරිත් තබනලදී.

මෙ වෙහෙර්හි වසන බික්සඟ්හිමියන් විසින් බිළීපසොස් සල්හි නැඟීසියු අරක් මෙනෙහිකොට් දැහිට් කිසැතිමය් සිකකරණීහි කියූ සෙයින් සිවුර් හැඳැ පෙරෙවැ ඇත් වෙහෙර ලහාග් අවුද් මෙත්පිරිත් කොට් බැසැ හඹුබත් ගතැයුතු. ගිලන්වැ ලහාග් ඉයැ නොයහන හිමියනට් වෙදුන් කියූ සැඳැ වසැග් දියයුතු.

මෙ වෙහෙර වැසැ වනවළා කියන බික්නඟ්හිමියනට් කඬීන් පිඬීන් වසග් පසක් ඉසා සූතත්වළා කියන බික්සඟ්හිමියනට් වසග් දොළොසක් ඉසා දියැයුතු ඉසා දායකයන් පිරිකපා සඟ්නට් දෙනු කළ පස නොපිරිහෙලා දියැයුතු.

මෙ වෙහෙරැ ආවූ තුවාක් අවසැබද් ගම්බිම් මෙහිමෙ පසක් දී නිබද්වැ වැසැ වළඳත් මුත් බදවස් හා එක්කුසවැ නොවැළැඳියැ යුතු.

සඟ්සැමැහින් කැමියනට් වජාරත් දහවුත් මුත් පුගුල්වැ නොවැජැරියැ යුතු නො දැහැවියැ යුතු.

මෙ වෙහෙරැ වසන බික්සඟ් හිමියන් අත්වෙහෙරැ බද්තුවාක් තන්හි කුඹුර් අරුබ් ඇය් කවරු පරියායෙන් නොවැළඳියැ යුතු.

තුමන් පිළිබදුන් විසින් ඇත්වෙහෙරැ අබැදිතාක් තන්හි ඉසිරැ නො කටැ දියැ යුතු.

මෙ සිරිත් ඉකුත්හිමි මෙ වෙහෙරැ අබැදිතාක් තන්හි ඉසිරු නො කටැ දියැ යුතු.

නකා බලන හිමියන් ඉසා වෙහෙර් පිරිවහනුවා ඉසා නියම් ජෙටු ඉසා ආකැමියා ඉසා පසක්කැමියා ඉසා වෙහෙර්ලෙයා ඉසා කරඬිලෙයා ඉසා පසක්කැමියා කරඩු අත්දමු ඇතුල්වැ මෙතුවාක් ජනා අබහය්හිරි නයක්හි දෙමුළින් සාහනුයට් වැඩි සඟුන් සැමැහින් ඇත්වෙහෙර්හි හිඳැ කම්තැන්කොට් ඇතුළ් බැහැරි අයවිය ඇය් කම් කටැයුතු. ඇතුළ් බැහැරි අයවියෙහි යුත් කැමියන් නැසුවාක් දෙනුවට තිසි කුඩින් ඇපැ ගෙනැ කම්තැන් සැමැහින් තිබියැයුතු.

මෙ වෙහෙරැ වසන හිමියන් පිළිබදුන් තිසිද්හොත් මෙහෙයැ නො තිබියැයුතු. හැරිය යුතු කැමියන් ලෙකම් කරාණවූ දැයක් ගෙනැ හැරියැයුතු.

මුඳුකරඩු කම්තැන් කැමියන් හසින් හස්කොට් දාගෙකැමියන් පසැකින් දාගෙහි තිබියයුතු.

මෙ වෙහෙර්හි යුත් කැමියන් කෙරෙන් වෙහෙරට් කැමින් අනොබ ගිය කෙනෙකුන් මුත් තනැ සිටි කැමියන් කෙරෙන් වට් ඔනා තැනැ ඉසා සාල් ගන්නා තැනැ ඉසා තුන් ජනකුකෙරෙන් නොඋනුවැ පසැකැ සිටිය යුතු.

ඇත්වෙහෙර් දාගේ පිළිබද් කවරිකතකුද් පිරුළ් නොදියැ යුතු කැමියන් විකිණිජ් නො ගතැයුතු.

මෙහෙයැ බද් මිනිසුන් කැමියන් තුමනට් මෙහෙ නො ගතැයුතු අනොබ මෙහෙයට් නොදියැ යුතු.

කතුමහසැයෙහි කම්නවාමට් දම්ගම්යෙන් දූන් පයල ඇත්වෙහෙර් කැමියන් බලා ගෙනැ දාගැබ්හි කම්නවාම් කැරැවිය යුතු කිර්බඩිපවු දාගැබ්හි අරකට් ඇළ්ගම්යෙන් දූන් දෙකිරිය දී අරක් කරැවිය යුතු. දිගෙහි ඉසා මහුල් මහසල පිළිමගෙහි ඉසා මහබෝය්ගෙහි ඉසා නයිනඳැ ඉසා මිණිනාල් දෙව්දූන්ගෙහි ඉසා කතුමහසැයෙහි ඉසා කිර්බඩිපවු දාගැබ්හි ඉසා මෙතුවාක් තන්හි පිජ්නිවත් ඉසා ඇත්වෙහෙරින් රන් එක්සියක් කළඳ් ඉසා වී දසයහළක් ඉසා මෙතුවක් ගෙනැ හවුරුදූපතා මෙ වෙහෙර්හි දාගබ්ඇය් හැම තන්හ කම්නවාම් කැරැවියැයුතු.

දාගේ පිළිමගෙහි බද් ගුතැ කරනඳැ දෙ ගැම්හි දූම්මලස්සමුන් ගෙදඩි කොදඩි කැරැ පෙරෙළිවර් බැළැ වෙහෙරට ගතැයුතු. කිර්බඩි පවුයෙහි ගසගැසියෙන් තුතින් එකක් ඉසා මෙහි සන්වැල්ලෙහි ගෙකුලී ඉසා මණුවැසර ඉසා ළිහිණියපවුයෙහි උඩැසි යටැසි දෙවැසර ඉසා මෙහි සන්වැල්ල ඉසා පහනැවිල් වට්හි බිම් ඉසා පොරොදෙහි පොකුණ් වටැ බිම් ඉසා මෙතුවාක් තන්හි ලබනු වෙහෙරට් ගතැයුතු.

වෙහෙර් දසුන් හා කැමියන් මුත් වෙහෙර් බිමැහුන් කුඩින්ගෙන් බිම් සොවස් තිසිසෙයින් වෙහෙරට් ගතැයුතු.

කහසන්වැ ගත් වෙසට් නො අනුරූ කියවිකිය ඈය් කම් කරනු වන පණිවා කරනුවණ ගල්වැටැ නො විසියැ දියැයුතු.

සුදසුන් වත් වෙහෙරට්මුත් කැමියන් නො ගතයුතු.

මෙවෙහෙර බද් තුවාක් ගම්බිම් කැරැයෙහි බැඳැ සලසත්මුත් පාට්ට නොදියැයුතු.

තුන්දා වර් මුත් පෙහො මඟුල් ඈය් සෙසු වර් නො ගතැ යුතු.

කැමියන් වෙහෙර්දසුන් පිවෙල්කොට් දුනුවක් මුත් ඈත් වෙහෙර බද් තුවාක් තන්හි උකස් පමණු පාට්ට කර කුඹුර් අරුබ් ඈය් නො වැළැඳියැ යුතු.

වෙහෙරට් කැමින් ගිය කැමියන් හස්කරුවන් දෙන පෙරෙ සිරිත් බිලිසාල් මුත් රටින් වැටුම් නොගතයුතු. කුඩීන්ගෙන් පඩුර් නොගතැයුතු.මෙකුන්ගෙන් ගෙගොන් ගෙනැ කැමියන් තුමනට් ගොවිකම් නො කැරැවිය යුතු.

හස්කරු පරපුරෙන් වැටෙන කැර කුම්බුර්නො වැටියැහෙත් මුත් හැර නො ගතැයුතු.

වතු පැතට් වැදැ අතියා නොකටැයුතු. ගස් කොළැනො කැපියැයුතු. මෙ වෙහෙර ආවූ තුවාක් ගම්බිම්හි තලන් මීවන් ඈය් පලරුක කම්තැන් සැමැහින් දුනමුත් නො කැපියැ දියයුතු.

කුඩින් කළ වරජක් ඇත ගම් සිරිත් දඩිකිරා කිරු දඩි මීනැ ඇකැ අවට සොළොස් රියන් ගැම්බුරරියන් කබුල් බැඟින් ගෙනැ වැව් මෙහෙ කැර වියැ යුතු. නොකළ කිරු දඩිගතැයුතු.

මෙ වෙහෙර ආවූතුවාක් ගම්බිම්හි ලබනුවනට් පිවෙල්කොට්

දුනුවන් මුත් තුබූතාක් තන්හි කම්තැන් සැමැහින් පසක් වනසෙයින් ආකළ තුවාක් පස්පොත් හි ලියැවියැ යුතු. මහපා වටට් ඉසා ලබනුවනට් ඉසා කම්නවාමට් ඉසා දවස්පතා වියවුතුවාක් පස්පොත්හි ලියවා කම්තැන් සැමැහින් අත්වතු කරාය් සත් ඔතමනුවන් සතින් පටවය් මුන්‍ද කරඩුයෙහි තබා මස් මස්පතා මෙ අත්වතු පළා එක් අත්වතු කොට් හවුරුදුයෙහි දොළොස් අත්වතුයෙන් හවුරුදු අවසන්හි ලෙකම් කරාය් සඟ්මන්දැ ජන්වා නිමැවියැයුතු.

මෙ සිරිත් ඉකුත් කැමියන් ගෙදඬී ගෙනැ මෙහෙයින් හැරිය යුතු.

නකා බලන හමියනට් දවස් පතා සාල් එක් නැලියක් ඉසා වසන් බණෑ රන් එක් කළඳ් මෙතෙක් මෙ ඉසා නියම් ජෙටක්හට් පිවෙල් පස්කිරියක් ඉසා දවස් පතා සාල් එක් නැලියක් ඉසා හවුරුදු වැකට් සෙතුවමට් මල් මිලැ පසළොස් කලන්දක් ඉසා ආකැමියා ඉසා වෙහෙර් ලෙයා ඉසා කරඬි ලෙයා ඉසා කරඩු අත්සමු ඉසා පසක් කැමියා ඉසා එක්නට් පස් කිරි බැගින් ඉසා පිරිවහනු වතකැමියක්හට එක් කිරි දෙපයක් ඉසා සාල් අඬීමනාක් ඉසා සැරැයින් ගන්නක්හට් දෙපයක් ඉසා සාල් එකඬීමනාක් ඉසා මහුල් ජෙටක්හට් එක් කිරියක් ඉසා දම්යෙන් වසගක් ඉසා හවුරුදුවකට් සෙතුවමට් මල් මිලැ තුන් කළඳ් දෙ අකක් ඉසා වත්සිකා කැමියක්හට එක්කිරියක් ඉසා දම්යෙන් වසහක් ඉසා සොම්නස් මහබො මහුලෙහි පිළියට් එක් කලඳක් ඉසා මැටි පතක්හට් එක් පයක් ඉසා සාල් දෙ පතක් ඉසා පිටස් සමක්හට් ටසාරජ්ගෙ උපැනි කැමියක්හට් ඉසා එක් නට් දෙ අඬීමනා බැගින් සාල් ඉසා ඔළ්කැමියක් හට් දෙපයක් ඉසා සාල් එකඬීමනා දෙ පතක් ඉසා පියන් ගල් පෙරෙවැළියක්හට් දෙපයක් ඉසා දම්යෙන් වසගක් ඉසා රුවනසුන් මහබො මහුලෙහි පිළියට් එක්කළඳක් ඉස පවු පෙරෙවැළියක්හට් දෙපයක් ඉසා දම්යෙන් වසගක් ඉසා ඇළිනාවක්හට් දෙපයක් ඉසාසාල් එකඬීමනා එක පතක් ඉසා ඇළි එකොළොසක් ඉසා එක්නට් දෙ පා බැගින් වසග් ඉසා වට්නා වැරි සතරක් ඉසා එක්නට් එකඬීමනා බැගින් සාල් ඉසා එක්නට් පිවෙල්

දෙ පා බැගින් ඉසා බැගින් මෙ වෙහෙර්හා බිග්සඟ් හිමියනට් වසැගින් සිවුර් සාහා එක්කෙනෙක්නට් ලදු සිවුර් සාහනකැමියන් බෙදා ගතැයුතු ඉසා වෙහෙර් අත්දම් දෙජනක්හට් එක්නට් දෙපා බැගින් ඉසා සාල් එකඩිමනා එක් පත් බැගින් ඉසා කොටරැ කිනාවක්හට් දෙ පයක් ඉසා සාල් එකඩිමනක් ඉසා ජෙට්මවට් එක් පයක් ඉසා සාල් එකඩිමනා දෙ පතක් ඉසා බත්ගෙ ලැදියට් එක් පයක් ඉසාසාල් එකඩිමනා දෙපතක් ඉසා මිඩී වැජැර්මක්හට් දෙපයක් ඉසා වට්මිඩි සූවිසි ජනකු ඉසා එක්නට් එක් පා බැගින් ඉසා සඟ්වැලි උපැති කැමියන්හට් එක්කියක් ඉසා සාල් එකඩිමනාක් ඉසා පිසන සලයින් දොළොස් ජනක්හු ඉසාඑක්නට් තලොළැගැමික් එක් කිරි දෙපා බැගින් ඉසා සලාජෙටක්හට් සාල් එකඩිමාන එක්පතක් ඉසා දර් නහාබත් පක් සලයක්හට් සාල් තුනඩිමනාක් ඉසා නො පිසැ දර් නැඟු සලයක්හට් ඉසා ගමන්වර්ගිය සලයක් හට් ඉසා එක්නට් සාල් දෙ අඩිමනා බැගින් ඉසා නැඟු දරැ බත් පක් සලයක්හට් සාල් එකඩිමනාක් ඉසා පහාවැසි ජෙටක්හට් සෙ පයක් ඉසා සාල් එකඩිමනා එක් පතක් ඉසා පහාවැසි එකළොසක් ඉසා එක්නට් දෙපා බැගින් ඉසා එක්නට් සාල් එකඩිමනා බැලින් ඉසා දවස් පතා යලාපසක් දෙන කුඹල් පස් ජනක්හට් එක්නට් එක් කිරි බැගින් ඉසා මස් මස් පතා පා දසයක් හා කුම්බුදසයක් දෙන පාකුම්බලයක් හට් දෙ කිරියක් ඉසා සාල් දෙ අඩිමනාක් ඉසා මසකට් පැරැහැනක් දෙන පැරැහැන් දියක්හට් එක් කිරි දෙපයක් ඉසා වෙදක්හට් දෙත්සැ සෙණෙන් තියපැළියාක් ඉසා දම්යෙන් වසගක් ඉසා පුහුඩා වෙදක්හට් දෙ පයක් ඉදා දම්යෙන් වසගක් ඉසා මඩොවුවක්හට් එක් කිරි දෙපයක් ඉසා දම්යෙන් වසගක් ඉසා නැකැතියක්හට් දෙ කිරියක් ඉසා දම්යෙන් වසගක් ඉසා නැවියක්හට් එක් කිරියක් ඉසා දම්යෙක් වසගක් ඉසා දාගෙ අත්සමක්හට් ඉසා ගණජෙටු වක්හට් ඉසා කරඬි ලෙයක්හට් ඉසා වර්ජෙටු තුන් ජනක් හට් ඉසා මෙක්නට් පිවෙල් කරනදැගම ඉසා වරැ දුම්මලස්සම්නට් දම්යෙන් වසග් සතරක් ඉසා දාගෙහි වැට් තෙලට් මෙ ගැමින් පයලක් ඉසා දාගෙහි හෙළ්මල් ඔනා මල්වර් දෙ ජනක්හට් මෙ ගැමින් දෙ කිරියක් ඉසා දම්යෙන් එක්බැගින් වසග් ඉසා මසකට් එක්සිය විසි බැගින් මල් දෙන මහතෙල් ගොවුවක්හට් සපුගම්යෙන් දෙකිරියක් ඉසා සිත්තරක්හට් දෙ කිරියක් ඉසා දාගෙ

රක්නා රට්ලදුවක් හට් සාල් එක්නැළියක් ඉසා මහබුදුන්ගෙහි දුම්මලස්සම් ස ජනක්හට් ඉසා දමීන් ස ජනක්හට් ඉසා මෙක්නට් ගුතැගම ඉසා දමියෙන් වගක් ඉසා මෙ ගැමැ දුම්මලස්සම්නට් දමියෙන් දෙ වසගක් ඉසා මඟුල්මහසලපිළිම ගෙහි පූණාකැමියක්හට් ඉසා කමස්සමක්හට් ඉසා එක්නට් දෙ පා බැගින් ඉසා එක්නට් එකඩිමනා දෙ පත් බැගින් සාල් ඉසා දාගෙහි බුද්බිසොවට් තෙල් ගන්නා එක්පොටක් ඉසා දිය පරහන එක් තුළ්ලක් ඉසා පිළිමගෙහිද් මෙතෙක් මෙ ඉසා කම් තැන් ලෙදරුවක් හට් එක් කිරි දෙපයක් ඉසා සාල් දෙ අඩිමනාක් ඉසා වඩු මහ ඇදුරක්හට් බොඩිවෙහෙර සෙණාය ඉසා ඇදුරවඩු දෙ ජනක්හට් ඉසා සිර්වඩු අට් ජනක්හට් ඉසා උළුවඩු දෙ ජනක්හට් ඉසා මෙක්නට් වඩුදෙවැගම ඉසා කටු වඩු දෙ ජනක්හු ඉසා එක්නට් එක් කිරි බැගින් ඉසා මිණිර් මහ ඇදුර් දෙ ජනක්හු ඉසා එක්නට් එක් කිරි බැගින් ඉසා කම්බුර් දෙ ජනක්හු ඉසා එක්නට් එක් කිරි බැගින් ඉසා සුතුබොළ්නට් සුතුබොල් දෙබැගම ඉසා ගැල්ලන් ස ජනක්හු ඉසා මෙක්නට් දුනුමුගම ඉසා කම්නවැමැ කැබිලි ජෙටක්හට් එක් කිරියක් ඉසා සාල් එකඩිමනා බැග්න් සිල් ඉසා මෙක්නට් පිවෙල් දෙ පා බැගින් ඉසා නවගුණ මහසැයෙහි ඉසා නැටෙවිය මහසැයෙහි ඉසාඇම්බුලු දාගැබ්හි ඉසා සැගොවුවන් තුන් ජනක්හට් එක්නට් දෙපා බැගින් ඉසා මෙ වෙහෙර් උඩිගලැ යටිගලැ ඇත්වෙහෙර පිළිබද් දිගබ් ඇය් හැමැඤැ දැගැ රක්නානට් දමියෙන් එක් බැගින් වසග් දියැ යුතු ඉසා දාගෙහි ඉසා පිළිමගෙහි ඉසා බත් ගෙහි ඉසා මෙහෙ කරන මිනිසුන් ඉසා පිළි ඉසා පොරොනා කසු ඉසා හිස්කොළ් ඉසා අපුලන රදවුන් දෙ ජනක්හු ඉසා මෙක්නට් මඟුලැවැ තුන් කිරිය ඉසා මෙ වෙහෙර් බද්තුවාක් ගම් බිම්හි මග් මහවර් කුළී මෙලාට්සි මෙ වෙහෙරට් මෙ නිඥකොට් ගතැයුතු ඉසා මග්ගිව පියගිව නො වද්නා කොට් ඉසා කණැවැවැ දිය වත් තාක් තන්හි පෙරෙ දෙමෙළ් කලැ පෙරෙ සිරිත් දිය මෙ වෙහෙරට් මෙ ගතැයුතු ඉසා මෙ වෙහෙර් හි බද්තුවාක් ගම්බිම් කවරු පරියායෙන් උකස් පමණු නො දියැයුතු ඉසා ගතුවන් රනැනො හිම්කොට් මෙ නවතා ගතැයුතු ඉසා දුනුවන් දෙස් යවනු කොට් මෙ නියැමින් තුබූ මෙ සිරිත් නො ඉක්මැ වැටියැයුතු.

4

## පැපිළියානේ ශිලාලෙඛනය

ශ්‍රී ලඞ්කාධිපතිඃ පරාක්‍රමභුජස්සූර්‍ය්‍යාන්වයාපඞ්කෘතිර්‍යාවෙ හං භවතොවවශ්ශ්‍රැණෙක මෙ භූමීශ්වරා භාවිනඃ ධර්මෙමා යං සදෘශඃ සමස්තජගතාං සත්‍යං භවද්භිස්සදා සෞරතෙෂ්‍යාමයි ජාතහෂීකෘපයා පූණ්‍යං තථා භුජ්‍යාතාම්.

ශ්‍රී ලඞ්කාධිපතිඃ පරාක්‍රමභුජෝරාජා විහාරොත්තමං සවපසවාබ්‍යමකාරයජ්ජගති යන්ත්‍රාණාය තස්‍යාධුනි සද්ග්‍රාමාන් විවිධාන් ප්‍රදාය සජනානාරාමවාප්‍යාශ්‍රයාන් සංසාධීනතයා චිරාය තනුතෙ සථාතුං ශිලාශාසනම්.

ශ්‍රී බුද්ධ වර්ෂයෙන් එක්දහස් නවසිය අටපනස් අවුරුද්දක් පිරුණු සඳ සිරිලක රජපැමිණි මහාසම්මත පරම්පරානුගත සූර්‍ය්‍යවංශාභිජාත මහා රාජාධිරාජ ශ්‍රී සංඝබොධි ශ්‍රී පරාක්‍රමබාහු චක්‍රවර්ති ස්වාමීන්වහන්සේට එකුන්සාලිස්වනු මැදින්දින පුර පසළොස්වක ජයවර්ධනපුරවරයෙහි සුමංගල ප්‍රාසාදභිමුඛ චිත්‍රමණ්ඩපයෙහි සිංහාසනයෙහි සිරි නිවෙස් සහ වොටුනු සිවුසැට බරණින් සැදි රජ යුවරජ ඇමතිගණා පිරවරා දෙවෙන්ද්‍රලීලායෙන් වැඩහිඳ හැම තැන්හි කළ මනා කටයුත්තට ව්‍යවස්ථා වදාරනතැන ස්වර්ගස්ථ වූ මවුබිසවුන් වහන්සේට පින් පිණිස අභිනව විහාරයක් කරවන ලෙසට රාණී වාසල කාරියෙහි නියුක්ත සිකුරා

මුදල්පොතුන්ට වදාළ මෙහෙවරින් පස්විසිදහසක් ධන වියදම් කොට පණඹුනුබද පැපිළියානෙහි ප්‍රාකාර ගොපුර ප්‍රතිමාගෘහ මඬප බොධි චෛත්‍ය සංඝාවාස දෙවාලය පුස්තකාලය පුෂ්පාරාම ඵලාරාමාදින් යුක්තකොට සමෘඞ කැරවූ විහාරය චිරස්ථායිව වර්ධනවන පිණිස පිදූයෙන් මෙම පැපිළියාන හා මෙහිබඳ මැදිමාල හා අමුතුව දිඹුල්පිටියෙන් වේල්ලන් උඩදෙණියෙන් දසඅමුණත් හා කළුතොට බද්දෙන් අරග්ගොඩ විල හා මෙහි බදවල්පිට වතුවැලැත් ඇතුළු වූ තැන් හා පස්යොදුනබද කුඩාවැලිගම හා මෙම ගමට ඇතුළත් කල ගෙයි රත්ගොඩ හා මඩින් කෙහෙල් සේනාවිලින් යාළක වපහා මෙහා පද වල්පිට හා මත්ගොන් බද්දෙන් බෝඹුවල විලින් වුල්බිජුවට දෙයාළක් හා ගොඩින් පසළොසමුණක් හා අලුත් කුරුවබඳ බොල්ලතා විලින් යාළක වපහා මෙහි බඳ ගොඩ හා සීනැ රට බද ගිරිදොර හා බෙලිගල්නුවරබද මංගෙදර හා දොළොස්දහස් එට බද මැදගොඩින් මැඩලෙන් ගොඩින් පසමුණක් හා කුඹුරු බිජුවට සතමුණක් හා රයිගම්නුවරබද ලෙණවර ගල්ලෙන විහාරයට පිදූ ලබුගම හා සල්තොටින් ගෙවතු එකක් හි කුඹුරු බිජුවට තුන් පැලක වපහා වැලිගම් දසගයහුබද කතංකයේ විහාරයට පිදූ ඉත්තවල පාබතලාවල දම්ලියද්ද තැඹිලිහිර ඇතුළු වූ කුඹුරුබිජුවට පම මුණක් හා එපාමුල ඕවිට එකමුණු පැලක් හා උවාලුගොඩ උදිගොඩ නතුලොඩ වැල්ලානේ ඇතුළු වූ තැන හා බෙලිගල්නුවරබද බූපත්ලම් සැලැස්මෙන් පිට්ටාගම හා පරිවාරජනයන්ගෙන් දෙසියපනසක් හා සරක්දෙයාළක් හා ඇතිනිරු දෙකක් හා ලුණු පාරු එකක් හි නොයෙක් විහාර ගරුභාඩ ඇතුළු වූ සියල්ල බුඩායත්ත ධර්මායත්ත මහාසාංඝාකවැ පවත්නා පරිද්දෙන් සලස්වා පළමුවෙන් මහබිසෝ සාමීන්ගේ ශ්‍රී නාමයෙන් සුනෙත්‍රාමහාදේවි පිරිවන් අස්වා මෙහි විහාරයට නායකව පැමිණි ගලතුරුමුර මෙධංකර මහතෙර සාමීන්ගේ ශිෂ්‍ය නිශ්‍රයෙන් මුක්ත මංගල සාමීන්ට සුනෙත්‍රාමහාදේවි පිරිවන් අස්වා මෙහි විහාරයට නායකව පැමිණි ගලතුරුමුළ මෙධංකර මහතෙර සාමීන්ට මුනෙත්‍රාමහාදෙවී පිරිවන් තෙර අස්වා ඉදිරියේ දවස මොබවහන්සේගේ ගුරුශිෂ්‍ය පරම්පරායෙන් අසන පිරිවානාතැන් කියා ශාසනය වර්ධනය කිරිමට යොගාතැනකට පිරිවෙන පවත්නා

නියායෙන් සනිටුහන් කොට මෙකීලාභයෙන් සතරපත්ගන්නා නැළියෙන් තුන් බොධියට හා නාථ මෛත්‍රී දෙතැනට දවස් එකකට මුළුතැනට පැසි සාල් පසළොසක් මාළු රන්තුන් මස්සක් පොල් තුනක් සකුරු මුළු එකක් ලුණු නැළි මුක්කාලක් ලූනු දුරුසකා ආදිවූ දෙයට මසුඑකක් පාන් තෙලට පොල් පසළොසක් හා මස් එකකට මිරිස් නැළි දෙකක් දුම්තෙල් නැළි දෙකක් පිරිබඩට සඳුම් පලම් අටක් සුවඳ දුමට අගිල් පල්ම් තුනක් ගුගුල් පල පසක් ඇතුළුවූ දෙය හා අවුරුදු පූජාවට කැකුලු පැසි එක්සියපනසක් පොල් සියයක් පාන් පූජාවට පොල් දහසක් හා මහබිසෝ සාමීන් සවගීසථ වූ වෙසගපුර විසේනිය පටන් පුර පසළොස්වක් දන්වා කරන විශේෂ පූජාවට කැකුලු පැසි තුන්සියයක් පොල් දෙසියයක් හා පාන් පූජාවට පොල් දෙදහසක් හාත්‍රිපිටකයෙන් මසකට ග්‍රන්ථ එක්දහස් සත් සියයක් ලියන්නන් එකකුට දවස් එකකට සාල් තුනක් මාළු රන් දෙමස්සක් පොල් දෙකක් බුලත් දසයක් පුවක් පසක් හා මස් එකකට ලුණු දසයක් මිරිස් එකක් ලූණු දුරු කසා ආදියට පණම් එකක් අවුරුදු එකකට පිළියට පණම් සියයක් හාපිරුවන් සාමීන්ට දවස් එකකට වස්නට පැසිසාල් සයක් ගෙණෙහි වැඩ හිඳිනා නම් පසකට නමට සතර බැගින් පැසි සාල් විස්සක් මාළු රන් අටක් පොල් නවයක් කසපැන් සතක් සකුරු තුන්මුළු බැයක් පාන් තෙලට පොල් සයක් හා පිරිවෙනට දවස් එකකට බුලත් තිසක් පුවක් පසළොසක් විධානේ තැනට බුලත් පසළොසක් පුවක් සතක් සෙසුතැනට බුලත් සතලිස් අටක් පුවක් විසි සතරක් හා මස් එකකට ලුණු පනසක් මිරිස් සයක් ලුණු දුරු කසා ආදියට පණම් නවයක් දුම්තෙලට හා ඉස්තෙලට විසිදෙනැළි මනාවක් මනාවක් හා අවුරුදු එකකට පිරිවෙනට සිවුරු දෙකකට පණම් සියය වටිනා පිළිරු දෙකක් අඳනයට පස්විස්ස වටිනා පිළිරු එකක් සතක් සතක් වටිනා දන්කඩ එකක් දසය වටිනා වත බඳනා දෙකක් පෙරහන්කඩ ඈ අටපිරිකර එකක් මහල් පිරිතෙහි එක්විසි පුටුවෙන් එකක් උඩුවියන් ඇඳ ඇතිරිලි තිර ජවනිකා ආදිය හා සෙසු තැනට සිවුරු දසයකට තිස තිස වටිනා පිළිරු දසයක් අඳනා පසකට පසලොස (වටිනා) පිළිරුපසක් තුන තුන වටිනා දන්ඩක පසක් දෙකසමාර අගයේ වත බඳනා දසයක් පෙරහන්කඩ පසක්

ආදිවූ අටපිරිකර පසක් හා ගිලන් තැනට ආයාස සන්හිඳෙනතෙක් ගිලන්පස ඇතුළු වූ වියදම අඩුනොකොට පවතිනුවහා වැඩ උන් තැනින් දෙවා වදාල පාන බුණුබඳ තිකපය ගම පිරිවෙනට වටනාපස දානයට පවතිනුව හා විහාරසත්තක නොයෙක් ගම්වලින් විධානයට පසමුනක් හා ඉතිරිපසයෙන් සතරදිගින් වැඩි මහාසංඝයාවහන්සේගෙන් නමකට සාල් සතරක් මාළු රන් එකක් පොල් එකක් සකුරු බෑ එකක් කසපැන් එකක් ලුණු මිරිස් කසා අබ දුම්තෙල් ඉස්තෙල් පාන් තෙල් ඇතුළුවවූ දෙය හා බුලත් දසයක් පුවක් පසක් හා තෙර නමකට සාල් පසක් මිළු රන්තුනක් පොල් සතරන් සකුරු මුළක් ලුණු එකක් කසපැන් දෙකක් ලුණු මිරිස ලුණු කසා අබ දුම්තෙල් ඉස්තෙල් ඇතුළු වූ දෙය හා බුලත් දසයක් පුවක් පසළොසක් පාන් තෙලට තෙල්මැඩෑ එකක් හා තුන්දා සැතපෙන 'ලෙසට කළාල් පැදුරු ඇතිරිලි පැත්වැළක් ඇතුළු ව දන්වැට නොපිරි හෙළා තුන්මසින් මස විහාරයට පැමිණි මහා සංඝයා වහන්සේට තුන් දවසක් දන්දෙනුවත් ගිලන් තැනට පිළිවන් ගිලන්පස පවත්වා යනවිට ඒ ඒ දිගින් වත්තල කැළණිය අතුරුගිරිය වීදාගම කළුතොට ඈ මෙකී විහාරවල (ට) ඇරලවා ලනුවත් පිළිමගෙය දාගැබ් සාමීන් සංඝාවාස ඇතුළු වූ විහාරයෙහි කළමනා මෙහෙයටත් මෙහි බඳ විහාර වල මෙහෙයටත් ඒ ඒ විහාරයේ ඇති වතින් දෙනුවත් කියා ඇරැවිය නොහැකි අනිසමක් පැමිණි විට විහාරයෙන් දී ගැළවෙනුවත් විහාර පිළිබඳ ගම් කුඹුරු මිනිසා සතා ගරුභාඩ නොවිකුණුවත් කිසිකෙනෙකුන් විසින් නොගනුවත් විහාරේ පරිවාර ජනයන්ගෙන් පිරිවෙනට අභියුක්ත නම් සතරක් සලාදුරු කම් පසක් දන් පිස න නම් තුනක් ඇතුළුවූවන් නිති මෙහෙකරනුවත් සෙස්සවුනුත් ගෙණෙහි වසන තැනට අත්පා මෙහෙකිරීම් ආගන්තුක තැනට කළමනා උපසථාන විහාර කර්මන්ත ආදිවූ සියල්ලත් මෙහි බැඳි කරන වෙනත් සැලැස්වීමුත් පිරිවෙන නියෝග වූ නියාවට නුගුළුවා පවතිනුවත් පිටකත්‍රය තර්කව්‍යාකරණාදිය දන්නා කෙනෙකුන් පැමිණිවිට වැටුම් තබාදි උගනුවත් පාරාජිකාවන්තැන් මෙහි නොවසනුවත් සෙසු ශික්ෂාපද ව්‍යතික්‍රමය කළතැනක් බුදුන් වදාළ විනය කම්කොට වසනුවත් මෙහි වසන තැන් සූත්‍රාභිධර්මවිනය තර්කව්‍යාකරණාදියෙහි සතතයෙන්

අභියොග කරනුවත් විහාරකම්කාරාදීන්ට තරම් වැටුප් දිවෙල් දැන පවත්වනුවත් නිරන්තරයෙන් සක්සින්නම් ආදිවූ පංච ධූරය හා කුඩසේසත් පට ආකාසවියන් ප්‍රතාප පයි සැට්ට ඇතුළු වූ දෙය පවත්වනුවත් මෙහි පිරිවෙන ඇතුළු වූ තන්වැසි තැනින් තම හට වැටෙන පසය මෙන් තෙසු තුනුරුවන් පුදවැටුම් විහාර තත්‍රැත් පාදයෙන් නොකඩකොට පවත්වනුවත් රාජසම්මත වූ පරිද්දෙන් ලියා තුබූ මේ ශිලාලෙඛ්‍යවූ නියාවට මේ විහාරය පවත්නාතෙක්කල් උභයවාසයේ මහා සංඝයාවහන්සේ විසිනුත් රජ යුවරජ මහා මාත්‍යාදීන් විසිනුත් අඩුවක් නොකොට පවත්වා දෙලොව නොවරදවා සවර්ගාපවර්ග සම්පත්ති පැමිණෙන පරිද්දෙන් සිතුව යහපති.

සුසාලිස්වනු උදුවප පුරවිසිනිය කුඩවසේ ලියදරයරුන් වැඩ උන්තැන් වදාළ මෙහෙවරින් මහබිසෝසාමීන්ට පින් පිණිස (කළුබෝවිල වත්තල මහර මාදම්පේ දැඩිගොමුව) වනයොදුන් බද දෙණවක අරමණපළ පිළිමගෙය මඩපය ලැගුම්ගෙය ඇතුළුවූ විහාර කර්මාන්ත සමෘඬකරවා කෙහෙල් පත්දොළවෙලින් තුන්තරමින් කුඹුරු බිජුවට දැමුණක් හා මිරිස්ගලකන්දේ වල්පිට හා කැන්දත්ගමුව හා වාරියගම හා මෙම ගමින් ඇල්ලේවෙල කුඹුරෙන් බිජුවට දැමුණක් හා කනත්කගේ කුඹුරෙන් බිජුවට දැමුණක් හා දෙල්තොට කුඹුර දැමුනක් හා ඇතුළුව මෙම ගමට ඇතුළත් වූ වල්විල් හා ගෑනු පිරිමින් විස්සක් හා මොරතොට පටිය හා ගරුභාඩ සහිතවූ විහාර ලාභය තුනුරුවන් සන්තකකොට පැපිළියානේ සුනේත්‍රා මහාදේවී පිරිවෙන මංගල තෙරසාමීන්ට දක්ෂිණාවකොට සලස්වා ලියාදුන්හෙයින් ඒවූ පරිද්දෙන් මේ විහාරයට නායක වූ සුනෙත්‍රා මහාදේවී පිරිවෙන්තැන් විසින් ක්‍රමවත්ව චිරාත්කාලයක් පවත්වාලියයුතු.

# ගැටපද විවරණය

අඤ්ඤාත, නොදැන්ම
අනියා, අන්‍යාය.
අනුඤ්ඤාත, "අනුජානාමි භික්ඛවේ" යනාදින් (බුදුන් විසින්) අනුදත්.
අනෙක කල්ප කොටි ශතපහසු යෙහි ,නොඑක් කප්කෙළ සුව හස්හි.
අනෙකශත නොඑක්සිය (ගණන්)
අනෙබ මෙයෙට්,අන්‍යවූ ඔබ් බෙහි (පිටත්තන්හි, ඔබ මොබ) මෙහෙකරනු ජණිස
අන්තෙවාසික, අතැවැසි ,ශිෂ්‍ය
අන්නට ,අනුනට.
අපගතකලංක වැ, පහවූ කැලැල් ඇතිව
අපගත කොටැ , පහ කොටැ ඉකුත් කොට.
අපායභාග් වෙති, අපායට හිමි වෙති.(අපායෙහි උපදිති)
අප්‍රතිපත්ති,වරදවා ගත් පිළි වෙත් ,(බුදුන් වදාල ප්‍රති පත්ති). අප්‍රතිපත්ති දුෂ්ප්‍රති පත්ති විෂ වේග විහතැ වැ, නොපිළිවෙත් හා දුපිළිවෙත් නැමැති විෂවෙගයෙන් නැසුනන්ව.
ආඥාචක්‍රවර්ත්තියක්හු,අණසක පවත්වන තැනැත්තකු.
ආයාස,පරිශ්‍රම,ඉතා උත්සාහ.
ආවූ තුවාක් , අයවූතාක්, අයවූ

අබහය්ගිරිනකය්හි, හගිරිනක යෙහි , අභයගිරිනිකායෙහි.
අබහය්ගිරිවෙහෙර්හිඉසා,අභයගිරි විහාරයෙහිද.
අබහය්සලමෙවන්මහරජ්හට්, අ භයශලාමෙසවණි (නම්) මහ රජහට.
අබියෙස්හි ,අභිදෙශයෙහි,අභිමුඛ යෙහි.
අභියුක්ත,අබිත්ත,
අභිෂික්ත වැ, අභිෂෙකප්‍රාප්ත ව.
අරක් ආරක්ෂා.
අරුණින් පරිච්ඡින්නවූ යම් මැ විනය සූත්‍රාන්තගත පිළිවෙතක් පුරණ කලැ , අරුණොදග්මන වේලායෙන් පිරිසුන් වන්නාවූ යම් කිසි විනයගත ප්‍රතිපත්තියක් හෝ සූත්‍රාන්තගත ප්‍රතිපත්තියක් හෝ වේ ද ඒ පුරන්නාවූ කාලයෙහි.
අල්පෙච්ඡතාදි, අපිස් බැව් ඈ , (ආශානැති බැවින් ලදදැයෙකින් සතුටු වනු අල්පෙච්ඡතායි).
අවසැ, ආවාසයෙහි
ආ කළ තුවාක් ,අයකළතාක්
ආකැමියා, අයකැමියා, ආදායම් රැස් කිරීමේ ප්‍රධානතැන.

උත්පථ , නොමග
උදුම්බරගිරි නිවාසි, දිඹුලාගල් (වෙහෙර) නිවැසි.
එකුත්සාලිස්වනු, තිස්නවවැනි.

පමණ.
ඇජරොල් , ආචාර්‍යකුලය, (ගුරු පරම්පරායෙන් නො කඩ වැ පැවැතැ ආ සපුන් පිළිවෙත් පිළිවෙලයි).
ඇණැවුම් සකස්කඩ,ආඥාසංක්‍ෂ කාණ්ඩය, (`යෙ සන්තා සන්තචිත්තා` යනාදි යි) ය.
ඇතිනිරුදෙකක් ,ඇතිනි යුවළක
ඇතුළ්, අන්තඃ
ඇත්ගමට , අන්තොගාමයට , ඇතුළුගමට. (අන්තරළර වයැයි සේය.)
ඇත්වෙහෙර,අන්තොවිහාර යෙහි
ඇදුරොල් , ඇජුරොල් , ඇජරොල් ,ඇළ්ගමියෙන් ඇළගමුවෙන් , එනම් ගමින්.
ඇපා , ආදිපාද (සථානාන්තරය) .
ඉදිරියේ , අභිමුයෙහි.
ඉය නො යහන, යා නොහැකි
ඉරයවු ,ඊර්‍ය්‍යාපථ,(සථාන-ගමන නිෂද්‍ය - ශයන යන මේ සතරයි.)
උඩිගලැ , උඩුගල්හි

කඹුර් ,කුඹුරු ,කම්ාර, රන්රිදී තඹපිත්තල ආදි ලෝහ කර්මාන්ත කරන්නා.
කල්පශතසහස්‍රාධිකචතුර සංඛ්‍ය කාලයක්, කල්පගණනා යෙන් සියදහසකින් හෙවත් ලක්ෂයකින් අධිකවූ සාර අසංඛ්‍යක්
එක්කුසවැ, එකතුවැ, එක්කාසුවැ, එක්නට් , එකකුට.
එක්විසි අන්වෙෂණය ද , `ඉධෙ කච්චො වෙළුදානෙන වා පත්තදානෙන වා පුප්ඵඵල සිනානදන්තකඨදානෙන වා චාටුකම්‍යතාය වා මුග්ග සූප්‍යතායවාපාරිභට්ටකතාය වා ජංගපෙසනියෙනවා` යි කියන ලද දසයද - `ආජීව හේතුපඤ්ඤත්තානං ඡන්නං සික්ඛාපදානං වීක්කමස්ස` යි කියනලද සය ද-කුහනා ලපනා නෙමිත්ත කතා නිප්පෙසිකතා ලාභෙනලාභනිජිගිංසනතා යි `කියන ලද පස දැයි යන මේ එනවිංශති ප්‍රභේද වූ අන්වෙෂණයන්ද.
ඔකාවස්රජ්පරපුරෙන් ,ඉක්ෂ්වාකුවංශයෙහි වූ රජදරුවන් ගේ පරම්පරායෙන්.
කම්තැන්ලෙදරුවක්හට්, කාර්මී කසථනයෙහි ලෙඛකයකුට.
කම්කවාමට් ,කම්නවහම් කරනු පිණිස,නර්මාන්තයන් අලුත් වැඩියා කරනු පිණිස.
කියවිනිලි ඇය් කම් කරවනුවන, ක්‍රයවික්‍රයාදී කම් කරන්න වුන්, වෙළෙඳිම සඳහා මිළදී බඩුගැනීම,බඩුදී මිළ ගැනීම් කරන්නවුන්.
කියුසඳැ (දැ) ,කථිතසමයෙහි, නියමකළකල්හි.
කිරි , කිරිය , සතර අමුණ

පමණ කාලයක් ,සාරා
අසංඛ්‍යකප් ලක්ෂයක්
පමණ කලක්.
කවරිවතකුත්, කවර වස්තුවකුදු
කසපැත් ,තැඹිලි (වැවර) .
කහසත්වැ ගත් වෙසට් ,කාසාව
නිවාසන පාරුපණයකොට
ගත්නාලද වේසයට,ප්‍රවු
ජ්‍යාවෙශයට.
කළත්ද් ,මඳැටවිස්සේබර,කළඳ,
කලාල් පැදුරු වෙසෙසක්.
කාගියාසි, කායගතාසති (කමට
හත් )
කැතලසබ්, ක්‍ෂත්‍රියෂීහවූ, ක්‍ෂත්‍රිය
වංශිකයන් කෙරෙහි උතුම්
වූ.
කැතකුලකොත් ,ක්‍ෂත්‍රියවංශයට
කෙතුවක්(කොඩියක්
හෙවත් ධ්වජයක්)
වැනිවූ.
කැමියතට්,කර්මාන්තයේ නියුක්ත
යන්ගෙ ප්‍රධානීන්ට
හෙවත් කම්කරුවන් ගේ
ප්‍රධාන පුරුෂයන්ට,
කංකානම් වරුන්ට.
ගණසංගණිකාදීන්, සමූහ සමූහ
වැ රැස්වීම් ආදියෙන්,ආදි
ශබ්දයෙන්,හස්සරාමතිදිය
ගතයුතුය.
ගතුවත් ,ග්‍රහණය කළතැනැත්
තත්.
ගස්කොළ් ,ගහකොළ, ගස්
කොළත් .
ගැහැවියන්, ගීහපතීන්.
ගිරිදොර, ගිරිදරනම් ගම,

කිලිලවට , කිල්ලෝට , සුධා
කරණ්ඩ.
කුම්බල් ,(කුඹල්,) කුම්භකාර.
කුම්බු, (කුඹු.) කුම්භ, ඝට,
කළය
කුම්බුර් (කුඹුර්) අරුබ්ඇයි,
කෙදුර-අරාම-ආදිය,කෙත්
වත් ආදිය.
කෙළිත් සිවුරක් ,කඨිනචීවරයක් ,
කොටරැකි, කොෂ්ඨාගාරාරක්ෂක.
ගබඩාගේ ආරක්‍ෂාකරන්නා.
කොමරුත් ,කුමරුන්ගෙ ළදරු
වත්ගෙ.
ක්‍රයවික්‍රය,මිල දී බඩු ගැනීම
හා බඩු දී මිල ගැනීම්.
ක්ලේශාග්නීන්,(ලොභවෙංසාදි)
කෙලෙස්නමැති ගින්නෙන්.
ගණදෙටු, ගණනායක
ගණදෙටුයෙන් ,ගණනායක
තෙරුන් අතින්.
ගත් , ග්‍රන්ථ , පොත්.

ජිත ශාසන ,බුඩ ශාසන.
පිවෙල්කොට් දුනුවක්මුත්, දිවි
රැකුම පිණිස දුන් දැයක්
හැර.
ජෙට්වමට්,ජ්‍යෙෂ්ඨ මාතාවට,
මෙහෙයෙහි නියුක්ත සතත්
ගේ ප්‍රධාන තැනැත්තියට.
තත්කාලානුකුල, ඒ කාලයට
සුදුසු.
තද්දශීන ප්‍රසූත, ඔවුන්ගේ දැක්

ගිලන්වැ , ගිලානවැ, ලෙඩවැ.
ගිහිපටිසංයුක්ත,ගිහිමිනිසුන් හා යෙදීම.
ගෙත්තම්, ග්‍රථනකර්මය, මැසීම.
ගෙහසිතවිසින් ,තෘෂ්ණා වශයෙන්.
ග්‍රාමාරණ්‍යවාසී, ගම්වැසි වන වැසි.
චාතුර්ද්වීපක මහාමෙසයක් සෙයින්, (පුර්වවිදෙහය, අපර ගොයානය, ජම්බුද්වීපය උතුරුකුරු දිවයිනය යන) සතර මහදිවයිනට එකවට නැංගාවූ මහා මේසයක් සෙයින්.
චාතුර්ගීකරණිය, භික්ෂූන්වහන් සේලා සතරනමක් විසින් කටයුතු.
ජන්වා,විඥපනයකොට (සැලකොට).
දරිද්‍ර , දිළිඳු.
දවස්පතා වියවු තුවාක්, දිනපතා ව්‍යයවු (වියදම්වූ) පමණක
දසපක් දවස්, දශමි දිනයෙහි, දසවකදු.
දස්නට් ,දශයන්ට.
දගෙහි, ධාතු ගෘහයෙහි , දමැදු රෙහි.
දැහැවිලි ,උදහස්.
දැහිටිකිස නිමවයි, දැහැටි වළදු මුවසෝධා ඉක්බිතිවැ.
දුකුළා ඇවැත්, දුකකට ආපත්ති, දුෂ්කෘත ආපත්ති.
දුර්ඥාන ,නපුරු කොට සිතීම, වරදවා සිතීම.

මෙන් උපන්.
තුන් යැලක් , තුන් විටක් .
තුන් රජයේ , (රජරටය, මායා රටය, රුහුණු රටය යන) රාජ්‍යත්‍රයෙහි, ත්‍රිසිංහලයෙහි.
තුමනට්, තමන්ට.
තමා බෑ ,තමාගේ භ්‍රාතෘවූ.
තුමාසිරින්, ආත්මශ්‍රීන්, තමාගේ ශොභායෙන්.
තුළුලක්,පෙරහන්කඩක්.
ත්‍රි සිංහලයට, රුහුණු-මායා-පිහිටි රටය යන තුන් රජයට.
ත්‍රෛභූමක දංෂ්ට්‍රා ධාතුමන්දිරයෙහි තුන්මහල් දළදා මැදුරෙහි.
දග්ධවෙමින් ,දැවෙමින් ,තැවී තැවී.
දම්ගම්යෙන්, එනම් ගමින් ,දම් ගමුවෙන්.
දර, දර්, දරු, කාෂ්ඨ.

දෙව්ගොත් බිසෙව් රජනකුසැ, දෙව්ගොත් නම්වූ අභිෂෙ කයට පැමිණි රාඥියගේ ගර්භයෙහි.
දොළොස් දහස් රට ,(ගිරිවා දෙ ළොස් සහසයයි ප්‍රසිද්ධ) දොළොස් දහස් කෝරළේ, ගිරිවාපත්තුව ඇතුළුවූ මා තොට දිසාව.
ධර්මාමිෂ දනයෙන් ,ධර්මයෙන් හා ආහාරපානාදියෙන් සංග්‍රහ කිරීමෙන්.
ධර්මාමෘතවර්ෂායෙන්, දහම් නැමැති අමාවැස්සෙන්.
ධාරිතය, ධාරණය කරගන්නා

දුර්ලබ්ධි , නපුරුකොට ගත් ලබ්ධි, වරදවා ගත් ලබ්ධි
දුව්‍යාර, වැළැකිය නො හැකි, අනුන් විසින් වළක්වන්නට බැරි.
දුහඟ ,ධූතාංග.
දෙ තුන් පලඟක් හුණු ගන්වා, "වෙ තයො පල්ලංකෙ උස මාපෙත්වා," දෙතුන්විටක් හසරම්ණිය බැඳැ වැඩැහිඳ කමටහන් මෙනෙහිකොට.
දෙනුකළ, දෙනලද.
දෙනුවට් , දෙන්නට.
දෙමුළින්, දෙගණයෙන්
දෙමළේ , දෙමළ ,ද්‍රවිඩ.
නිමැවියයුතු,සමාප්තකටයුතුයි. කම්මුතුකළ යුතුයි.
නියම්ජෙටක්හට්, ප්‍රධාන මුලා දැනියාට (?)
නිම්ඨනය කොට, මැඩැ.
නිශ්‍රයමුක්ත, නිසයෙන් මිදුණ.
නිසා වසන, ආශ්‍රය කොට වාසය කරන.
නෛකදිගභිව්‍යාප්ත, නො එක් දිග පතළ.
නොඅනුරු, අනනුරුපවූ, නුසු දුසුවූ.
නොඋනුවැ, නොඅඩුවැ.
නොසැටියයුතු, සට්ටනය නො කටයුතු, නොහැපියයුතු.
නොපිරිහෙළා, පරිහානි නො කොට.
නොවිහිදැ , නොහැර.
නොසම්මතයේ ,සම්මත (හැම දෙනාගේ කැමැත්ත)
ලද්ද, සිතෙහි දරාගත් ධර්ම ශාසත්‍රාදිය.
නකා ,නාකාය, සභාග සංඝයා වහන්සේ සම්බන්ධවූ සමූහය
නඟුන්,කණිෂ්ඨ සහෝදරින්
නටසසුන් ,නටුවාවූ ශාසනය.
නන් ගණයෙකින් ,වෙන සංඝා රාමයකින්,
නව, නවක, අලුත්,
නස්සී, නසී ,නැසෙයි.
නැවියන්හට්, නාවිකයකුට, ඔරු පදින්නකුට.
නැසුවාක්, නෂ්ටකළාවූ දැයක්.
නීනදකොට්, නිත්‍යප්‍රවේණි කොට,
නිදි , නිද්‍රා.
පණ්ඩුපලාසයා, ප්‍රව්‍රජ්‍යාපෙක්ෂ කව විහාරයෙහි වසන තැනැත්තා.
පත්කඩක් ,පත්‍රඛණ්ඩයක් , කැඩපතක් , ලෙඛනපත්‍ර යක් , ලියුමක්.
පධන්සෙරෙහි, පධානසරෙ, යොගාවචරභික්ෂූන් වියයීා රම්භ කොට රම්භ කොට භාවනායෙහි යෙදී වසන ගෙය.
පමුණු , ප්‍රවේණි.
පයක් , පාදමාත්‍රයක්. (මිනුම්විධි)
වයල , පැල ,
පයසීංකාරුඪවැ, හසරම්ණිය බැඳ වැඩහිඳැ.
පෂීදුපසථාපක ,යටත්පිරිසෙයින් උපසම්පදායෙන් දසවස් වූ භික්ඛුපිරිස ධම්මවිනයෙහි හික්මවීම පිණිස පුහුණු වූ

නැතිවැ.
නොසරුප්,අසාරූප්‍ය, නුසුදුසු
නොසිස් පියෙවින් ,අතුච්ඡ
ප්‍රකෘතීන්, සිස් නොවූ
ස්වභාවයෙන්.
පටිසාමනය නොකටයුතු පරෙස්
සම් පිණිස නොතැබිය
යුතු.
පණිවා , ප්‍රාණාතිපාතා,
පරපණ
වැනසුම.
පසැකැ, පාර්ශවයෙක්හි, නො
හොත් ප්‍රත්‍යක්‍ෂයෙහි, ඇස්
හමුයෙහි,
පස්බත්හිදු,පශවාද්භක්තියෙහිද,
ඉර අවර වූ පසුද.
පළිබෝධ,ආවාස පිළිබොධාදි
කමටහන් වැඩීම ආදියට
බාධාකර ධර්‍ම.
පස්වාදහසක්, පංචවිෂීසහශ්‍රයක්,
අවුරුදු (5,000)
පන්දහසක්
පහයමින් ,ප්‍රසාදකරමින්,ප්‍රසන්න
කරමින්, සතුටුකරමින්
පා කස්සෙහි ලමින්. පාත්‍රය ථවි
කායෙහි (පාත්‍රාපයියෙහි)
බහාලමින් (?)
පාපභික්ෂු, පවිටු මහණු,
පාපවිතර්කයෙන්, පවිටුකල්පනා
වෙන්.
පාණබුනුබඳ,පානබුන්නට(එනම්)
ප්‍රදේශයට) අයත්.
පාමොක්, ප්‍රාතිමොක්ෂය.
පැදුරු, පසථර
පැරැහැන්දියක්හට්, පෙරහන්
මූලපණ්ණාසකාදි නියමිත
සූත්‍රාන්ත ධර්‍ම ඇති කැමති
පරිදි පිරිස් වර්ධනය කළ
හැකි සථවිර.
පරිහරණය කරනු , භාවිත කිරීම.
පරික්‍ෂේප කරවා ,වැටකින් හෝ
ප්‍රාකාරයකින් ආවරණය
කරවා.
පශ්චිම ජනතාව, පසුකාලයෙහි
ඇතිවන ජනයා.
පස,ප්‍රත්‍යය,(පිණ්ඩපාතාදියයි)
පිරුළ් නොදියයුතු. පිරුළු වශ
යෙන් නුදුන මැනැවි,
('පිරුළු' යනු කටයුතුපිරි
මසාගෙන නැවතහිමිතැනට
පාවාදෙන ලෙස (යම්කිසි
භාණ්ඩයක්) අනුන්ට දීමයි.)
පිළිබඳුන් ,ප්‍රතිබන්ධයන්.
පිළියට්, වසතය පිණිස.
පියවි, (පියෙවි)ප්‍රකෘති, සවභාවය.
පිරික්සා, පරික්ෂාකොට,
පිරිවහා, පාඩම්කියා.
පිළියෙහි වත්, පිළෙක හෝ,
පිළිසන්තෙනෙකවත්, ප්‍රතිච්
ඡන්න(මුවහවු) සථානයෙක
හෝ,
පිළීරු, වසත්‍ර.
පුහුල්වැ,පුද්ගල වැ, (තමාගේ
පමණක් තතිකැමැත්තෙන්.)
පුලසතිපුර, පොළොන්නරුනුවර.
පුහුඩා වෙදක්හට්,පුඩාවුන්
(කුඩැල්ලන්) ලවා ලේහැර
රුජාපහකරන වෙදකුට.
පුණාකැමියක්හට්, කළකරුවන්
ගේ (කුඹලුන්ගේ) ප්‍රධාන

(මසා) දෙනඑකකුහට
පැල, දසලාභ, කුරුණිදසයක්.
පිජ්නීවත්, පූජනීය වස්තු.
පිරිකපා , කැපකොට.
පෙරෙතුබු,පූර්වයෙහි තබනලද-
ව්‍යවස්ථාකරනලද.
පෙරෙවැ, පාරුපනයකොට.
පොලොබල පිණිස, ප්‍රලොභ
කරනු පිණිස,ඇලුම්
කරනු පිණිස.
පොෂිත, පුස්නාලද,පොෂ්‍යය
කරනලද
පොහොසත්කරවා,සමර්ථකරවා
පෞෂධාභශීල, පෙහෙවස් සිල්.
ප්‍රඥා පුරස්සර , නුවණ පෙරදැරි
කොට ඇති.
ප්‍රතිනියත, නියමවූ.
ප්‍රවේශ පරිත්‍යාගය පිණිස, ඇතුළු
වීම වළක්වනු පිණිස.
පසතතකායර්‍ය සිඩිය,එළඹුණු
කටයුත්ත සඵලවීම.
ප්‍රමාදවිහාරීන්,ධර්මානුධර්ම ප්‍රති
පත්තියෙහි ප්‍රමාද ව
වසන්නවුන්.
බට්, අවතීර්ණවූ
බඩතුරු, පණ්ඩුපලාසයා.
බඩතුරේ විසූ නම්, පණ්ඩුපලා
සව වාසය කෙළේ නම්.
බණ්වජාරන, බණකියන,ධර්ම
දෙශනාකරන.
බත්ගෙ ලැදියට්, භොජන ශාලා
යෙහි කටයුතු සංවිධානය
ලද තැනැත්තකුට.
යකුට.
පූර්ණචන්ද්‍රානුකාරිත්වයෙහි, පූර්ණ
චන්ද්‍රයා හා සමානවීමෙහි

බත්පක්, බත්පිඩු.
බහුනායකත්වය,බොහෝනායක
යන් ඇතිබව, ("නොදයාය
විනාශාය බහුනාය කතා
ධ්‍රැවම්" යි-පරසමයෙහි දූ
කීහ.)
බාහුල්‍යය,බහුලත්වය, බොහෝ
බව.
බාහුලික සාථලිකාදි , චීවරාදි
ප්‍රත්‍යයන් බහුලකොට විසීම
හා ශික්ෂා ශාසනය ළිහිල්
කොට ගැන්ම.
බාහුශ්‍රැත්‍යය,බොහෝ ඇසූපිරූ
තැන් ඇති බව.
බැහැරි බාහිර පිටත
බිග්සඟ හිමියනට ඉසා භික්ෂු
සංඝයා වහන්සේටද.
බිදම්වළා, අභිධර්ම පිටකය.
බිලීපසොස්සල්හි, (බලවපච්චු
සකාලෙ,) ඉතා උදය.
බුඩකල්ප බුදුරජහට සවල්පයක්
ඌන ගුණ ඇති,
බුද්බිසෙවට්, බුඩාභිෂෙකයට.
(නානුමුරය සඳහා මෙසේ
කීහ.)
බූනන් ,භගිනීන්, සහොදරීන් .
භස්සාරාමතාදියෙන්, අල්ලාප
සල්ලාපයෙහි ඇලුම් බැව්
ආදියෙන්.
භාන්ඩාගාරිකශීර්ෂයෙන්, භාණ්ඩා-
ගාරික වශයෙන් , බඩ

පරෙස්සම් කිරිමේ ධූරය
ඉසිලීම් වශයෙන්.
හින්නනිකාය වැ,බිඳුනාවූනිකාය
ඇතිවැ, නිකායභේද
කොට ගෙනැ.
මහි, (මැගී), මාගීගික, පථික.
මඟුල් මහසලපිළිමගෙහි, මංගල
මහාශෛල ප්‍රතිමාගෘහයෙහ
මල්වර් , මාලාකාර.
මවුන් කනැතුබු පතකුඳු, මැණි
යන්ගේ කනෙහි(පැලැඳැ)
තුබූ තෝඩුවකුඳු.
මහතෙල් ගොවුවන්හට්, මාතෙල්
(මල් විල්) රක්නා එකකුට
මහබික්සඟ් හිමියන් මහා භික්ෂු
සංඝයාවහන්සේ
මහබොයගෙහි, මහාබොධිගෘහ
යෙහි.
මහයා, මහයානම් තනතුර.
මහසෙන්වා කරය් රුස්කරවා.
මහාසම්මත පරම්පරානුගත,
මහා සම්මත රජහුගේ
පරම්පරායෙන් පැමිණි.
මණ්ඩනශීලී, සැරසෙනසුලු.
මහඇගී, මහාඝ්‍ය, ඉතා අගනා.
මාබො, මාබෝ, මහාබොධි.
මාතිණ්ඩ මණ්ඩල,
සූර්‍ය මණ්ඩල.
යාමකාලික, රාත්‍රී පශ්චිම යාම
සංඛ්‍යාත යාමය තාක්
වැළ දියයුතු අනුලෝම
පාන සහිත අටවැදෑරුම්
පානය.
යාමකාලික,පෙරයරුයෙහි පිළි
ගෙන මධ්‍යාහ්න කාලය
මාහිමි, සඟරජ.
මැදිමියැමැ. (මැදිමියැමැ)
මධ්‍යම යාමයෙහි,
මැදිමාල, 'නැදිමාලයැ' යි
මෙකල ව්‍යවහෘත ග්‍රාමය.
මැදින්දින, (මැදිම්දින) (මපිමො
පිනි, මධුමොදිනි, බක්මස
පටන් දොළොස්වනමාසය.
මිච්ඡාජීවක පටිසෙධෙක වෙළිදා
නාදි රහිත ආචාරයෙන්ද,
වරදවූ ජීවිකායෙන්ද වැළැවීම
හා ප්‍රත්‍යය උපදවනපිණිස
මිනිස්හට ප්‍රයෝජන එළවන
හුණුදඬුදීම් ආදියෙන් තොරව
සුශීල භාවටයන් ද.
මිඩ් වැජැරේමක් හට්, මෙහෙ
කරන කෙල්ලන්ගෙ ප්‍රධාන
තැනැත්තියට.
මුළ, සමූහය, ආයතනය ,සංඝා
රාමය,
මෙක්නට් ,මෙකුන්ට.
මෙනෙහිකොට්, සිහිකොට
මෙලාට්සී , ම්ලෙච්ඡ.
මෙවෙහෙරට්, මේ විහාරයට.
මෙහෙයැ, කර්මාන්තයෙහි.
යට්ගලැ, යටගල්හි.
යාවකාදිවූ, යාවා (ජාවා) රට
වැස්සන් ආදිවූ.
රුස්වාගෙනැ, රුච්වූවාගෙනැ,
කැමැතිවූවා හැරගෙනැ.
ලක්දිව්, ලංකාද්වීපය.
ලහාග් අවුද්, (සලාකග්ගං ආ
ගන්නවා,) ශලාකාග්‍රයට
අවුත්.
ලෙකම්කරයි, ලේකම්කොට.

තාක් වැළඳියයුතුදැය.
යශොමරීචීන්, යශස් නමැති රශ්මීන්
යුක්ත ව්‍යක්ත ගුණොපෙතවැ, පැමිණි කටයුත්තෙහි දක්ෂ වූ ගුණෙන් යුක්තව.
යෙහෙන,හැකිවන,ශක්‍යවන්නාවූ
රක්ෂිත, රක්නාලද.
රජතමය, රිදීමුවා, රිදීයෙන් කරන ලද.
රජන්නම්, රජනකම්
රජ්ගෙ, රජගෙයි.
රජ්වැ , රාජ්‍ය පදප්‍රාප්තවැ.
රට්ලදුවක්හට්, රටලද්දකුට.
රසාසවාදයෙහි,රසය විඳැගැන් මෙහි.
රාජ්‍යසුඛානුභව කොට,රජසුව වළඳා.
රාණිවාසල,රජබිසවුන් වාසය කරන ප්‍රාසාදය.
රුවනසුන් මහබො මඟුලෙහි, රත්නාසන මහාබොධි මංගලයෙහි.
වළගම් අභා, වට්ටගාමිණී අභය.
වළා පිටකය.
වැට්තෙලට්, පහන්තෙල්පිණිස.
වැදැ,(වැදූ) විජායනය කළ.
වැළැනට, ඊළඟට,අනුව.
විරමණය, වෙන්වීම.
විලොපකාරිවූ ,වොලොගන්නාවූ විනාශයට පමුණුවන්නාවූ යන අන්ථියි.
විබෙව් ,වික්ෂෙප.
වීජෘම්භිතපුණ්‍යර්ඩි ඇති වැ, වැජඹුණු පිනින් සමෘඬවැ.
වජාරත්, විධාන කරන කල්හි,
වතබඳනා ,මුඛවඩම්.
වතුපැතැට් වැදැ, වාස්තු පඞ්ක්ති යට(වතුපිටිවලට) ප්‍රවේශවැ
වත්වේලා,වතාවත් කරන කාලය.
වත්හිමියන්, වාස්තු ස්වාමීන්, රට රක්නා රජ හෝ, ගණය රක්නා ගණදෙට මහතෙර මාහිමියන් හෝ.
වනපොත් කොට, වාචෝද්ගත කොට, පුහුණු කොට,පාඩම් කොට.
වනවළා, විනයපිටකය.
වප්සඳ් පුන්මස්හි,වප්මස ශුක්ල පක්ෂයෙහි.
වර්ධිත, වඩනාලද.
වජරක් ඇති අපරාධයෙක් ඇත් තේනම්.
වසග් ,වසුන් (?)
වහල් කොට, පිහිට කොට, පිළිසරණ කොට.

ශතසහස්‍ර, සියක්දහස්, (100,000) ලක්ෂය,
ශත්‍රුපඞක,සතුරන් නැමැති මඩ.
ශරණාන්වේශී වැ, ශරණගවේෂි වැ, පිහිට සොයන්නා වැ,
ශාසනමල, ශාසනයටවූ කිලුට,
ශාසනාවචර,ශාසනයෙහි හැසි රෙන.
ශාසනාභ්‍යුදයකාරී, ශාසනය අති ශයින් වර්ධනය කරන්නාවූ.
ශ්‍රඬාසම්පන්න කුලාදිගොචර යෙන්ද, සැදැගුණයෙන් කුල

විඳැ, (විඳැ) අනුභවකොට.
විනවා, විඥප්තිකොට, (අඟවා)
වියත්පිළී,විතානපට,වියත්රෙදි.
වියෝවැ, වියෝග වැ, වෙන් වැ.
විසභාග ,විරුද්ධ.
විසිනිය, පංචමී, පස්වැනි තිථිය.
විශෝධා, පිරිසිදු කොට,
විශොෂණයට, වියළීමට.
විහාරපරික්ෂෙපය,විහාරය අවට සීමාව.
වෙරින් එවි, ශරීර අවයවයෙන් හෝ,
වෙහෙර්දසුන්, විහාරදාශයන්.
වෙහෙර්ලෙයා, විහාරලෙඛකයා.
වොළොගන්නා, පැහැරගන්නා.

සංඝ පරිණායකතැන්, පරිසුප ධ්‍යාපක බහුශ්‍රැත ධර්මවිනය ධර ධර්මානුධර්මප්‍රතිපන්න සථවිර.
සංග්‍රාමභූමි, යුද්ධභූමි.
සංඝදර්ශනප්‍රභව, සංඝයාගේ දැක්මෙන් උපන්.
සංඝසාමග්‍රිය, සංඝයාගේ සමගිය.
සංඝඝනොවැ, අමිශ්‍රව.
සංචොදිතහෘදය ඇතිවැ, මොනවට චොදනා කරනලද (මෙහෙයනලද)ළඇතිවැ. (සිත් ඇතිවැ,)
සතරකමටහන්, චතුර්විද කර්මසථාන සාවක, බුද්ධානුස්සති මෙත්තාව අසුභං මරණස්සති, ඉතිමා චතුරාරක්ඛා යන් ඇසුරුකිරීම් ආදි යායුතු තැන් ආශ්‍රයකිරීමෙන්ද.
ශ්‍රද්ධාදෙය විනිපාතයෙන් ශ්‍රද්ධායෙන් දුන්දෙයෙහි වටිනාකම නොගෙන දීමෙන්.
ශ්‍රැතසන්නිචයවැ, ඇසූ ඇසූදේ රැස්කොට ගැන්මෙහි නියුක්තව.
සඟ්මැදැ ,සංඝ මධ්‍යයෙහි.
සඟ්නට් ,සඟනට, සංඝයාවහන්සේසේට.
සඟ්සමැගින්, සංඝයා වහන්සේ හා එක්වැ.
සංවාස සම්භොග, එක කර්ම එකුද්දෙස සම සික්ඛා ඇතිබැවි හා සිවුපස භොගය හා ධර්මය පිළිබඳ භොගය.
සපරිවාර, පිරිවර සහිතවූ.
සබ්‍රම්සරුන්ට,බ්‍රහ්මචර්‍යාදි ශීලයෙහි පිහිටිසමානභික්ෂූන්ට
සමජැය්, සමානජාති ඇති, සවර්ණවූ.
සමඟ නොකොටගතහුණු, සාමග්‍රකරගත නොහැකිවූ.
සමු අවසර.
සමුපෙතව, යුක්තවැ.
සමුල්ලාසයට, බැබළවීමට.
සරක් දෙයාලක්,සරක්ගැළතුම් දෙකක්.
සරුප්වෙලෙවියකින් මැ, සාරූප්‍යවූ (සුදුසුවූ) යුහුසුලු ගමනකින්මැ.
සසැඳැ, සංසන්දනය කොට.
සහස්‍රසංඛ්‍යාතික්‍රාන්ත, දහස් ගණන් ඉක්මුණු,

(භික්ඛුභාවෙය්‍ය සීලවා)'යි දක්වනලද සියු අරක්,
සතිසම්පජඤ්ඤයෙන්, ස්මෘති සම්ප්‍රඥයෙන්,('චතුසම්පජඤ්ඤ' නම්වූ ග්‍රන්ථය බලාවිස්තර දතයුතු,)
සත්ලැහු,ඡත්‍රොල්ලංඝනයකළ, ජේසත් නැහු.
සඩිවිහාරික , උපාධ්‍යයයන්වහන් සේ සමග වසන.
සන්තතීන් , පරම්පරායෙන්.
සන්තිකාවචර, වෙත හැසිරෙන,
සන්නිපතිත,රැස්වූ.
සිකකරරණීහි, සිඛකරණී නම් ග්‍රන්ථයෙහි.
සිකුරා මුදල්පොතුන්, සිකුරා නම්වූ මුදළිතැන්.
සියුඅරක්, 'බුඩානුස්සති' යනාදීන් දක්වනලද සතර කමට හන්.
සිරිත්නීජ, චාරිත්‍රයෙනුදු.
සිරිබර්, ඓශ්වර්‍ය්‍යභාර ඇති.
සිරිසඟ්බොය් අබහය් මහරජ්හු,
සීනැරට, සීනාකෝර්රළේ.
සූතත්වළා, සූත්‍රාන්ත පිටකය.
සූපනැස් , පනස්සතර (54)
සෙමෙහි තබාලූ, නිරවුල්කොට තබාලූ.
සාතිශය, ඉතා අධිකවූ.
සාධිතවූ, සාදනලද, ඇතිකළාවූ.
සාමඤ්ඤ්‍ය, සමඤ්ඤභාවය.
සාලවනොද්‍යානයෙහි, සල්වන උයන්හි.
සෙවරිවාස, සියකැමැත්තෙන් විසීම.
සාහා . සාධා.
සැගොවුවන් ,චෛත්‍යරක්ෂක යන්.
සෙය්ගිරි වෙහෙර්හි ඉසා,වෙතීය ගිරි විහාරයෙහි දු.
සොම්නස් මහබො මඟුලෙහි, සොමනස්ස මහාබොධි මංගලයෙහි.
හදූරා, සජ්ඣයනා කොට.
හම්බු, (හඹු) කැඳ.
හසින්, මුද්‍රායෙන්.
හස්කරුපරපුරෙන් වැටෙන,ශෂ්‍යකාර පරම්පරායෙන් පවත්නා.
හස් කොට්,මුද්‍රාකොට.
හුදු, කෙවල , තනි.
හෙරණනුදු, සාමණේරයනුත්.
හෙළ්මල්, එළමල් , (පුෂ්පවිශෙෂයක්).
ළිහිණිය පවුයෙහි, ළිහිණිය ගල.